ශ්‍රී ගඳානාරාම ස්වාමීන්ද්‍ර අනුස්මරණ ග්‍රන්ථ මාලා -අංක 11



# මහා-සී විපස්සනා භාවනා ක්‍රමය

බුරුම ජාතික

අතිපූජ්‍ය මහා-සී සයාඩෝ

ස්වාමීන් වහන්සේ විසින්

බුරුම බසින් රචනා කරන ලද

## විපස්සනා නයප්පකරණය

නම් භාවනා ග්‍රන්ථයේ සිංහල පරිවර්තනය

## පළමුවන කොටස

පළමුවන කාණ්ඩය (පරිච්ඡේද අංක 1 සහ 2)

පරිවර්තනය

පූජ්‍ය උඩඊරියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ

පරිවර්තන සහාය

බුරුම ජාතික පූජ්‍ය උ. අග්ගඤාණ ස්වාමීන් වහන්සේ

ප්‍රකාශනය

අමා දම් සංගමය

විපස්සනා භාවනා මධ්‍යස්ථානය,

දික්හේන, පොල්ගස්ඕවිට. 10320, දුරකථනය: 011-2780140

"සබ්බ දානං ධම්ම දානං ජිනාති"

(සියලු දානයන් පරදා ධර්ම දානය ජයගනී)

උතුම් ධර්මදානයක් ලෙස පිළිගන්වන්නේ බැතියෙනි.



Lithira

# මහා-සී විපස්සනා භාවනා ක්‍රමය

බුරුම ජාතික
අතිපූජ්‍ය මහා-සී සයාඩෝ
ස්වාමීන් වහන්සේ

ප්‍රථම මුද්‍රණය
ශ්‍රී. බු. ව. 2546 ව්‍ය. ව. 2003

දෙවන මුද්‍රණය
ශ්‍රී. බු. ව. 2554 ව්‍ය. ව. 2010

මුද්‍රණය

Lithira ලිතිර Printing Industries
306, ඇඹුල්දෙණිය හංදිය,
නුගේගොඩ.

lithira2008@yahoo.com

0718152131,0114921309



අපවත් වී වදාළ,

ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රම සංස්ථාවේ ප්‍රධානාචාර්ය,

මීතිරිගල නිස්සරණ වන ආරණ්‍යයේ ප්‍රථම සේනාසනාධිපති,

කර්මස්ථානාචාර්ය, මහෝපාධ්‍යාය, අතිපූජ්‍ය

මාතර ශ්‍රී ඥානාරාමාභිධාන මාහිමිපාණන් වහන්සේට

සහ

ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රම සංස්ථාවේ

ගරු සමුත්පාදක හා ප්‍රධාන අනුශාසක,

ගල්දූවේ ශ්‍රී ගුණවර්ධන යෝගාශ්‍රම මධ්‍යස්ථානාධිපති,

රාජකීය පණ්ඩිත, අතිපූජ්‍ය

කඩවැද්දුවේ ශ්‍රී ජිනවංශාභිධාන මාහිමිපාණන් වහන්සේට

ප්‍රාප්තිදාන පිණිස

ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රම සංස්ථාවේ ප්‍රධාන අනුශාසක,

ත්‍රිපිටකාචාර්ය, කම්මට්ඨානාචාර්ය

අතිපූජ්‍ය නා උයනේ අරියධම්ම ස්වාමීන් වහන්සේට

"මහා-සී විපස්සනා භාවනා ක්‍රමය"
(විපස්සනා නයප්පකරණය)

නම් වූ මෙම ග්‍රන්ථය

සාතිශය ගෞරවයෙන් පිළිගැන්වෙයි.




ဗုဒ္ဓသာသနာနုဂ္ဂဟအဖွဲ့ချုပ်
မဟာစည်သာသနာ့ရိပ်သာ
အမှတ်-၁၆၊သာသနာ့ရိပ်သာလမ်း၊ဗဟန်းမြို့နယ်၊ရန်ကုန်မြို့။

ဖုန်း - ၅၄၅၉၁၈
၅၄၁၉၇၁
ဖက်စ် - ၂၈၉၉၆၀
၂၈၉၉၆၁
သံကြိုးလိပ်စာ၊မဟာစည်

**Buddha Sāsana Nuggaha Organization**
**MAHASI SĀSANA YEIKTHA**
16, Sāsana Yeiktha Road, Yangon.(MYANMAR)

Phone: 545918
541971
Fax-No. 289960
289961
Cable: MAHĀSI

Email - Mahasi-ygn@mptmail.net.mm


Date 8th August, 2002

## To Whom it may concern

Mahāsi Meditation Centre Yangon, Myanmar, has no objection to the publication of the late Venerable Mahāsi Sayādaw's book intitled Vipassanā Shuni Kyan ( The Method of Vipassanā Meditation) translated by the Venerable Dhammajiva of Sri Lanka to be published in the Sinhalese Version.



( U Tin Wan )
The President
Buddha Sāsana Nuggaha Organization
Mahāsi Sāsana Yeiktha
Yangon Myanmar.



## හැඳින්වීම I

ශාන්ත නිවන් සුව මේ ජීවිතයේදීම ලබනු කැමතියන්ට සප්ත විශුද්ධි ක්‍රමයෙන් සුවසේ නිවනට පැමිණෙනු පිණිස, සතර සතිපට්ඨාන විදර්ශනා භාවනාව මුල පටන් වඩන ආකාරය අනුපිළිවෙළින් දක්වමින්, බුරුම රට අතිපූජ්‍ය අග්ගමහා පණ්ඩිත භදන්ත ඌ, සොභන මහා-සී සයාඩෝ නායක මාහිමියන් වහන්සේ විසින් බුරුම බසින් සම්පාදිත "විදර්ශනා භාවනා ක්‍රමය" නම් මහා ග්‍රන්ථයේ 5 වෙනි කාණ්ඩයෙහි භාවනා මනසිකාරය කරන පිළිවෙළ විපස්සනා භාවනා ක්‍රමය නමින් සිංහල බසින් මුද්‍රණය කරවා භාවනාභිලාෂීන් වෙත මෙසේ ධර්මදාන වශයෙන් බෙදා දෙනු ලැබේ.

ගාල්ලේ වැකුණුගොඩ, බෝපේ ධර්මායතනාධිවාසී අතිපූජ්‍ය යූ. ඤාණිඳ සෙයාඩෝ මාහිමියන් වහන්සේගේ සදුපදේශ ඇතිව, දියතලාවේ කහගොල්ලේ ශ්‍රී ඥානාරාම විවේකාශ්‍රමයේදී සහ මාතර කැකණදුර, උතුරු තලල්ලේ ශාන්ති ආශ්‍රමයේදී මේ භාවනා පොත සිංහලට පරිවර්තනය කරන ලදී.

බුරුම බසින් ලියන ලද "විදර්ශනා භාවනා ක්‍රමය" මහා ග්‍රන්ථයේ සම්පාදක අග්ගමහා පණ්ඩිත භදන්ත ඌ-සොභන මහා-සී සයාඩෝ නායක මාහිමියන් වහන්සේ වනාහි මෑත භාගයේ බුරුම රට විසූ ආරණ්‍ය වාසී අභිඥාලාභී රහත් පරපුරෙහි දූනට වෙසෙන ශ්‍රේෂ්ඨ කර්මස්ථානා-චාර්යයන් වහන්සේ නමකි. සම්බුද්ධ ජයන්ති ත්‍රිපිටක ධර්ම සංගායනාවේ පඤ්හපුච්ඡක ස්ථානාන්තරය දැරූ මහාසී නායක මාහිමියන් වහන්සේ අතින් අංග සම්පූර්ණ විශුද්ධිමාර්ග මහා ටීකා සන්නය, මහා සතිපට්ඨාන සූත්‍ර සන්නය, සබ්බාසව සූත්‍ර සන්නය, වත්ථූපම සූත්‍ර සන්නය, ප්‍රතිපත්ති ශාසන ඉතිහාසය යනාදී සම්භාවනීය ග්‍රන්ථ 24ක් සැපයූ අත්‍යුත්තම ග්‍රන්ථ කර්තෘන් වහන්සේ නමකි.

මහා සී නායක මාහිමියන් වහන්සේ විසින් පුහුණු කරවනු ලබන මේ සතිපට්ඨාන විදර්ශනා භාවනා ක්‍රමය බුරුමය-සියමය-ලංකාව-දඹදිව හා කාම්බෝජ යන රටවල ව්‍යාප්තව පවතී. ඉන්දියාවේ සහ කාම්බෝජයේ ස්වල්ප වශයෙන් මෙය පැතිර ඇත. ලංකාවේ කඳුබොඩ භාවනා මධ්‍යස්ථානය ප්‍රධානව ශාඛා ස්ථාන 30ක මේ ක්‍රමය පුහුණු කරනු ලැබේ. දසදහසකට වැඩි පිරිසක් භාවනා පුහුණු වී සිටිති. සියම් රට භාවනා මධ්‍යස්ථාන 300 පමණ ඇත. යෝගාවචරයෝ ලක්‍ෂයකට අධිකය, බුරුම රට වනාහී භාවනා මධ්‍යස්ථාන 367කි. පුහුණු යෝගාවචරයෝ හයලක්‍ෂ පණස් එක් දහස් හයසීයකට අධික වෙති.

සසර දුකින් මිදී නිවන් සුව ලබනු පිණිස, භාවනා වඩනු කැමතියනට උපකාර පිණිස අතිපූජ්‍ය මහා සී නායක හිමියන් වහන්සේගේ භාවනා ග්‍රන්ථයෙන් පරිවර්තනය කරන ලද මේ විපස්සනා භාවනා ක්‍රමයේ යම් පරිවර්තන දෝෂයක් ඇත්නම් එය අප වෙතය. මේ භාවනා ක්‍රමය පිළිබඳ සියලු ගෞරවය අතිපූජ්‍ය මහා සී නායක මාහිමියන් වහන්සේ වෙත පත් වේවා!.

පොත පරිවර්තනය කිරීමෙහි සම්පූර්ණ සහාය දී වදාළ අතිපූජ්‍ය ආචාර්ය යූ. ඥාණින්ද සයාඩෝ මාහිමියන් වහන්සේටත් මෙය අනුමත කොට වදාළ මීතිරිගල නිස්සරණ වන ආරණ්‍ය සේනාසනාධිපති අතිපූජ්‍ය පණ්ඩිත මාතර සිරි ඥානාරාමාභිධාන මහෝපාධ්‍යාය මාහිමිපාණන් වහන්සේටත්, ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රම සංස්ථා සමුත්පාදක අතිපූජ්‍ය රාජකීය පණ්ඩිත කඩවැද්දුවේ ශ්‍රී ජිනවංශාභිධාන මාහිමිපාණන් වහන්සේටත් භක්ත්‍යාදර ගෞරව නමස්කාර පූජා වේවා!.

මෙය පිටපත් කිරීමෙහි සහාය වූ පූජ්‍ය මාතලේ ධම්මින්ද, පූජ්‍ය මිරිහානේ නන්ද, පූජ්‍ය නා උයනේ අරියඥාණ යන ආයුෂ්මතුන් වහන්සේලාටත්, පොත මුද්‍රණය කරවීමෙහි උද්‍යෝගයෙන් සියලු කටයුතු වල යෙදුණු ගාල්ලේ-වංචාවල මීගොඩ "රණගිරි" නිවැසි පින්වත් ඩබ්ලිව්. රණසිංහ මහත්මයාටත් අපේ කෘතඥතාවය පිරිනැමේ.

ධර්ම දානයෙහි අනුසස් දන්නා ශ්‍රද්ධා බුද්ධි සම්පන්න සත්පුරුෂ මණ්ඩලයක් විසින් මේ පොත මුද්‍රණය කිරීමේ සියළුම වියදම් දරණ ලදී. පුණ්‍යකාමී ඒ සැමදෙනාටම මේ ධර්මදානමය මහ පින මගපල නිවන් සුව පිණිසම හේතු වේවා. වාසනා වේවා!.

**"ආරභථ නික්ඛමථ-යුඤ්ජථ බුද්ධ සාසනෙ**
**ධුනාථ මච්චුනො සෙනං - නළාගාරං ව කුඤ්ජරො"**

"බුද්ධ ශාසනයෙහි ආරම්භ ධාතු වීර්‍ය්‍යය කරව්, නික්ඛම ධාතු වීර්‍ය්‍යය කරව්, පරාක්‍රම ධාතු වීර්‍ය්‍යය කරව්. බට ගෙයක් නසන ඇත් රජෙකුසේ, කෙලෙස් මර සෙනඟ වනසා දමව්"

මේ භවයේදීම අනුසස් ලබනු පිණිස සියල්ලෝම භාවනා වඩත්වා!

මෙයට මෙතැති,
**නා උයනේ අරියධම්ම ස්ථවිර.**

ගුණවර්ධන යෝගාශ්‍රම මධ්‍යස්ථානය,
ගල්දූව - අම්බලන්ගොඩ.
1980-05-05

**මෙම හැඳින්වීම ප්‍රථම මුද්‍රණයෙන් උපුටා ගන්නා ලද්දක් බව කරුණාවෙන් සලකන්න.**



## හැඳින්වීම II

ශ්‍රී ලංකාවේ අග්‍රගණ්‍ය යෝග භූමියක් වන මීතිරිගල නිස්සරණ වන ආරණ්‍යයේදී පැවිදි උපසම්පදා ලාභීව, බුරුම රට පණ්ඩිතාරාම භාවනා මධ්‍යස්ථානයේ පුරා තෙවසරකට අධික කාලයක් නැවතී මහා සී සතිපට්ඨාන භාවනා මාර්ගයෙහි පූර්ණ අධ්‍යයනයත් බුරුම භාෂා කුශලතාවත් රැගෙන සියරට සැපත් වී මීතිරිගල නිස්සරණ වන ආරණ්‍යයෙහි වර්තමාන කර්මස්ථානාචාර්යව සසුන් පිළිවෙත - නිවන් මග ආලෝකවත් කිරීමෙහි උද්‍යෝගිමත්ව වැඩ වෙසෙන පූජ්‍ය උඩර්රියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ මහා සී සතිපට්ඨාන භාවනා මහා ග්‍රන්ථය මෙසේ පරිවර්තන ශීර්ෂයෙන් සම්පාදනය වීම භාවනාභිලාෂී සාධූන්ගේ අමන්දානන්දනයට හේතුවනු ඒකාන්තය,

මහා-සී සතිපට්ඨාන විපස්සනා භාවනා මහා ග්‍රන්ථය බුරුම බසින් සිංහලට පරිවර්තනය කළ පූජ්‍ය උඩර්රියගම ධම්මජීව ස්වාමීන් වහන්සේටත් සහාය වූ බුරුම ජාතික පූජ්‍ය අගගඤ්ඤ ස්වාමීන් වහන්සේටත් ආයුරාරෝග්‍ය සම්පත් හා පැතූ බෝධියෙන් අග්‍ර නිර්වාණ ධාතුවත් සාක්ෂාත් වේවා!.

සම්භාවනීය මේ මහා ග්‍රන්ථය මුද්‍රණය කරවා ධර්මදාන ශීර්ෂයෙන් පිරිනැමීමට ඉදිරිපත් වූ පරිත්‍යාගශීලී පින්වත් සී. එස්. හෙයියන්තුඩුව ගුරු මාතාව ඇතුළු සැමදෙනාටත් ධර්ම ඥාන, භාවනා ඥාන මුදුන් පත් වී පැතූ බෝධියෙන් අග්‍ර අමා මහා නිවන් සුව සාක්ෂාත් වේවා!.

සමථ විපස්සනා භාවනා මාර්ග දෙකෙහිම මුදුනට පත්ව, ධර්මයටම ජීවිතය පරිත්‍යාග කොට ධර්මකාමීව ධර්මාභිවෘද්ධිය පිණිස කටයුතු සැලසීමෙහි අප්‍රමාදී වූ සත්ගුණවත් කමල් ඇඹුල්දෙනිය මහත්මාණන් අතින් මේ මහා ග්‍රන්ථය මුද්‍රණය වීම අති මහත් ශාසන සංග්‍රහයකි. එතුමා ප්‍රධාන පවුලේ සැමටත් දෙලොව සුබ සෙතත් ශාන්ත අමාමහ නිවන් සුවයත් සාක්ෂාත් වේවා!.

සතිපට්ඨාන විපස්සනා භාවනා මාර්ගය අනුගමනය කරනු කැමති සැමට මෙය රන් රුවන් පිරි ධන නිධානයක්ම වැනි වේවා. බෞද්ධාබෞද්ධ සැමදෙනා උද්‍යෝගයෙන් සතිපට්ඨාන විපස්සනා වඩා සුමිහිරි නිවන් සුවයෙන් සුවපත් වෙත්වා!.

මෙයට මෙතැති,
**නා උයනේ අරියධම්ම ස්ථවිර,**

නා උයන ආරණ්‍ය සේනාසනය,
පන්සියගම. 2003-05-05



## පරිවර්තක ස්වාමීන් වහන්සේගේ පෙරවදන

මෙම කෘතිය වූ කලී අතිපූජනීය මහා-සී සයාඩෝ ස්වාමීන් වහන්සේගේ කුළුඳුල් මෙන්ම වැදගත්වූත් ශ්‍රේෂ්ඨතමවූත් කෘතිය යැයි කෙළින්ම හඳුන්වාදිය හැක්කේය.

බුද්ධ ජයන්තියත් සමඟ ලංකා ශාසනයෙහි සිදු වූ වඩා වැදගත්ම පෙරළිය වශයෙන් සැලකිය යුත්තේ කලක් යටපත් ව තිබූ විදර්ශනා භාවනාව නැවතත් ඉස්මතු වීමයි. මේ සම්බන්ධයෙන් සමකාලීන ශාසන කෙතෙහි භාවනා විෂයෙහි දැවැන්තයෙකුව වැඩ සිට අපවත් වී වදාළ අස්මදාචාර්‍ය අතිපූජ්‍ය මාතර ශ්‍රී ඥානාරාම මහෝපාධ්‍යාය ස්වාමීන් වහන්සේ තම " විදර්ශනා පරපුර" නම් වූ මාහැඟි පොතේ මෙසේ අපූරු සටහනක් තබා ඇති සේක. එයද මෙයට පෙරවදනක් මෙන්ය.

"දෙදහස් පන්සියයේ බුද්ධ ජයන්තිය බෞද්ධ පිරිසේ උනන්දුවට හේතු විය. මේ උනන්දුවෙන් නොමනා සැරසිලිවලට සිත යෙදූ පිරිසක් මෙන්ම වුවමනා ත්‍රිවිධ ශාසනික වැඩට සිත දුන් පිරිසක් ද වූහ. මේ පිරිස නිසා ලෝකයේ බොහෝ පැතිවල පැතිර ගිය භාවනා ව්‍යාපාරයක් උදා වූවේය. බුරුම භාවනාව යැයි මෙකල කථා කරන භාවනා වැඩ පිළිවෙළ ද බුරුම රට අතිසම්භාවනීය මහ තෙරුන් වහන්සේලාගේ මාර්ගයෙන් අපේ රටට ලැබුණු ප්‍රශස්ථ වූ විදර්ශනෝපදේශ සමූහයකි. විදර්ශනා භාවනා පරම්පරාව අඛණ්ඩව ගෙනගිය බුරුම පින්වතුන් වහන්සේලා ගිහි පක්ෂයට ද උගන්වමින් එය හොඳින් ගෙන යාමට නොපසුබටව උත්සාහය යෙදූහ.

.......අතිශයින් සාර්ථක භාවයක් මුල පටන්ම සලසා දෙන මේ භාවනා ක්‍රමය ශාසනානුලෝමික නොවේ, යැයි කියන සුළු පිරිසක් ඇත්තාහ. අධ්‍යාත්මික වැඩ පිළිවෙළක් වූ, භාවනාවක් පිළිබඳව එහි නොයෙදී විවේචනයක් කරන්නට යාම වැනි මෝඩකමක් කරන ඒ පින්වතුන් හට මොළය පෑදීමට කවර තරමේ උපක්‍රමයක් සුදුසු වේ දැයි අපට නම් සිතා

ගැනීම දුෂ්කරය. ඉසිමන් ඉවතලා මේ භාවනාවේ යෙදීමට ආරාධනා කරමු." (භාවනා උපදෙස් සහිත **විදර්ශනා පරපුර**-24 පිට).

මෙසේ වූ වටිනාකමක් ඇති විදර්ශනා භාවනා ක්‍රමය මුලින්ම ලොවට හඳුන්වා දුන් මෙම මහඟු පොත සම්පූර්ණයෙන්ම බුරුම බසින් ගල්පුවරුවල කොටා ආරක්ෂා කොට ඇතත් මෑතක් වන තුරුම වෙනත් කිසිම භාෂාවකට පරිවර්තනය නොවීම අරුම සිද්ධියකි. බුරුම පොත් නොයෙක් ලෙසින් පරිවර්තනය කොට ලාංකික යෝගාවචරයන් දිරිමත් කළ මෑතකදී අපවත් වී වදාළ මහා ගත්කතුවර අතිපූජනීය රේරුකානේ චන්දවිමල ස්වාමීන් වහන්සේද මේ පොත පරිවර්තනය කිරීම සම්බන්ධයෙන් නොයෙක් විට සටහන් තබා ඇතත් එය මේ තාක් ඉටු වූ බවක් දන ගන්නට නැත. මෙහි අත්‍යවශ්‍යය යැයි ගැනෙන පස්වන පරිච්ඡේදය පමණක් අතිපූජ්‍ය බුරුම ජාතික ඌ. ඤාණින්ද ස්වාමීන් වහන්සේගේ සහායෙන් අතිපූජ්‍ය නා උයනේ අරියධම්ම ස්වාමීන් වහන්සේ විසින් 1980 වර්ෂයෙහි සිංහලෙන් ලියා පළ කරවන ලදී. ඊට අමතරව අතිපූජනීය මහා-සී ස්වාමීන් වහන්සේගේ විවිධ ලිපි-ලේඛණ හා ධර්ම දේශනා සිංහල ඇතුළු විවිධ භාෂාවන්ට නැඟී ඇත. එමඟින් ප්‍රායෝගික අවශ්‍යතාවය පිරිමැසී ගියත් මුල් පොතෙහි සම්පූර්ණ පරිවර්තනයක් නොමැති වීම තවමත් අඩුවක්ම විය.

මෙම පරිවර්තන කෘත්‍යයේ යෙදී සිටින අපට වැටහී ගියේ ඉතිහාසමය වටිනාකමකුත් බුරුමයට තරම් නොවන ප්‍රමාණයේ විප්ලවකාරී චින්තනයකුත් මෙහි ගැබ් වී ඇති සැටියි. මෙම පොත ඒකාන්තයෙන්ම යුග පෙරළියක් ඇති කළ මහා කෘතියකි.

මුල් කෘතියේ දැක්වෙන ආකෘතිය එහි සම්භාවනීය වටිනාකමට දක්වන සැලකිල්ලක් ලෙස එලෙසින්ම මේ මඟින් එළි දක්වන්නෙමු. පූර්වකාලීන බුරුම මුද්‍රණවල උද්ධෘත පාඨ සඳහා මූලාශ්‍ර දැක්වීමේ එතරම් උත්සාහයක් යොදා ඇති බවක් නොපෙනුනත් මෑතකාලීන මුද්‍රණවල ක්‍රම ක්‍රමයෙන් ඒවා ඇතුළත් වී ඇති සැටියක් දක ගන්නට ඇත. ඉතා මෑතකදී ප්‍රකාශයට පත් කොට ඇති මෙහි පාළි පරිවර්තනයේ (බුරුම අකුරු මුද්‍රණයේ) මූලාශ්‍ර දැක්වීම අංග සම්පූර්ණව සිදු කොට ඇත. මෙම සිංහල පරිවර්තනයේ මූලාශ්‍ර දක්වා ඇත්තේ මධ්‍යස්ථ මට්ටමකටය. එසේම 1943 දී පමණ එළි දක්වා

ඇති බුරුම මුල් කෘතියේ මුලට එක්කොට තිබූ සංකේත විග්‍රහය එලෙසින්ම පරිවර්තනය කරන්නට යෙදුන මුත් සිංහල පොතේ එහි දැක්වෙන ප්‍රමාණයට වඩා සංකේත ප්‍රමාණයක් භාවිතා කොට ඇති බව මෙහිලා දක්වනු කැමැත්තෙමු. එසේ පරිවර්තනයේදී අමතරින් යොදා ගැනුන සංකේත නම්:

01. (..........) = වරහන්.

02. ; තිත් කොමාව = නිදසුන් ගෙනහැර පෑමේදී.

03. : විග්‍රහ ලකුණ = කාරණයක් විග්‍රහ කිරීමේදී.

04. - කෙටි ඉර = අසමාන අර්ථ ඇති වචන රචනයේ සමාන බරකින් යුක්තව යෙදෙන විට.

05. **කළු අකුරු** = පාළි වචන වෙන් කොට දැක්වීමේදී.

06. *ඇල අකුරු* = සිංහලට හුරු සමහරක් පාළි වචන එලෙසින්ම යොදන විට.

මෙම පරිවර්තනයේදී මුල් පොතේ අර්ථය හැකිතාක් දුරට යෝගාවචරයෙකුට ගැළපෙන ලෙසට ප්‍රයෝජනය සලකා මතු කරදීමට උත්සාහ ගතිමු. කෙතෙක් දුරට එය සාර්ථක වී දැයි මැනීමට තරම් තවමත් ඉක්මන් වැඩිය. කෙසේ නමුත් පරිවර්තනයේ අඩුපාඩු නැතැයි කාටනම් කිව හැක්කේද? එවන් දුෂ්කරතාවයක් පැන නඟින්නේ නම් අති පූජනීය මහාසී සයාඩෝ ස්වාමීන් වහන්සේගේ අනෙකුත් ලේඛන පොත්පත් සමඟ ගළපා බලා අඩුව පිරිමසා ගන්නා මෙන් කරුණාවෙන් මතක් කරමු. මේ පමණකින් හෝ මේ භාරදූර කර්තව්‍යය ඉටුකිරීමේදී උදව් උපකාර කළ සත්පුරුෂයන් වහන්සේලා කීප නමකි. එහිලා මුලින්ම, අපව බුරුම රටට ස්වකැමැත්තෙන්ම වැඩමවාගෙන ගොස් රට පෙන්නා, භාෂාව පිළිබඳව අත්පොත් තබා වටිනා ගුරුවරුන් හඳුන්වා දෙමින් වැදගත් මෙහෙවරක් කළ රාජකීය ඕවාදාචාර්‍ය, අග්ග මහා පණ්ඩිත, බුරුම ජාතික ඌ. ඤාණින්ද ස්වාමීන් වහන්සේ සිහිපත් කරන්නේ මෙයින් ජනිත අපමණ කුසලය ඔබ වහන්සේගේ පාමුල තබා පිළිගැන්වීමෙනි.

එසේම මෙම කටයුත්තේදි ළඟින් සිට උපකාර කළ බුරුම ජාතික ඌ. අගගඤාණ ස්වාමීන් වහන්සේගේ මෙහෙවරට ද ලක්වැසි යෝගාවචරයන් ණය ගැතිය. මෙම පොත මීට කලින් පරිවර්තනය විය යුත්තක්ව තිබූ බව කියමින් දිනපතා පැමිණෙමින් උන්වහන්සේ කළ මෙහෙය උදාර ශාසනික

මෙහෙයකි. මේ පොත සිංහලෙන් මුද්‍රණය කිරීම සඳහා අවසර ගැනීම පිණිස බුරුමයේ මහා-සී මධ්‍යස්ථානයේ වර්තමාන ලේකම් උ. ථෝ මින්ට් මහතා හමුවීමේදීත්, අදාළ ඡායාරූප සපයා ගැනීමේදීත්, අවසරය ලබාගැනීමේදීත් ඉතාමත් උනන්දුවෙන් කටයුතු කළ ආකාරය ආදර්ශවත්ය. එම ලේකම් මහත්මා විසින් එහිදී ලබා දුන් මෙහි පාළි පරිවර්තනය අවසාන සෝදුපත් බැලීමේදී මහෝපකාරී විය. උක්ත අවසරය ලබා දුන් මහා-සී මධ්‍යස්ථානයේ වර්තමාන අනුග්‍රාහක සංවිධානයට ද ස්තුතිවන්ත වෙමු.

විවිධ බුරුම භාවනා පොත් පරිවර්තනය කරමින් එළි දක්වමින් කටයුතු කරන අප අමාදම් සංගමයේ ප්‍රධාන අනුශාසක අතිපූජනීය නා උයනේ අරියධම්ම ස්වාමීන් වහන්සේ මෙම ක්‍රමය ලක් සසුනට හඳුන්වා දීම සඳහා මුලින්ම මෙම ග්‍රන්ථයෙහි පස්වන පරිච්ඡේදය පරිවර්තනය කොට එළි දැක්වූ අතර එහි අංග සම්පූර්ණ පරිවර්තනයක් වන මෙහිදී ද මුල්ම අත් පිටපත කියවා අනුමත කළ තැන් පටන් අවසාන වශයෙන් පෙරවදනකින් මෙම පොත සරසන තැන තෙක් කළ ශාසනික මෙහෙවර උදාරය. ශ්‍රී කල්‍යාණි යෝගාශ්‍රම සංස්ථාවේ සාමාජිකයන් සඳහා මෙම විදර්ශනා ක්‍රමය නොපැකිල අනුමත කරන්නේ "මාර්ග ඵල අධිගම ලාභීන් පහළ කරවමින් බුද්ධ ශාසනය ඒකාලෝක කිරීමට මෙය ඉවහල් වන බවට" කරන ශාසනික ශුභාශිංසනයක් ලෙසිණි. අමාදම් සංගමය වෙනුවෙන් පෙළ ගැසී සිටින අනෙකුත් අනුග්‍රාහකයන් අතරට පූජ්‍ය විලානගම පියරතන ස්වාමීන් වහන්සේ, පූජ්‍ය කිතුල්හිටියාවේ ධම්මගුත්ත ස්වාමීන් වහන්සේ, පූජ්‍ය මහයායේ ධම්මසුනෙත්ත ස්වාමීන් වහන්සේ, මෙහි පිටපත් කටයුතු කිරීමෙන් සෝදුපත් බැලීමෙන් සහාය විය. යෝගාවචර ලලිත් ජයවර්ධන මහත්මයා, විජිත කරුණාරත්න මහත්මයා, කලංසූරිය මහත්මයා ඇතුළු බොහෝ දෙනෙක් මෙම කටයුත්තෙහි ලා එක්වූහ. මෙතෙක් අමාදම් සංගමය මඟින් මුද්‍රණය කළ පොත්වල යෙදූ අකුරු වලට වඩා පැහැදිලි අකුරු වර්ගයක් මෙම පොතට යොදන්නට ලැබීම කියවන්නාට පහසුවක් වනු ඇත.

මුල් බුරුම පොතත් එහි පාළි පරිවර්තනයත් කාණ්ඩ දෙකක් ලෙස එළිදක්වා ඇති මුත්, නොයෙක් කරුණු සලකා බලා අමාදම් සංගමය විසින් එය කුඩා පොත් (කොටස්) හතරක් ලෙස ප්‍රකාශ කරන්නට ඉතිරි කොටස් කාණ්ඩ කිහිපයකින් ද මුද්‍රණය කොට යෝගාවචරයන් වෙත පිළිගන්වන ලදී. ප්‍රථම මුද්‍රණය සඳහා සත් ගුණවත් සී. එස්. හෙයියන්තුඩුව ගුරු මාතාව

විසින් බරපැණ දැරීය. එතුමියට නිදුක් නිරෝගී සුව සම්පත් ලැබ නිවනින් සැනසීම ලැබේවා!

ශ්‍රී සද්ධර්මය නිතර අසමින්, කියවමින්, ප්‍රගුණ කරමින්, ධර්ම දානමය පිරිනමමින් ධර්මයෙහි සිත් අලවා ධර්ම රසය විඳින්නා වූ ඔස්ට්‍රේලියාවේ පදිංචිව සිටින සත් ගුණවත් චිත්‍රානන්ද අමරසිරි මහත්මා සහ චින්තා අමරසිරි මහත්මිනි විසින් දෙවන වරට මුද්‍රණය කොට මෙසේ ධර්ම දානමය ප්‍රධානය කෙරෙනුයේ ඉමහත් ශ්‍රද්ධාවෙනි. මෙම ධර්ම දානමය කුසල් බලයෙන් හා රත්නත්‍රයේ අනන්ත ගුණානුභාව බලයෙන් චිත්‍රානන්ද අමරසිරි මහත්මාගේ දෙමාපියන් දෙපලත්, චින්තා අමරසිරි මහත්මිනිගේ දෙමාපියන් දෙපල ඇතුලු පවුලේ සැමටත්, ආයුරාරෝග්‍යාදී ශ්‍රී සම්පත් අභිවර්ධනය වේවා! සමෘද්ධ වේවා! දෙලොව සුබසෙතත්, ශාන්ත නිවන් සුවයත් අත්වේවා! යි ඉතසිතින් ප්‍රාර්ථනා කරමු.

මුද්‍රණ කටයුතු සුපුරුදු පරිදි මෙහෙය වූ කමල් ඇඹුල්දෙණිය මහතාත් 'ලිහිර' හි කාර්ය මණ්ඩලයත් මෙහිදී ඉතා හොඳ මෙහෙවරක් ඉටු කරන්නට යෙදුණේ, අතර වාරයේ පැමිණි විවිධ බාධා මධ්‍යයේ ය. එම සියලුම පරිශ්‍රමයන් තව තුවත් ධර්ම ඥාණය පිණිසම හේතු වේවා! යි පතමු.

වසර ගණනාවක් තුළ ක්‍රම ක්‍රමයෙන් හැඩ ගැසෙමින් ගලාගිය මෙම පුණ්‍ය කටයුතු ප්‍රවාහය තුළින් අප රැස් කරගත් යම්තාක් කුසල් සම්භාරයක් වේද එය අම්මා-අප්පච්චී ඇතුළු සියලුම අභාවප්‍රාප්ත ඥාතීන්ටත් අත්වේවා! ධර්මය සැනසීම උදාවේවා! සියලුම ආචාර්ය උපාධ්‍යායයන් වහන්සේලාටත් අත්වේවා! හිතවත් මැදහත් අහිතවත් යන සියලු සත්ත්වන්ටත් අත්වේවා! සියලු දෙනාගේ සියලු ආකාර සම්‍යක් ප්‍රයත්නයෙන් ලක්දිව බුදු සසුන බැබලේවා! යි පතන්නේ මෛත්‍රියෙනි.

උ. ධම්මජීව භික්ෂුව
නිස්සරණ වනය,
මීතිරිගල.

**බු. ව. 2554 ක් වූ**
**වප් මස පුර පසළොස්වකදා.**

# ග්‍රන්ථ සංකේත නිරූපණය

| | | | | | |
|---|---|---|---|---|---|
| පා. පා. | - | පාචිත්තිය පාළි | - | බු. ජ. |
| ම. නි. | - | මජ්ඣිම නිකාය | - | " |
| අං. නි. | - | අංගුත්තර නිකාය | - | " |
| සං. නි. | - | සංයුත්ත නිකාය | - | " |
| ඛු. නි. | - | ඛුද්දක නිකාය | - | " |
| සු. නි. | - | සුත්ත නිපාතය | - | " |
| පම. | - | පටිසම්භිදා මග්ග | - | " |
| පු. ප. | - | පුග්ගල පඤ්ඤත්ති | - | " |
| ම. අ. | - | මජ්ඣිම නිකාය අට්ඨකථා | - | ස. හේ. |
| පු. ප. | - | පුග්ගල පඤ්ඤත්ති | - | " |
| අං. අ. | - | අංගුත්තර නිකාය අට්ඨකථා | - | " |
| සං. අ. | - | සංයුත්ත නිකාය අට්ඨකථා | - | " |
| දී. නි. අ. | - | දීඝ නිකාය අට්ඨකථා | - | " |
| ධ. අ. | - | ධම්මපද අට්ඨකථා | - | " |
| වි. ම. | - | විසුද්ධි මග්ග | - | " |
| විභ. අ. | - | විභංග අට්ඨකථා | - | " |
| මහා ටී. (සි) | - | මහා ටීකා සිංහල අකුරු | - | සි. අ. |
| මහා ටී. (බු) | - | මහා ටීකා බුරුම අකුරු | - | බු. අ. |

| | | |
|---|---|---|
| බු. ජ. | - | බුද්ධ ජයන්ති මුද්‍රණය |
| ස. හේ. | - | සයිමන් හේවාවිතාරණ මුද්‍රණය |
| සි. අ. | - | සිංහල අකුරු |
| බු. අ. | - | ඡට්ඨ සංගීති බුරුම අකුරු මුද්‍රණය |

මූලාශ්‍ර දැක්වීමට මෙම ග්‍රන්ථයෙහි යොදා ඇති කෙටි ක්‍රමය මෙසේය:
[*ග්‍රන්ථ සංකේතය / ග්‍රන්ථ කාණ්ඩය / පිටු අංකය*]

උදා: [සං. නි. 4/32] යනුවෙන් දැක්වෙන්නේ, සංයුක්ත නිකායෙහි 4 වන කාණ්ඩයෙහි 32 වන පිටුවය.

අදාළ ග්‍රන්ථය කාණ්ඩවලට බෙදා නැත්නම්, [*ග්‍රන්ථ සංකේතය/පිටු අංකය*] වශයෙන් දැක්වෙනු ඇත.

උදා: [වි. ම. 331] [විසුද්ධි මග්ග : 331 පිට]

# පටුන




ගත් කතුවර අපවත් වී වදාළ අති පූජනීය මහා සී සයාඩෝ ස්වාමීන් වහන්සේ



# නිදානය

නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස ///

**අප්පමාදො අමතංපදං - පමාදො මච්චුනො පදං** [ඛු. නි. 1/30]

අමතක නොවන සුළු බව අමරණීයත්වයට හේතුවයි.

අමතක වන සුළු බව, ප්‍රමාදය, මරණයට කාරණයයි.

මේ උතුම් බුද්ධ අනුශාසනාව පිළිගන්නා වූ අදහන්නා වූ ඕනෑම කෙනෙක් මරණය දුරු කරලීමට කැමති වන්නේ නම් මරණයට බිය වන්නේ නම්, අමතක නොකිරීම = එළඹ සිටි සිහිය ඇති බව = සතිය නම් වූ අප්‍රමාද ධර්මය ගෞරවයෙන් වැඩිය යුතුවේ.

මේ අප්‍රමාදය වඩන්නේ නම්,

**හන්දදානි භික්ඛවෙ ආමන්තයාමි වො, වයධම්මා සංඛාරා, අප්පමාදෙන සම්පාදෙථ**

"මහණෙනි! තොප දැන් අමතන්නෙමි. සංස්කාර ධර්මයෝ නැසෙන සුළුය. අප්‍රමාදී ව සතිමත් ව සීල, සමාධි, ප්‍රඥා ශික්ෂාවන් සම්පාදනය කරව්" යන අවසාන වතාවට කරන ලද මේ බුද්ධ අනුශාසනාව ද ගෞරවයෙන් අනුගමනය කළා වන්නේය. කරුණු මෙසේ හෙයින් මහා පරිනිර්වාණයට ළංවී ත්‍රිපිටකයේ සාරය පිඩු කොට දැක්වීමක් වශයෙන් අවවාද කරන ලද අනුශාසනයට ගෞරව කරන්නා වූ ඕනෑම කෙනෙක් අප්පමාද ධර්මය ගෞරවයෙන් වැඩිය යුතුවේ. ඉන් නොනැවතීඃ- අප්පමාදය හා සතිපට්ඨානය හුදු සතියටම නමක් වන නිසා අර්ථය වශයෙන් ද සම වේ. එම නිසා අප්පමාදය වඩන්නා වූ පුද්ගලයා

**"යෙසං කෙසඤ්චි භික්ඛවෙ චත්තාරො සතිපට්ඨානා ආරද්ධා ආරද්ධො තෙසං අරියො අට්ඨංගිකො මග්ගො සම්මා දුක්ඛක්ඛයගාමී"** [සං. නි. 5-1/322]

"මහණෙනි! සතර සතිපට්ඨානය භාවනා කොට නිම කළා වූ තැනැත්තේ නියම දුකෙහි කෙළවරට පමුණුවන්නා වූ ආර්ය අෂ්ටාංගික මාර්ගය නිම කළා වන්නේය." යන මේ අනුශාසනය අනුව මාර්ග-ඵල-

නිර්වාණය ද ලබාගත හැක්කේය. එහෙයින් කරුණු මෙසේ මාර්ග-ඵල - නිර්වාණය ලබාගැනීමට අපේක්ෂා කරන පුද්ගලයන් ප්‍රාර්ථනා කිරීම පමණකින් සතුටු වී සිටිනු නොමැනවි. අප්පමාදය=සතිපට්ඨානය වැඩීමේ කටයුතු සපුරා ගැනීම සඳහාම යුහුසුළුව උද්යෝගයෙන් උනන්දු විය යුතු.

මෙපමණකුදු නොව.

**චතුන්නං ඛො බ්‍රාහ්මණ සතිපට්ඨානානං භාවිතත්තා බහුලීකතත්තා තථාගතෙ පරිනිබ්බුතෙ සද්ධම්මො චිරට්ඨිතිකො හොති"** [සං. නි. 5/310]

බ්‍රාහ්මණය, සතිපට්ඨාන සතර ආචාර්ය-ශිෂ්‍ය සම්බන්ධතා නොසිඳ වඩන්නේ නම්, බොහෝ කොට පුහුණු කරන්නේ නම් සත්පුරුෂ ධර්මය නම් වූ මේ ශාසනය බුදුරජාණන් වහන්සේගේ පරිනිර්වාණයට පසුව ද දිගුකලක් තහවුරුව පැවැතිය හැක්කේය.

මේ අනුශාසනයන්ට අනුව සතිපට්ඨානයන් වඩන්නා වූ පුද්ගලයා ශාසනය දිගු කලක් පැවැත්වීම පහසු කරවීමට කටයුතු කරන්නෙක් ද වන්නේය. මේ නිසා ශාසනය දිගු කලක් පැවැත්වීමට කැමති සෑම කෙනෙකු විසින්ම අප්පමාදීව සතිපට්ඨාන භාවනා කටයුතුවල වීර්යවන්තව යෙදිය යුතු. පරිශ්‍රම කළ යුතු.

අප්පමාදය නොවඩන්නා වූ පුද්ගලයා වනාහි... "ආදීනව පක්ෂය දැක්වීම සඳහා කරන්නට යෙදුණු අනුශාසනාවන්ට අනුව" නැවත නැවතත්, මැරි මැරී යනු ඇත්තේමය. මරණාසන්න කාලයේ බලවත් ඕනෑකමින් යුක්තව සඳහන් කරන්නට යෙදුණු දෙමව්පියන්ගේ වචනයට ඇහුම්කන් නොදුන් දරුවකු සේ බුදුරජාණන් වහන්සේගේ අවසාන අනුශාසනයට ඇහුම්කන් නොදුන්නකු වන්නේය. ලබා ගැනීමට තරම් වූ මාර්ග - ඵල - නිර්වාණ යන මේවා ද ඉක්මවා කටයුතු කළා වන්නේය. ශාසනය ද කෙටි කාලීන කිරීමට කටයුතු කළා වන්නේය.

බුදුරජාණන් වහන්සේගේ මහා පරිනිර්වාණයෙන් පසු වර්ෂ දහසක් පමණ තෙක් මෙම අප්‍රමාද ධර්මය ගිහි - සාමණේර - භික්ෂූන් වහන්සේලා අතර සමානව ප්‍රගුණ කරනු ලැබුවා මෙන්ම එම පුද්ගලයන්ගේ සිත් තුළ මෙම අප්පමාද ධර්මය ගෞරව සම්ප්‍රයුක්තව නිදන් කොට ගෙන කටයුතු කළ බව අටුවා - ටීකා - දීපවංශ - මහාවංශ - ශාසනවංශ ආදී ග්‍රන්ථයන්හි

ප්‍රකටය. එම කාලයන් තුළ ආර්ය භාවයට පත්වූ උතුමන්ගේ චිත්ති එම ග්‍රන්ථවල විස්තර කොට ඇත්තේය. එම වර්‍ෂ දහසට පසු කාලයෙහි එළෙස කරන ලද විස්තර බහුලව හමු නොවන නිසා අප්පමාද විෂයෙහි උත්සාහ කරන්නන් අඩු වී යැයි පිළිගැනීමක් ඇත. මෙසේ බොහෝ දීර්‍ඝ කාලයක පටන් භාවනා පරපුර ප්‍රමාණය වශයෙන් අඩු වී යෑම නිසා මෙම අප්පමාද සතිපට්ඨාන භාවනා ක්‍රමය ගැන ක්‍රමානුකූලව අසා දැනගැනීම පවා පසු පසු පරම්පරාවන් සඳහා පහසු නොවීම කණගාටුවට කරුණකි.

නමුදු "මෙම අප්පමාද ධර්මය සම්පූර්ණයෙන් දුරුවී ගියේ යැ"යි යන්න සත්‍යය නොවේ. නියම ආත්ම හිතභාවය සහිතව සොයන්නා වූ උත්තම පුද්ගලයන් තම සන්තානයන්හි මෙම අප්පමාදය දරාගෙන සිටියහ. මෑත අතීත කාලයේ එසේ දරාගෙන සිටි ආකාරය හෙළි කරනු වස්, තී-ලුං ආරණ්‍යයෙහි සයාඩෝ ස්වාමීන් වහන්සේගේ අප්පමාද ප්‍රතිපත්තිය ඉර-හඳ සේ ප්‍රකට වූ බව දැක්විය හැක්කේය.

අපට දැනගන්නට ලැබුණු පරිදි, ෂෙම්-මකා නම් ගමෙහි සීමා සම්මුති විනය කර්මයක් සඳහා මණ්ඩලේ - සගායින් ආදී ස්ථානයන්ගේ රාජ ගුරු සම්මානය ලද මහා තෙරුන් වහන්සේලා (සයාඩෝ ස්වාමීන් වහන්සේලා) රැස් වූ විට එම මහා තෙරවරුන්ගේ ආරාධනය අනුව තී - ලුං සයාඩෝ ස්වාමීන් වහන්සේ එම තෙරුන් වහන්සේලාට ධර්ම දේශනාවක් කළ සේක. දේශනා කරන විට ද "මගේ සිත්ගත් භාවනා මනසිකාර ක්‍රමය අනුව දේශනා කරන්නෙමි" යි දේශනාව ආරම්භයේදී ම මතක්කොට අනාගාමී මාර්‍ග-ඵල මට්ටම දක්වා විපස්සනා භාවනාව, විපස්සනා ඥාණ පහළ වන ආකාරය, මාර්‍ග-ඵලයන්ට පත්වන ආකාරය, ඵල සමාපත්තියට සමවදින ආකාරය ක්‍රමානුකූලව හෙළිකොට දේශනා කළ සේක. දේශනා කරන ලද එම ධර්මය පරියත්තියෙහි කෙළ පැමිණි මහා තෙරුන් පවා පුදුමයට පත් කරවන සුළු තරම් ගැඹුරු විය, සියුම් ද විය. එම නිසා තංගජා සයාඩෝ ස්වාමීන් වහන්සේ "දැන් ස්වාමීන් වහන්සේ දේශනා කළ ආකාරය අඩංගු කොට පොතක් ලියන්නේ නම් බොහෝම හොඳ වනු ඇත්තේ යැ"යි කීහ. එම අවස්ථාවේ සයාඩෝ ස්වාමීන් වහන්සේ අනුශාසනා කළ ආකාරයට" ඌ අගග! දේශනා කිරීම, භාවනා පුහුණු කිරීම තමාට රුචි පරිදි කළ හැක්කේය. නමුත් පොතක්

ලියන්නේ නම් අනෙකුත් සම්මත පොත් හා සමවිය යුතුය. ගැළපී යා යුතුය. තමන් වහන්සේ වැඩ සිටින කාලයේ නම් නැඟෙන ප්‍රශ්න වලට ඒත්තු යන පරිදි උත්තර දිය හැක්කේය. අපි ඉතිං වැඩි කල් නොගොස් අපවත් වන්නෙමු. එවිට එම විශේෂ - විවිධතාවයන් සම්බන්ධයෙන් වාද විවාද ඇති විය හැකි දේ යැයි සැකයක් සිතෙයි" යන ලෙස අදහස් දක්වන ලදී.

පැරණි වටිනා චරිතාපදාන සටහන් ආරක්ෂාකාරී ලෙස තැන්පත් කොට ඇති සෙයි-කුන් ගමෙහි එන් ජින් ටො (සාල වනයෙ) හී වැසි වෙක්-තෙක් සයාඩෝ වෙතින් ලබාගත් පුරාවෘතියකි මේ.

සැළකිය යුත්තක්:

ඉහත සදහන් පුරාවෘත්තියට අවධානය යොමු කිරීමේදී "තී-ලුං සයාඩෝ ස්වාමීන් වහන්සේ තමාගේ භාවනාව කළ ක්‍රමයට අනුව පොතක් නොලීවේ යැ"යි යන්න ප්‍රකටය. මෙළෙස නොලීම "එම වකවානුවේ භාවනා ක්‍රමය අනුගමනය කරන්නවුන්ගේ සංඛ්‍යාව අඩු නිසා යැ"යි පිළිගැනීමක් තිබුණි. "ප්‍රායෝගික භාවනා ක්‍රම හා සම්මත පොත් සමාන නැතැ"යි යන්නද හුදු ව්‍යවහාර මාත්‍ර මත පමණක් පිහිටා කියන්නක් වන්නේය. ඇත්ත වශයෙන් මේ දෙකෙහි සමාන බවක් ඇති බවම පිළිගනු වටී.

මේ තී-ලුං සයාඩෝගේ බොහෝ ශිෂ්‍යයන් අතරින් එක් ශිෂ්‍ය නමක් වන සගයින් කන්දේ අලෙයි ටො-යා සයාඩෝ ස්වාමීන් වහන්සේ අනෙකුත් බාහිර කටයුතු සඳහා උනන්දු නොවී අප්පමාද ප්‍රතිපත්තියෙහි ම ඇලී ගත කළ සේක. එම සයාඩෝගෙන් ක්‍රමවේදය උගෙන සිත්හි දරාගෙන සිටි මෙන්ගුන් ජෙතවුන් සයාඩෝ ස්වාමීන් වහන්සේ පසු ගිය වර්ෂ තිහකට අධික කාලයක පටන් අප්පමාද සතිපට්ඨාන භාවනාව ප්‍රසිද්ධ ලෙස දේශනා කරමින් මඟ පෙන්වමින් ගත කළ සේක. මේ තාක්ම (1954 තෙක්) ත-ටූන් නම් නගරයේ ජෙතවුන් නම් ස්ථානයෙහි වැඩ සිටි සේක.

මේ ජෙතවුන් සයාඩෝ ස්වාමීන් වහන්සේ යටතේ මාස හතරක් වාසය කරමින් අප්පමාද ප්‍රතිපත්ති ක්‍රමය උගෙන ගත් (මෙම ග්‍රන්ථය සම්පාදනය කළ) *මෝලිමියයින් නගරයේ ටොං වෙයින්කලේ සයාඩෝ* ස්වාමීන් වහන්සේ නියම අත්ත හිතකාමී පුද්ගලයන්ට මෙම අප්පමාද විපස්සනා භාවනා ක්‍රම අනුශාසනා කරමින් සෑහෙන කාලයක් ගත කළ

සේක. විශේෂයෙන් බුරුම වර්ෂ 1300 (=ක්‍රි: ව: 1938) හි නිත්‍ය වාසය පිණිස මෝල-මියයින් නගරයේ සිට ෂෙව-හු නගරයේ ඔහුගේ ජාත භූමිය (=උපන් බිම) වන සෙයි-කුන් ගමට පැමිණි පසු එන්-ජීන්-ටො-ටයි මහා-සී ස්ථානයෙහි මාස හතක් පමණ වැඩ වාසය කරමින් මේ අප්පමාද විපස්සනා ධර්මය සවිස්තරව දේශනා කළ සේක. ඒ අවස්ථාවෙහි කුසලච්ඡන්දය ඇත්තා වූ බොහෝ දෙනෙක් සයාඩෝ ස්වාමීන්වහන්සේ අනුශාසනා කළ පරිදි පිළිපදිමින් භාවනා කරන්නා වූ ධර්මයෙහි ප්‍රණීත රසය නිසි පරිදි අවබෝධ කර ගත්තාහුය. එසේම මෙම අප්පමාද භාවනාව නියම මූලික පැරණි මාර්ගය යැයි තහවුරු ලෙස පිළිගෙන ජීවිත පූජාවෙන් කැප වී භාවනා කිරීමට සැලසුම් කළ ඇත්තන්ගේ සංඛ්‍යාව බොහෝ විය. එම නිසා මෙම කාලයේ පටන් මෙම ප්‍රදේශයේ අවස්ථාවක් ලද විටකදී භාවනා කරන්නන්ගේ සංඛ්‍යාව අතරක් නොතබා-නොකඩවා දියුණුවටම පත්විය. එම භාවනා කරන්නන්ගේ දැනුම උසස් ධර්මය නිසා වරදවා වටහා ගැනීම් වලින් තොර විය. මෙලෙස සයාඩෝ ස්වාමීන් වහන්සේ බුරුම වර්ෂ 1303 (=ක්‍රි.ව. 1941දී) පටන් දෙවන ලෝක යුද්ධ කලබල නිසා උපන් බිමේ සෙයි - කුන් ගමට නැවත වැඩි කාලය පුරා *එන්-ජීන්-ටො-ටයි මහා-සී ස්ථානයේ* වැඩ වාසය කළ කාලයේ "විපස්සනා ඤාණ-මාර්ග-ඵල ලැබීමට කැමති" කුසලච්ඡන්දය ඇති මුත් නියම ක්‍රමය ඒකාන්තයෙන් නොදන්නා නිසා, තමාගේ කැමැත්ත ඉටුකර ගැනීමට නොහැකිව බලා සිටි ඇත්තෝ බොහෝ වූහ. එම ප්‍රදේශයේ භාවනා කරන ඇත්තන්ද වසරින් වසර දියුණු විය. එම පුද්ගලයන්ට කරුණු වටහා දීම සඳහා අංග සම්පූර්ණ ස්ථිරසාර පොතක් අවශ්‍ය විය. එම නිසා "නියම අභිවෘද්ධිකාමීන්ගේ එම අභිවෘද්ධිය සැලසීමට ද ශාසනය වැඩීම සඳහා ද ඤාණය මඳ, මධ්‍යස්ථ හා මේරු පුද්ගලයන් යන මේ සියල්ලන් සඳහා ගැළපෙන විපස්සනා භාවනා පොතක් කරනු මැනව" යි ශිෂ්‍ය උපාසකයන් ගෞරවයෙන් ආරාධනා කළ නිසා සයාඩෝ ස්වාමීන් වහන්සේ විසින් මතු පහළවන හිතකාමී පරපුර සඳහා විපස්සනා මාර්ග-ඵල යන ආනිශංස ලබාදෙමින් පටිපත්ති - පටිවේද ශාසනයන් ද වැඩෙවා! යි යන චේතනා වෙන්, ක්‍රමය වැඩි වේවා! යි වන අපේක්ෂාවෙන් මේ **මහා - සී විපසසනා භාවනා ක්‍රමය** (මහා-සී විපසසනා නයපපකරණය) ලිවීමට කටයුතු කරන ලද්දේය. සයාඩෝ ස්වාමීන් වහන්සේගේ-නියම ක්‍රමය දැක්වීම මඟින්

වැරදි ක්‍රමය දුරු කිරීමේ- දක්‍ෂතාවයට අනුව නව විපස්සනා භාවනා ක්‍රමයක් පහළ කරමින් හා එම ක්‍රමය එළි දක්වමින් ලියන ලද මෙම ග්‍රන්ථය පින්වතුන්ගේ හදවතෙහි අප්පමාද ධර්මය පැහැදිලිව ප්‍රකට වනු පිණිසත් තහවුරු කරනු පිණිසත් අර්ථය සිද්ධ කරයි. නියම අභිවෘද්ධිය බලාපොරොත්තු වන්නන්ගේ බලවත් සතුටට කාරණයක් වන්නේය.

**එතෙථිදං වුච්චති ගාථාරූචිකානමත්ථාය විඤ්ඤූනං**
**යො අප්පමාදො අමතස්ස වෙ පදං,**
**සම්මාදනො සෙට්ඨ සික්ඛත්තයස්සාපි.**
**අරිය මග්ගඤ්ච ආරාධයෙ භාවිතො,**
**කරොති සද්ධම්ම චිරට්ඨිතිම්පි එව.**
**සො නිබ්බුතෙ පි˘ධපිනෙ චිරං මනෙ,**
**ලලාස විඤ්ඤූන මනෙක කොටීනං.**
**පච්ජාච්ච - නාරාධිතත්ථාය පායසො,**
**දුබ්බඩො ච්චා|යි පච්පිමානං පුනාපි.**
**තථාපි සො තිට්ඨති යෙච කෙසුචි,**
**තස්මිං හි නි-ලුං චනිකො˘සි විස්සුතො.**
**තස්සිස්ස භූතො ච ජෙයසද්දී එවමචජ-**
**ආරඤ්ඤක වාසි, තස්මිං|චරරාම.**
**ලද්ධාඤ්ඤූදායොච˘සමා සනතාගාරෙ ජෙත-**
**වනෙ වුත්ත පුබ්බා පකාසෙති එතං.**
**සාධිකතිංස වස්සා විභූතයංජ්ජපි,**
**සුධම්ම නාමෙ වසතෙ පුරම්හි සොත,**
**තෙරස්ස වෙ තස්ස උපන්තිකෙ අයං,**
**චසිය සික්ඛත්ත විපස්සනා නයො.**
**ඉද| පපණෙ තාපි හිතෙහි සාධූනං,**
**නියොජකො තම්හි චිරස්ස කාලෙතො.**
**ථෙරස්සි| මස්සානයා විපපහායිනො,**
**පභාච සම්භූත විපස්සනා නයො,**
**ත|මප්පමාදං විදිතඤ්ච සුට්ඨිතං.**
**පුන,පයා කාසි සාධූ මානසෙ අහො,**

**සචායඤ්ච නාසෙත්ච චිරසසුත නයං**

**දුබ්බාධ පොරාණ නයඤ්ච දීපයෙ.**

**සාධුනං චිතෙත, චාපපමාදං ඨපෙනෙතා,**

**පාපෙතු සනතිං තුවටං හිතෙසකෙති.**

(මෙම ගාථාවල අර්ථ සඳහා ග්‍රන්ථයේ තුන්වැනි කොටස බලන්න)

| | | |
|---|---|---|
| *උ. සුන්දරා* | - | (ගුණවාචක) |
| *පිටක වේෂං,* | - | **එන්-ජින් ටෝ ටයි,** |
| *සෙයි-කුන්* | - | ග්‍රාමය, |
| *ෂෙව-භූ* | - | දිස්ත්‍රික්කය, **කයෙන්** ප්‍රාන්තය |
| *බුරුම වර්ෂ 1305* | - | ශාසන වර්ෂ 2487 |

## මෙම ග්‍රන්ථයේ දැක්වෙන සංකේත ලක්ෂණ නිරූපණය

= ... මෙම **සමාන** ලකුණින් එහි පෙර පද හා පසු පදය, හෝ පෙර කියමන හා පසු කියමන අදහස අතින් සමාන බව දත යුතුයි.

උදා:- දෙසනාක්කම = දේශනා ක්‍රම
පිසුනා වාචා = කේලාම් වචන
පිටක සම්පදාන = පොත් පත් හා අනුව යන බව
මෙනෙහි කොට බැලීම = විපස්සනා ජවන

, ... මෙම **කොමා** ලක්ෂණයෙන් එයට පෙර පදය හෝ පෙර පරිච්ඡේදය මුළු වාක්‍යයේ අංගයක් = වාක්‍යාංගයක් යැයි ද එම පදය හෝ එම පද කොටස් එයට පසු ආසන්නයේ ඇති පදය හා සම්බන්ධ නොකළ යුතු, ඉක්මවා ගොස් අදාළ ප්‍රධාන පදයත් හා පමණක් සම්බන්ධ කළයුතු බවද බව දත යුතුය. මෙම කොමාව දක්වෙන තැන ටිකක් නතර වී (පසු පද දිගට) කියවන්න.

උදා:- මෙවන් ක්‍රමයක් බැහැර කළ හොත්, බුදුරජාණන් වහන්සේගේ අනුශාසනය බැහැර කළා වන්නේය.

එම වාක්‍යයේ කොමාව යෙදීම මගින් ඊට පෙර කොටස මුළු වාක්‍යයේ වාක්‍යාංගයක් ලෙස ද දක්වන බව දත යුතුය. එම කොටස "බුදුරජාණන් වහන්සේගේ අනුශාසනය" යන ඊට ආසන්න පදය හා සම්බන්ධ නොවී "බැහැර කළා වන්නේය" යන ප්‍රධාන පදය හා බැඳේ යැයි දත යුතුය. මේ නිසා හොත් නම්, නමුදු,

*එසේ වතුදු එසේ, පසු, යනාදී වනකරණ පදවලට පසුව* කොමාව හමු වී නම් මේ ක්‍රමයට වටහා ගතයුතු. මඳක් නතර වී කියවන්න. *ඒ අවස්ථාවේ, ඒ හැර එයින් පසු, තවදුරටත්, එම නිසා, එසේ වී නමුදු, යනාදී වූ පදයන්ට පසුවද, නිසාත්, හී, මගින්, හා.... ම, වී,* මේ ආදී වූ විභක්තීන්ට පසුවද කොමාව හමු වී නම් "අදාළ පද තමාට ආසන්න පසු පදය හා සම්බන්ධ නොවී, එය හා අදාළ ඈත පදයන්, අදාළ ප්‍රධාන පදයන් වෙතට, අනිකුත් පද ඉක්මවා ගොස් සම්බන්ධ වේ" යැයි දත යුතුය. මඳක් නතර වී කියවීම ද කළ යුතු වේ. තව දුරටත් අර්ථ ශක්තිය අතින් සමාන යුගල පදයන් ද මේ කොමාව මගින් වෙන් කොට දක්වයි.

*නිදː අහෙතුක, ද්විහෙතුක පටිසන්ධිය...* මෙහි අහේතුක, ද්විහේතුක යන පද දෙක අර්ථ ශක්තිය අතින් සමාන වේ. පටිසන්ධි අදාළ පද හා අර්ථ ශක්තිය අතින් සම්බන්ධ කොට අහේතුක පටිසන්ධි, ද්විහේතුක පටිසන්ධි යන ලෙසට බෙදා ගැනීමට කොමාව යොදා වෙන්කොට දක්වන ලදී.

උදාː- 1. *.... අසිරිමත් බැවින්, ගෞරවණීය බැවින් හොඳ යන* මෙහි අසිරිමත් බැවින් හොඳය, ගෞරවණීය බැවින් හොඳ යැයි අර්ථ ශක්තිය අතින් සමාන වේ.

උදාː- 2. *පාළි, අට්ඨකථා, ටීකාවන්හි දක්වෙන අදහස...* මෙහි පාළි අදහස, අට්ඨකතා අදහස, ටීකාහි අදහස යැයි අර්ථ ශක්තිය අතින් සමානව පද තුනක් ඇතැයි දත යුතුය.

උදාː- 3. *මෙනෙහි කොට වටහා ගන්නා, විශේෂ ඥාණයෙන් දත යුතුය...* යන මෙහිදී මෙනෙහි කොට වටහා ගන්නා ඥාණය, විශේෂ ඥාණයː මෙලෙස ඥාණය යන පදයට විශේෂණ දෙකක් වන බව කොමාවකින් බෙදා දක්වේ.

උදාː- 4. *උග්ඝටිතඤ්ඤූහට සීල, සමථ යන මේවා විපඤ්චිතඤ්ඤූහට සීලය,"විශේෂ ආනිශංස සහිතය, විශේෂයෙන් ගැළපේ යැ"යි නොකිය යුතු...*

*මෙහිලා සීලය හා සමථය "උග්ගටිතඤ්ඤුන්හට විශේෂ ආනිශංස බොහෝයැ"යි නොකිය යුතු...* මෙලෙස නොකිය යුතු යන ප්‍රධාන පදය හා අනෙක් පද දෙක අර්ථය අතින් සම ශක්තියෙන් සම්බන්ධ කිරීමට කොමා දෙකක් මගින් බෙදා දක්වා ඇත.

උදා:- 5. *රූප සියල්ල, වේදනා, සිත, ධර්ම ස්වභාවය,* යන මේ හතර වර්ගයන්හි හතරාකාර ස්වරූපයන් පහසුවෙන් දැන ගැනීම පිණිස කොමා හතරක් මඟින් බෙදා දක්වන ලදී.

උදා:- 6. *කාය, වේදනා, චිත්ත, ස්වභාවයන්,* අතරින් මෙහිද ස්වරූප හතර පැහැදිලි කිරීමට අවසාන ස්වරූපයද කොමාවකින් බෙදා දක්වන ලදී. නමුදු විභක්ති හා බැඳී ඇති මේ අවසාන කොමාව වැනි තැන්වල මඳ නැවතීමක් අවශ්‍ය නැත, දිගට කියවීම වටී.

තව දුරටත්... අලංකාර භාෂාවෙහි යෙදෙන පදයන් එක එකක් බෙදා දැක්වීමට මේ කොමා යොදා ගනී.

උදා:- 7. **එත්ථ:** නව ගත එළි කොට, දැක්වීමෙහිලා,
මූල හේතුව, නොහොත් ප්‍රභවය,
හුවා දක්වන මේ නිදානයේ,

" "... මෙම උධෘත දැක්වීමෙහි යොදන **යුගල කොමාව** මඟින්, එහි මැද ඇති ලේඛනය එයට පෙර ඇති ලේඛනය හා සම්බන්ධ නැති බව දක්වයි. එම නිසා උධෘත පාඨ කොමාව ඉදිරියෙන් ඇති කරුණු එහි තුළ ඇති කරුණු හා සම්බන්ධ කොට අදහස නොගත යුතු වේ. උධෘත කොමා මඟින් අවධානය යොමු කරන ආකාරය, මෙනෙහි කරන ආකාරය, දැක දැන ගන්නා ආකාරය, කියන ආකාරය, වරදවා ගන්නා ආකාරය, ආදී ස්වභාවයන් මුල හා අග වශයෙන් වෙන් කොට දක්වයි කෙටි කියමනක් දැක්වීමෙහිදී මේ **උධෘත තනි කොමා** මෙසේ දක්වයි '......' එයට අමතරව, අමතර විස්තර වශයෙන් එකතු කරන විශේෂණ පද, හේතු පද, කර්ම පද, කතෘ පද යනාදිය ද, මේ උධෘත කොමා මාර්ගයෙන් දක්වන අවස්ථා ද ඇත්තේය.

( ) ... මෙම **වරහන් ලකුණ** මගින් වෙන් කොට දක්වන ලියමන වනාහි එයට පෙර පදයන්හී අර්ථය, අදහස ගැන විස්තර හා

උපදෙස් වන්නාහ. මෙසේ හෙයින් මෙය ඉක්මවා වරහන් වලට පෙර පදයන් හා පසු පදයන් සම්බන්ධ කොට කියන්න. සම්බන්ධ කොට අදහස ගන්න.

\+ ... මෙම **එකතු කිරීමේ ලකුණ** මගින් පද වෙන් කිරීම, පද සම්බන්ධ -යන්ද, එකතු කොට ගත යුතු ධර්‍මයන්ද, විශේෂ ඥාණ ලැබීමට කලින් සමූහයක් සේ, එකක් සේ, එකෙකු සේ මෙනෙහි කරන ලද රූප - නාමයන් විශේෂ ඥාණ පහළ වූ පසු එකින් එකට වෙන් කොට දක්වීමේදී ද, යොදයි.

! ... මෙම **විශ්මයාර්ථ ලකුණ** පුදුමය, ගෞරවය, ආශ්චර්‍යය යද ආලපනයේදීද *ඕ, ආනන්ද!* යන ලෙසට ආදී ලෙස ආමන්ත්‍රණ යේදී ප්‍රකටව යෙදේ.

? ... මෙම **ප්‍රශ්ණ ලකුණ** ප්‍රශ්නයක් බව ප්‍රකටව දක්වීමේදී යෙදේ.

මෙම දක්වීම් උගෙන සිත්හි ධාරාගෙන වටහා ගත්තේ නම් මේ ග්‍රන්ථය කියවීමේදී විශේෂයෙන් පහසුවක් වනු ඇතැයි අපේක්ෂා කරමු.

ග්‍රන්ථකාර සයාඩෝ, සොභන මහා ථෙර
**මහා - සී ධ්‍යස්ථානය**
සෙයි - බුන් ගම
ෂ්වෙ - බු දිස්ත්‍රික්කය

## සගායින් දිස්ත්‍රික්කයේ. යුවාතෙජි හි ෂ්වෙ-සේති ටොයා සයාඩෝගේ තුති මංගල ගාථා

**භදනත සොභනතෙථරෝ, තික්ඛ ගම්භීර ඤාණිකො**
**ගනථං යං රචයි සමමා, ගමහීර නය මණ්ඩිතං**

**තික්ඛ ගම්භීර ඤාණිකො** = තියුණු ගැඹුරු ඤාණ, එවැනි ඤාණ සම්ප්‍රයුක්ත

**භදනත සොභනතෙථරෝ** = පරියත්ති, ප්‍රතිපත්ති, උභයගත පාරගූ සොභන මහා තෙරුන් වහන්සේ

**මගී නයමණ්ඩිතං** = දූන වටහා ගැනීමට, ඇත්තටම දුෂ්කර වූ ගැඹුරු වූ භාවනා ක්‍රම වේදයන් රැස් කොට, එයින් ප්‍රතිමණ්ඩිත කරන ලද.

**යං ගනථං** = විපස්සනා නයප්පකරණය නම් භාවනා පොත

| | | |
|---|---|---|
| **සම්මා** | = | සම්‍යක් ලෙස, |
| **රචයි** | = | රචනා කරන ලදී. |

**අබ්භුතො වත භො! ලොකෙ, සුනදරො, යං සුදුලලභො.**
**එසසති | මං නයාකිණ්ණං, දටඨුං දීපං සුදුද්දසං**

| | | |
|---|---|---|
| **භො** | = | භවත, භව සාගරයෙන් එතරවීමට, ක්‍රම වේදය සොයන, කුසලච්ඡන්දයෙන් හා සංවේග ඥාණයන්ගෙන් සම්පූර්ණ වූ පිංවතුනි, ඔබලා |
| **ලොකෙ** | = | මනුෂ්‍ය භවයෙහි, මනුෂ්‍ය ලෝකයෙහි |
| **සුදුලලභො** | = | බොහෝ කල්ප ගණනාවක කාලාන්තරය කිසිදු ලබාගැනීමට දුෂ්කර වූ |
| **සුනදරො** | = | ත්‍රිපිටක දැනුම, යෝගී අත්දැකීම්, යන දෙකම යා කොට ගොනු කළ බැවින් සවිස්තර වූ, ක්‍රමවත් වූ ඉතා උතුම් වූ, සුන්දර වූ |
| **අයං ගනථො** | = | මේ විපස්සනා නයප්පකරණය නම් භාවනා පොත |
| **අබ්භුතො වත** | = | සාසන වර්ෂ දෙදහසකට අධික වූ කාලය තුළ පෙර නොවූ විරූය, සුවිශේෂිතය, අහෝ ! ලොවට පහළ වී යැ ! |
| **තුමෙහ** | = | භව සාගරයෙන් නිදහසක් පතා ක්‍රම වේදයක් සොයන, කුසල සංවේග ඥාණ අතින් සම්පූර්ණ වූ පින්වත් ඔබලා |
| **සුදුද්දසං** | = | මහාමේරු පර්වතය මගින් වසාලූ අබ ඇටයක් සේ දැකගැනීමට ඉතාමත් අසීරු වූ |
| **දීපං** | = | මහා ජලකඳක කොටු වී ඇති දිවයිනක් මෙන් වූ නිවන දහම |
| **දටඨුං** | = | පාදක විපස්සනා-මඟ ඵල ඥාණ ක්‍රමයෙන් වහා ළඟා වී, ඇස් පනාපිට මනා සේ දැකගැනීම සඳහා |
| **නයාකිණ්ණං** | = | විපස්සනා භාවනා මනසිකාරය පැවැත්වීමේ (මෙනෙහිකොට බැලීමේ) ක්‍රමවේද අතින් පොහොසත් වූ, අංග සම්පූර්ණ වූ |

| | | |
|---|---|---|
| **ඉමං ගනථං** | = | මේ මහා විපස්සනා නයප්පකරණය නම් වූ භාවනා පොත |
| **පසසථ** | = | ශ්‍රද්ධා-ප්‍රඥා දෙක සමබර කොට ඉතා පරීක්ෂාකාරීව භාවිතා කොට බලන්න. |

**යෙ වීමං අනුකරෙයයුං තෙ, පුබබා පර විසෙසිනො**
**ධංසෙයයුං අතත දිටඨිඤච, අඤඤාණං සචච ඡාදනං**

| | | |
|---|---|---|
| **ච** | = | ආනිශංස ගෙන හැර දක්වන්නෙමි; |
| **යෙ** | = | කල්‍යාණ ගුණ සහිත සමහර පුද්ගලයන් |
| **ඉමං ගනථං** | = | විවිධ නය, මනසිකාර ක්‍රම මඟින් සෝභන වූ ප්‍රශංසනීය වූ මේ උතුම් වූ ග්‍රන්ථය |
| **අනුකරෙයයුං** | = | අනුව යමින් භාවනා අභ්‍යාස කරයි නම්, |
| **තෙ** | = | මේ උතුම් ග්‍රන්ථය දක්වන ආකාරයට අප්‍රතිහතව පිළිපදිමින් භාවනා කරන එම යෝගාවචරයන්ට |
| **පුබබාපර විසෙසිනො** | = | ආරම්භයේ පටන් කල් යත් යත්. ක්‍රමයෙන් විශේෂත්වයන්ට පත්වූ ප්‍රඥා - සති - සමාධි ධර්මයන් සහිතව, සුවිශේෂත්වය අතින් සම්පූර්ණවී. |
| **අතත දිටඨිඤච** | = | මමෙක් ආත්මයක් නොවන, නාම-රූප දෙක-පඤ්චස්කන්ධය මම යැයි වරදවා ගන්නා වැරදි දිට්ඨිය නම් වූ අත්ත දිට්ඨිය ද |
| **සචච ඡාදනං** | = | ආර්ය සත්‍ය සතර මනාකොට නොදැන වරදවා වටහා ගන්නා වූ, ඇත්ත මුවහ කළ හැකි වූ |
| **අඤඤාණඤච** | = | අවිද්‍යා අන්ධකාරය නම් වූ මහා නපුරු ධර්මයද |
| **ධංසෙයයුං** | = | නැවතත් මතු නොවන ආකාරයට විනාශ කොට බැහැර කරලිය හැක්කේය. |

**අනෙන නාවාකරණොපදෙසිනො, විධාය මගගංග මහාතරිං ලභුං,**
**සමාරුහාවෙහා තරිතුං භවණණවං, සුදුලලභෙ ගොතම බුදධ සාසනෙ,**

**තසමා** = මේ විපස්සනා භාවනා ක්‍රමය හුවා දක්වන ආකාරයට නොපැකිළ භාවනා කළ කල්හි අත්ත දිට්ඨිය හා එහි මුල කාරණය වන අවිජ්ජා අන්ධකාරය දුරු කිරීම, මනා ලෙස විනාශ කරලීම කළ හැකි බැවින්,

**භොනෙතා** = භව සංසාර ගමනෙහි බොහෝ අවුරුදු ගණනක් ගිලී සිට, එතෙර වීමට සිතේ බලවත් උනන්දුව ඇති පිංවතුනි,

**තුමෙහ** = භව සංසාරයෙන් අත්මිදී නිවනට සිත නමා සිටින ඒ පිංවත් වූ ඔබලා

**සුදුලලභෙ** = අසංඛ්‍ය කල්ප ලක්‍ෂයටත් වඩා කාලයක් තුළ නමුත් ලැබීමට දුෂ්කර වූ මෙම ශාසනය ලැබ සිටින අවස්ථාවේ.

**ගොතම බුද්ධ සාසනෙ** = ගෞතම නාමයෙන් ප්‍රසිද්ධ වූ, මෙම ත්‍රිවිධ ශික්‍ෂාවන්ගෙන් සමන්විත ශාසන කාලයෙහි (එව ශබ්දය අර්ථය වඩාත් මතුකොට දෙයි)

**භවණ්ණවං** = මෝහ - දිට්ඨි ආදී කොට ඇති බොහෝ වූ කෙලෙස් බීජ නිසා නොසිඳ උපදිමින් පවතින අනන්ත වූ, පළලින් ඉතා විශාල මෙන්ම ඉතා ගැඹුරු වූ භව සයුර

**තරිතුං** = තරණය කොට නිවන් දිවයිනට එතෙර වීමට

**නාවාකරණොපදෙසිනො** = උතුම් වූ ආර්ය අෂ්ඨාංගික මාර්ගය නම් වූ භව සංසාරයෙන් එතෙර කරවන නැව සුවසේ යාත්‍රා කරවීමට අවශ්‍ය නියම මාර්ගය උපදෙස් දිය හැකි වූ

**අනෙක විපසසනා නයවණෙනන** = මේ විපස්සනා භාවනා ක්‍රමයෙන්

**මගගංග මහා තරිං** = උතුම් ආර්ය අෂ්ඨාංගික මාර්ග ධර්ම සමූහය නම් වූ සසර සයුරින් එතෙර වීමේ නැව

**ලහුං** = මාස-දින ගණන් පමා නොවී, අප්‍රමාදීව, දූන් දූන්ම

**විධාය** = වර්තමානව පහළ වන නාම-රූප ඥාණයෙන් පරිග්‍රහ කරගන, ගොඩ නඟාගෙන

**සමාරුහෙවා** = අඛණ්ඩ වූ ඉපිදීම් මැරීම් සහිත භවයෙහි දිගටම ගිලීගෙන නොසිට සතිමත්ව හොඳින් නැගී තරණය කරත්වා: (වංසත්ථවිලා)

**චිරංතිට්ඨ ධාතු ලොකෙ | යං, ජිනසාසන වුද්ධියා**
**පකාසෙනෙතා ච යොගිනං, පොරාණං භාවනා නයං,**

**ච** = විශේෂ ප්‍රාර්ථනාවක් කරන්නෙමි,

**අයං විපසසනා නය ගනෙථා** = මේ විපස්සනා නයප්පකරණය

**යොගිනං** = කල්‍යාණ ගුණ පිරි යෝගීන්ට

**පොරාණං** = හොඳ නිවැරදි පෞරාණික ක්‍රමයක් වන

**භාවනා නයං** = මඟ-ඵල නිවන් ලබාගැනීමට සෘජු විපස්සනා භාවනා මනසිකාර ක්‍රමය

**පකාසෙනෙතාච** = අත්ල තැබූ මැණිකක් සේ ප්‍රකට කොට දක්වා

**ජින සාසන වුද්ධියා** = පඤ්ච මාරයන් දිනූ බුදුපියාණන් වහන්සේගේ අනුශාසනාව වන ත්‍රිශික්‍ෂා සහිත ශාසනය පිරිසිදු ලෙස අභිවර්ධනය කිරීමේ කැමැත්ත

**ලොකෙ** = මනුෂ්‍ය ලෝකයෙහි දේශ-දේශාන්තරවල

**චිරං** = ශාසනය පන්දහසක් කල් ස්ථිර සාර ලෙස

**ධාතුං** = ගලෙහි කෙටූ අකුරක් සේ නොසිඳිනොමැකී කල් පවතීවා!

**ගන්ථකාරො මහාථෙරො - තථෙසකො බහුජනෙ**
**සක කිච්චෙ නියොජෙනෙතා - ජොතෙතු ජින සාසනං**

**ගන්ථකාරො** = මේ විපස්සනා නයප්පකරණය නම් භාවනා ක්‍රමය රචනා කළා වූ, සම්පාදනය කළා වූ

**තථෙසකො** = පරම්පරාගත ක්‍රමවලින් සතුටු නොවී, බිඳලිය නොහැකි නියම ක්‍රම සහිත ග්‍රන්ථ සොයා හදාරා

**වා** = අන්ධ විශ්වාස නැති, සම්ප්‍රදාය අනුව නොයන

| | | |
|---|---|---|
| **මහාථෙරො** | = | මහාසී සයාඩෝ ස්වාමීන් වහන්සේයැ යි හඳුන්වනු ලබන මහා තෙරුන් වහන්සේට |
| **බහුජනෙ** | = | බොහෝ ලක්‍ෂ ගණන් ගිහි-පැවිදි ඇත්තන්ට |
| **සක කිච්චෙ** | = | මේ භවයේදීම ප්‍රත්‍යක්‍ෂ ලෙසට ආර්ය සත්‍ය සතර ඉක්මනින් වටහා ගැනීම සඳහා කටයුතු ස්වකීය කෘත්‍යය වන්නාවූ විපස්සනා භාවනාවෙහි |
| **නියොජෙනෙතා** | = | මග පෙන්වමින්, අවධි කරවමින්, අනුශාසනා කරමින් |
| **ජින ශාසනං** | = | පඤ්ච මාරයන් දිනූ බුදු පියාණන්ගේ අනුශාසනාව වන්නා වූ උතුම් ත්‍රිශික්‍ෂා සහිත ශාසනය |
| **ජොතෙතු** | = | දහසක් අලෝක කදම්බ විහිදුවමින්, සූර්‍යාලෝකය ඉක්මවා බබළවමින් වඩ වඩා ඉදිරියට ගෙන යාමට හැකි වේවා! |

සුන්දර භික්‍ෂුව,
*ෂේවේ සෙදි ආරණ්‍ය,*
*යුවා-තේ ජී ග්‍රාමය,*
සගායින් දිස්ත්‍රික්කය.





# මහා-සී විපස්සනා භාවනා ක්‍රමය

## ප්‍රථම භාගය

## පළමුවන කොටස

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස ///**

### ග්‍රන්ථාරම්භ කථා

**අහො බුද්ධො අහො ධම්මො**
**අහො සංඝො අනුත්තරො**
**ඉති චිත්තං පසංසෙත්වා**
**විපස්සිත්වා තදාගතෙ**

**විපස්සනා නයං කස්සං, සීඝං මග්ගාදිපාපකං**
**දිට්ඨධම්මෙ ච සාධුනං, යථා වුත්තං විපස්සතන්ති**

**අනුත්තරො** = අරහං ආදී කොට ඇති ගුණ ස්කන්ධය සම්බන්ධයෙන් ඊට වඩා උතුම් කෙනෙක් නොමැති වූ, අති උත්තම භාවයට පැමිණ වැඩ වදාළා වූ,

**බුද්ධො** = සියලු ධර්මයන් සර්වප්‍රකාරයෙන්ම දැන වදාළා වූ බුදුරජාණන් වහන්සේ,

**අහො** = ඕ!.. කියා විස්තර කළ නොහැකි තරම් ආශ්චර්යමත්ය, ගෞරවාන්විතය.

**අනුත්තරො** = **ස්වක්ඛාතතා** ආදී කොට ඇත්තා වූ ගුණස්කන්ධය අතින් පරිපූර්ණ නිසා ඊට සමාන වූවක් නැත්තා වු ද අති උතුම් භාවයට පැමිණියා වූ ද,

**ධම්මො** = මාර්ග සතර - ඵල සතර - නිවන හා පරියත්තිය යන දස අංගයන්ගෙන් සමන්විත වූ උතුම් ධර්මය,

**අහො** = ඕ!.. කියා නිමකළ නොහැකි තරම් අසිරිමත්ය, ගෞරවාන්විතය.

**අනුත්තරො** = සුපටිපන්නතා ආදී කොට ඇත්තා වූ ගුණස්කන්ධය අතින් පරිපූර්ණ වූ බැවින් ඊට උතුම් වූ තවත් දෙයක් නැති තත්වයට පත්වුණා වූ,

**සංඝො** = මාර්ගස්ථ පුද්ගලයන් සතර දෙනා, ඵලස්ථ පුද්ගලයන් සතර දෙනා යන සියලුදෙනා නම් වූ සංඝයා,

**අහො** = ඕ...! කියා නිම කළ නොහැකි තරම් අසිරිමත්ය, ගෞරවාන්විතය.

**ඉති** = මෙලෙස සලකා බලා

**චිත්තං** = සිත

**පහං සෙත්වා** = විශේෂයෙන් පහදවාගෙන, පහන් කරගෙන,

**තදා ගතෙ** = ඒ අවස්ථාවෙහි මෙහෙයවා බලන්නා වූ පැහැදුණු සිත හා එය ඇසුරු කරන රූප ධර්මයන්,

**විපස්සිත්වා** = විපස්සනා මනසිකාරයට නංවා

**යථා වුත්තං** = මේ ග්‍රන්ථයෙහි පෙන්වා දී ඇති ආකාරයට,

**විපස්සතං** = විපස්සනා කරත් නම්

**වා** = එසේ විපස්සනා කරන්නා වූ

**සාධූනං** = සාධු ජනයාට,

**දිට්ඨෙව ධම්මෙ** = මේ ආත්මයේදීම,

**සීඝං** = දින7, දින 15, මාසය ආදී වූ කෙටි කාලයක් තුළ වහා වහාම

**මග්ගාදී පාපකං** = මග-ඵල නිවන් දක්වා ලීමට හැකි වූ,

**විපස්සනා නයං** = විපස්සනා භාවනා ක්‍රමය නම් මේ ග්‍රන්ථය,

**අහං** = මම

**කස්සං** = ලියා දක්වන්නෙමි,

**ඉති** = ග්‍රන්ථාරම්භ කථා නිමියේ යැ.



# අන්තර්ගතය සංක්ෂේපයෙන්

මේ ග්‍රන්ථය පරිච්ඡේද වශයෙන් හතක් කොට බෙදා ලියන්නෙමි.

(පළමුවන කොටස)

**පළමුවන පරිච්ඡේදයෙහි** = අවවාද කථා හා සීල විශුද්ධිය දක්වන්නෙමි.

**දෙවන පරිච්ඡේදයෙහි** = චිත්ත විශුද්ධිය දක්වන්නෙමි.

**තෙවන පරිච්ඡේදයෙහි** = පරමත්ථ හා පඤ්ඤත්ති වෙන් කොට විපස්සනාවෙහි අරමුණු කොටස් කර බැලීම - සමථයානිකයාගේ භාවනා නියාායෙන් න්‍යාය ගැනීම විදහා දක්වන්නෙමි.

**සිව්වන පරිච්ඡේදයෙහි** = මනසිකාර ක්‍රමය හා තත්ත්වාකාරයෙන් කල්පනා කර බැලීමට හා දැන ගැනීමට දේශනා ක්‍රම, දේශනානුකූලව විස්තර කරන්නෙමි.

(දෙවන කොටස)

**පස්වන පරිච්ඡේදයෙහි** = මනසිකාර ක්‍රමය හා ඥාන වශයෙන් මතුවන, ඉදිරිපත් වන ආකාරයන් **පටිපතතිකකම**= භාවනා ප්‍රතිපත්ති ක්‍රමය අනුව විදහා දක්වන්නෙමි.

**හයවන පරිච්ඡේදයෙහි** = භාවනා යෝගාවචරයා තුළ මතුවන ඥානයන් පිටක ග්‍රන්ථයන් අනුව විමසුමක් කරන්නෙමි.

**සත්වන පරිච්ඡේදයෙහි** = දහ අටක් වූ මහා විපස්සනාවන් විස්තර කරන්නෙමි.



## ප්‍රථම පරිච්ඡේදය

# අවවාද කථා හා ශීල විශුද්ධිය

**නමො තසස භගවතො අරහතො සමමා සමබුදධසස ///**

**අවවාදය** - නියම නාම-රූප ධර්ම, නියම අනිත්‍ය, දුක්ඛ, අනාත්ම ලක්ෂණයන්, නියම ආර්ය සත්‍ය තමා වශයෙන් ඥාණයෙන් දැක දැන ගැනීමට හැකියාව ලබාදෙන විපස්සනා මනසිකාර ක්‍රමය බුදුරජාණන් වහන්සේගේ උතුම් අභිලාසය වූ බැවින් එය තමන් වහන්සේගේ අනුශාසනාවන්හි මූලික තේමාව වශයෙන් දක්වා වදාරන්නට යෙදුන සේක. එවන් ක්‍රමයක් බැහැරලීමෙන් බුදුරජාණන් වහන්සේගේ උතුම් අනුශාසනය බැහැරලීම කෙරෙන්නේය. ශ්‍රද්ධාවන්ත පුද්ගලයන්ගේ එම ශ්‍රද්ධාව හා කුසල ඡන්දය එවායින් කෙලෙසෙන්නේය. භාවනා කරන්නා වූ පුද්ගලයන්ගේ ප්‍රගතිශීලී කෙළෙස් ශක්තිය බිඳ වැටී විපස්සනා-මග-ඵල අතින් පිරිහී යන්නේය. අවස්ථාව ද ගිලිහී යන්නේය. මොන තරම් ආදීනව ඇත්තේ දැයි පහත දැක්වෙන ධම්ම පද ගාථාවෙන් දැන ගත හැක්කේය.

**යො සාසනං අරහතං - අරියානං ධමම ජීවිනං**
**පටිකෙකාසති දුමෙමධො - දිට්ඨිං නිසසාය පාපිකං**
**ඵලානි කට්ඨකසෙසව - අතථඝාතාය ඵලලති.**

| | | |
|---|---|---|
| **යො දුමෙමධො** | = | ඥාණය හා පළපුරුද්ද අතින් මඳ වූ යම් පුද්ගයකු |
| **පාපිකං දිට්ඨිං** | = | ලාමක විශ්වාස-මිථ්‍යා පිළිගැනීම්, |
| **නිසසාය** | = | මත රඳා පැවතීම අනුව |
| **අරියානං** | = | කෙළෙස් දුරු කළා වූ |
| **ධමම ජීවිතං** | = | ධර්මානුකූලව ජීවිතය ගත කළා වූ |
| **අරහතං** | = | විශේෂ පූජා වලට සුදුසු වූ මගේ බුදුරජාණන් වහන්සේගේ |
| **සාසනං** | = | අනුශාසනයන් |

| | | |
|---|---|---|
| **පටිකොසති** | = | පිටු දකින්නේය |
| **තසස** | = | ඔහුට |
| **තං පටිකොසානං** | = | ඒ පිටුදැකීම ද |
| **සා දිට්ඨිංච** | = | පිළිගෙන විශ්වාස කරන ඒ වැරදි දිට්ඨි ද |
| **කට්ඨකසස** | = | උණ පඳුරෙහි, |
| **ඵලානං ඉව** | = | (තමා දරණ ගසම මරණයට පත්කරවන) උණ ඵල හා සමාන වන්නේය. |
| **සො** | = | ඒ පිටු දකින්නා වූ පුද්ගලයා |
| **තාදිසං ඵලං** | = | පිටු දැකීම හා මිථ්‍යා දිට්ඨිය නම් වූ ඒ ඵල |
| **අතතඝාතාය** | = | තමන්ගේම විනාශය පිණිස |
| **ඵලලතිති** | = | (ඵල) දරන්නේය. |

## වටිනා අවස්ථාව හා උතතම ධර්මය

මේ අද දක්වා ම බුදුරජාණන් වහන්සේගේ අනුශාසනා නිවැරිදිව ලැබුවා වූ සෑම පුද්ගලයකු ම ඉතා උතුම් අවස්ථාවක් ලැබූ පුද්ගලයකු බව ප්‍රකාශ කළ යුත්තේය. කුමක් නිසා එසේ ප්‍රකාශ කරන්නේ ද යත්, එවැනි වටිනා අවස්ථාවකදීම පමණක් මතු කර ගත හැක්කා වූ මහාර්ඝ වටිනාකමක් ඇති මඟ-ඵල- නිවන් ලබාගත හැකි නිසාය.

## ඉඩ ප්‍රස්ථාව සෑමවිට ම නොමැත

කෙසේ නමුත් මේ වටිනා ප්‍රස්ථාව නිත්‍ය ලෙස පවතින්නක් නොවේ. මක්නිසාද යත්, මනුෂ්‍යයාගේ ජීවිත කාලය සම්පූර්ණයෙන් ම ගෙන සලකා බැලූව ද ඉතා කෙටියි. ඉක්මනින් ගෙවී ගොස් මරණයට පත්වන සුළුය. මරණයට පත්නොවුන ද කොයි මොහොතෙහි මරණයට පත් වන්නේ ද යන වග ඒකාන්තයෙන් දැන ගත නොහැක්කේය. මරණයට ම පත් නොවුව ද ජරා - දුබලව ගිය විට, ලෙඩ - අසනීප වූ විට, අතුරු ආන්තරාවලින් බිය කරදර පැමිණි විට යන මේ කුමක් හෝ ඉදිරිපත් වූ වේලාවට තමාට රිසි පරිදි භාවනා මාර්ගයේ නියැලීමට, වෙර දැරීමට නොලැබෙන්නේය.

## කාලය නිෂ්ඵලව ගෙවා නොදැමිය යුතු

මේ පොත කියවා බලා පෙර සඳහන් කළ වටිනා අවස්ථාව ලබන ඔබ එම වටිනා අවස්ථාව කෙසේ ප්‍රයෝජනයට ගන්නෙහිද? ඇසිය යුතු, වටහාගත යුතු ධර්මය අතින් පිරිපුන් බවට පත් විය යුතු නොවන්නේද? එසේ නොමැතිව කිසිදා සන්තෘෂ්ටියකට පත්විය නොහැක්කා වූ කාම කෘත්‍යයන් විෂයයෙහි ම ව්‍යාපාර කරමින් ප්‍රමාදීව කාලය නිකරුණේ ගත කිරීම යුතු වන්නේද? ඇත්ත වශයෙන් ම කියනවා නම් මරණ මඤ්චකයෙහි ඔත්පලව අසාධ්‍යව වැතිරෙන කල්හි ධර්මය අතින් සිස් නොවනු පිණිස, උත්සාහයෙන් ළංකර ගතයුතු  වූ ධර්මය උපයා සපයා ගැනීමට නියම අවස්ථාව මේ නොවන්නේද? නියමිත වේලාවට කල්තියා සාර්ථක ලෙස භාවනා කිරීමට බුදුරජාණන් වහන්සේ විසින්ම වදාරන්නට යෙදුණු පහත දැක්වෙන අනුශාසනාවට අනුව සිත අවදිමත් කර ගනිත්වා!

**අජ්ජෙව කිච්චමාතප්පං - කොජඤ්ඤාමරණං සුවෙ.**
**නහි නො සඞ්ගරං තෙන - මහා සෙනෙන මච්චුනා** [ම. නි. 3/402]

| | | |
|---|---|---|
| **සුවෙ** | = | හෙට |
| **ජිවිතං වා** | = | ජීවත් වේවි ද |
| **මරණං වා** | = | මිය යාවි ද යන වග |
| **කො ජඤ්ඤා** | = | කවුරුන්ට නම් දැන ගත හැකිද. (**ජිවිතං වා මරණං වා කො ජානාති** - අට්ඨකථාවට අනුව) |
| **ඉති** | = | මෙය සිත්හි දරාගෙන |
| **ආතප්පං** | = | කෙලෙස් දවන තවන තාපය, විපස්සනා ආතාප වීර්යය, |
| **අජ්ජෙව** | = | හෙට වෙන තෙක් බලා නොසිට අදම |
| **කිච්චං** | = | කල් නොදමා, පැහැර නොහැර කළ යුතුය. |
| **හි** | = | හෙට මරණයට පත්වේවි ද යන්න දැන ගත නොහැකි බව නිසාත්, |
| **මහා සෙනෙන** | = | දිය, ගිනි, වස, විෂ. ආයුධ, රෝග ආදී වූ හේතු අනුව මරණයට පත් කළ හැකි සේනා බොහෝමයක් ඇත්තාවූ |
| **තෙන මච්චුනා** | = | මාර දිව්‍ය පුත්‍රයා යැයි කියනු ලබන මේ මරණ ධර්මය සහ |

**නො** = අපට

**සංගරං** = හමුවී සාකච්ඡා කිරීමක් හෝ අල්ලසක් - සංතෝසමක් දීමක් හෝ බල ඇනි වලින් වට කොට රැකවල් කිරීමේ හැකියාවක්

**න** = නොම ඇත්තේය.

**තසමා** = මේ නිසාත්

**සුවෙ මරණං** = හෙට ජීවත් වීම හෝ මරණය

**කො ජඤ්ඤා** = කවුරුන්ට නම් දැන ගත හැකි වෙත්ද?

## වැරදී ගිය පසුවම වැරදී ගිය බව දැනගෙන පලක් නැත

අවස්ථාව ලද විට භාවනා නොකර පසුව අසනීප වූ විට, වයසට ගිය විට, දුබලව ගිය විට, මරණාසන්නව මරණ මඤ්චකයෙහි වැද හෙවත විට, සතර අපායන්ගෙන් එකකට වැටී සිටින විටකදී එදා භාවනා නොකිරීම ලොකු වැරැද්දකි! ලොකු වැරැද්දකි!! යි පශ්චාත්තාපයට පත් වන්නේය. වැරදී ගිය පසුවම වැරදි බව දැන ගන්නේ මෙසේ සංවේගයට පත් වී පශ්චාත්තාපයට පත්වීම සිදු නොවීම පිණිස පහත දක්වෙන අනුශාසනයට ගෞරවයෙන් අවධානය යොමු කරන්න.

**ඣායථ භික්ඛවෙ, මා පමාදත්ථ**
**මා පච්ඡා විප්පටිසාරිනො අහුවත්ථ**
**අයං වො අම්හාකං අනුසාසනී.** [ම. නි. 298]

**භික්ඛවෙ** = මහණෙනි!

**ඣායථ** = විපස්සනා භාවනා කරවු, මනසිකාරය පැවැත්වීම කරවු, සමථ-විපස්සනා භාවනා කරවු.

**මා පමාදත්ථ** = පමා නොවවු, මනසිකාරය පැවැත්වීමෙන් තොර නොවවු,

**පච්ඡා** = වටිනා අවස්ථාව අත හැරලීමෙන් පසු

**විප්පටිසාරිනො** = කළ යුතු ධ්‍යාන භාවනා හෝ මනසිකාරය නොකර වැරදී ගියේ යැයි පශ්චාත්තාපයට, විපිළිසර බවට

**මා අහුවත්ථ** = පත් නොවවු

**අයං** = මේ ප්‍රකාශ කරන්නට යෙදුණු කථාව

**වො** = තොපට

**අම්හාකං** = (සර්වඥ වූ) අපගේ

**අනුසාසනී** = නැවත නැවතත්, වරින් වර කරන අනුශාසනාවයි.

## තමා විසින් වටහා ගත්තෙහිද?

බුදුරජාණන් වහන්සේ විසින් වදාළ ධර්මය සත්‍යය වූත් උතුම් වූත් සමය්‍යක් වූත් **ස්වාක්ඛාත** ගුණයෙන් සම්පූර්ණයහ. තමා විසින් ඇස්පනා පිට දැක බලා ගත හැකි **සන්දිට්ඨික** ගුණය අතින් සම්පූර්ණය. කාල අන්තරයක් නොයවා වහා වහා ප්‍රතිඵල දිය හැකි වූ **අකාලික** ගුණය අතින් සම්පූර්ණ කොට දේශනා කොට ඇත. එන්න, භාවනා කොට බලන්න! එවිට ධර්මයේ හොඳ බව-උතුම් බව ඔබම දැන ගනීවි යයි ආරාධනා කිරීමට සුදුසු වූ **ඒහිපස්සික** ගුණය ආදී ගුණ වලින් පිරිපුන් යැයි තමා විසින්ම දැක දැන නිශ්චය කරන ලද්දේ ද?

## සිත දුර්වල කර නොගත යුතු

බාහිර වූ සංකර ක්‍රම අනුව භාවනා කොට සතුටුදායක ප්‍රතිඵල ලබාගත නොහැකිව පසුවන්නේ නමුදු සිත දුර්වල කර නොගත යුතු. මේ ග්‍රන්ථයෙහි පෙන්වා දෙන ක්‍රමයට අනුව දින 7 ක් හෝ දින 15ක් වේවා මාසයක් වේවා ආචාර්යවරයෙකු සමීපයේ භාවනා ක්‍රමය උගෙන ක්‍රමානුකූලව භාවනා කොට බලනු මැනවි. සතුටුදායක මට්ටමකට විශේෂ ඥාණ වැඩී එන හැටි තමාට ම දැක බලා ගත හැකි වී එහි හොඳ ගුණ අතින් සම්පූර්ණ වන බව තමාගේ ම ඥාණ ශක්තියෙන් දැක - දැන ගෙන තීරණයකට එළඹීමට හැකි වේවි.

## සැහැල්ලුවට නොසලකත්වා

තත්වය මෙළෙස නිසා ග්‍රන්ථ කර්තෘ පෙන්වා දෙන අර්ථයන් සහ උපුටා දක්වන සාධක (ත්‍රිපිටක) පාළි අට්ඨ කථා ටීකාවන්හි දැක්වෙන අර්ථයන් ද හරි හැටි ක්‍රමානුකූලව නිරවුල්ව අවබෝධ වනු පිණිස යෝනිසො මනසිකාරය පෙරටු කරගෙන මේ විපස්සනා නයප්‍රකරණය = විපස්සනා භාවනා ක්‍රමය මුල, මැද, අග සියල්ලම කියවා හදාරා බැලීමට ගැඹුරින් සිතට ගනිත්වා! සිත්හි දරා ගනිත්වා!

## බලාපොරොත්තු කඩ කරගෙන නොසිටිය යුතු

මෙම ග්‍රන්ථයේ නොවැටහෙන පාළි, බර-සාර අර්ථ දැක නොතේරේ යැයි සිතා බලාපොරොත්තු කඩකර ගත යුතු නැත. "මේවා මට වඩා දැනුම

වැඩි බහුශ්‍රැත ඇත්තන්ට ගැළපෙන තරමටයි ලියලා තියෙන්නේ" යැයි සලකා නොගත යුතු. එසේ නොතේරෙන කොටසක අර්ථය දැනගනු කැමති නම් තමන්ට වඩා දැනුම් තේරුම් ඇති පුද්ගලයන් වෙත ගොස් ප්‍රශ්ණ කිරීමෙන් තේරුම් බේරුම් කරගත යුතුය.

## වැටහෙන නිසා තේරුම් දක්වා නැත

ග්‍රන්ථය සංක්ෂිප්ත කිරීම පිණිස බහුශ්‍රැත ඇත්තන්ට ගෝචරවන ලෙසට පරිවර්තනය කොට ඇති පාළි කොටස් තේරුම් ගැනීම එවැනි බහුශ්‍රැත ඇත්තන්ට නම් පහසු වනු ඇති. සතිපට්ඨාන සූත්‍ර පාළි සම්බන්ධයෙන් වනාහී පද අරුත් දක්වන සන්න ග්‍රන්ථ දුර්ලභ නැති නිසා අවශ්‍ය ඇත්තන් සියළු දෙනා එමඟින් විස්තර දැන ගනු ඇති.

## ලියන ක්‍රමය හා ග්‍රන්ථයේ භාවිතා වන භාෂාව

සමහර තැන් වලදී සම්ප්‍රදායානුකූලව භාවිතා වන ශාස්ත්‍රීය ලේඛණ ක්‍රමය භාවිතා නොකර වචනයේ ශබ්දය නිවැරදි බවට පමණක් සහතික කොට ලියමි. (මේ සඳහා මුල් බුරුම පොතේ උපමා දක්වා ඇත) ශාස්ත්‍රීය ග්‍රන්ථ භාෂාව භාවිතා නොකර තේරුම් ගැනීමට පහසු දේශීය ව්‍යවහාර භාෂාවට අනුව ලියමි. මේ ස්වරූපය විශේෂයෙන් පරිච්ඡේද අංක 05 හි ප්‍රකටය. බුදුරජාණන් වහන්සේ ද ඒ කාලයේ ශාස්ත්‍රීය භාෂාව වූ සංස්කෘත භාෂාව භාවිතා නොකර ගැමියන් ද, ළමයින් ද තේරුම් ගන්නා වූ, බහුලව භාවිතා කරන්නා වූ මාගධි භාෂාවෙන් ම ධර්මය දේශනා කළ සේක. එසේ කිරීමෙන් මෙම ව්‍යවහාර භාෂාවට ද ගරු කළා වන්නේය. සංකර වන්නේය, ලාමක තත්ත්වයට පත්වන්නේ යැයි අවතක්සේරු නොකරත්වා.

## දැනුම (=සුතය) අඩු ඇත්තන් සඳහා

බහුශ්‍රැත භාවය, දැනුම අඩු ඇත්තන් පරිච්ඡෙද අංක හතර හා පරිච්ඡෙද අංක පහ පමණක් විශේෂ උනන්දුවකින් කියවා හදාරත්වා. මේ පරිච්ඡෙද දෙකෙහිම අන්තර්ගතය අංක පහ දරණ පරිච්ඡේදයෙහි සංක්ෂිප්ත වී ඇත. මේ අනුව පස්වන පරිච්ඡේදය පමණක් වුව උනන්දුවෙන් කියවා වටහා ගතහොත් මඟ - ඵල- නිවන් මේ භවයේදීම ලබා ගන්නා තරමට විපස්සනා භාවනාව සෘජු කිරීමට එය තරම් වනු ඇති.

*අවවාද කථාව නිමියේ යැ.*



# භික්ෂූන්ගේ ශීල විශුද්ධිය

## ශීලයේ පිරිසිදු බව හෙවත් පිරිසිදු වූ ශීලය

**සීල විසුද්ධි නාම සුපරිසුද්ධං පාතිමොක්ඛ සංවරාදි චතුබ්බිධං සීලං** යන විශුද්ධි මාර්ග දක්වීමට අනුව හාත්පස හොඳින් පිරිසිදු වූ පාතිමොක්ඛ සංවර ශීලය ආදී කොට ඇත්තා වූ සිවු පිරිසිදු ශීලය ශීල විශුද්ධිය නම් වේ. සමාන්‍ය ආකාරයට මෙලෙස දක්වුව ද භික්ෂූන්ගේ ශීල විශුද්ධිය හා ගිහියන්ගේ ශීල විශුද්ධිය වශයෙන් දෙකකට බෙදා විස්තර දත යුතු, භික්ෂූන්ගේ ශීල විශුද්ධිය ඉතා පුළුල්ය. මේ ග්‍රන්ථයේ සියල්ල ආවරණය වන ලෙසට නමුත් සංක්ෂේපයෙන් ඉදිරිපත් කරන්නෙමු. භික්ෂූන් වහන්සේ පාතිමොක්ඛ සංවර, ඉන්ද්‍රිය සංවර, ආජීව පාරිශුද්ධි, පච්චය සන්නිස්සිත යන මේ ශීල සතර හාත්පස පිරිසිදුවන ලෙසට රැකිය යුතුය. මේ හතර තුළින් බුද්ධ ආඥා ප්‍රඥප්තිය වන විනය සික්ඛා පද කාය-වචී වශයෙන් නොබිඳී යන ලෙසට රැකීම පාතිමොක්ඛ සංවර ශීලය නම් වේ. රකින්නා විවිධ බිය - දුක් වලින් මුදාලිය හැකි හික්මීම ශීලය නම් වේ.

## ශීලයේ පිරිසිදු බව

මේ ශීලය පිරිසිදු කිරීමේදී **"අනුමත්තෙසු වජ්ජේසු භය දස්සාවි, සමාදාය සික්ඛති සික්ඛාපදේසු"** යන ආකාරයට අනුමාත්‍ර වූ දුක්කට, දුබ්භාසිත ආපත්තියක් පවා මාර්ග-ඵලයන්ට පත්විය නොහැකි වන ලෙසට අන්තරාය කර නිසා ද, අපායට ඇද දැමීමට හැකිවීම වශයෙන්ද ඉතා බිය ජනක යැයි සිතට ගෙන සියලු ශික්ෂා පදයන් නොබිඳින, නොඉක්මවන ලෙස ආරක්ෂා කළ යුතු. ආපත්තීන්ට පත් නොවන අයුරින් රැකිය යුතු බව කියවේ. ඉදින් පත්වූ යම් ආපත්ති ඇත්තේ වී නම් ගිනි අඟුරක් ඇල්ලූ ළමයෙකු වහාම එය අතින් බැහැර කරන්නා සේ එම ආපත්තිවලට වහාම ප්‍රතිකර්ම කළ යුතුයි. පරිවාස - මානත් ගැනීම්, **නිස්සග්ගිය පච්චය** = අධාර්මික ප්‍රත්‍යය ඇතිනාක් බැහැර

කොට දේශනා කිරීමෙන් පිරිසිදු විය යුතු යැයි යන්න අදහසයි. මෙලෙස පත් වූ ආපත්ති විනයානුකූලව ප්‍රතිකර්ම කොට, නැවත ආපත්තීන්ට පත් නොවන ලෙස ආරක්‍ෂා වන භික්‍ෂූවගේ ප්‍රාතිමොක්‍ෂ සංවර ශීලය හාත්පසින් පිරිසිදු වුනා වන්නේය.

ඉන්ද්‍රිය සංවර ශීලය පුළුල් නිසා පසුව විස්තර කරන්නෙමු. සිවුරු, පිණ්ඩපාත මුල්කොට ඇති ප්‍රත්‍යයන් සතර අසාධාරණ ක්‍රම වලින්ම නොසොයා, සාධාරණ ධාර්මික ක්‍රම වලින් සපයාගෙන භාවිතා කිරීම ආජීව පාරිශුද්ධි ශීලය නම් වේ. හාත්පස පිරිසිදු වූ ආජීවය හා සම්බන්ධ ශීලය මෙයින් කියනු ලැබේ. ප්‍රධාන වශයෙන් **"පච්චය පරියෙසන වායාමො"** නම් වූ විශුද්ධි මාර්ගයට අනුව; ප්‍රත්‍යයන් ධර්මානුකූලව ම සෙවීමට කරන උත්සාහයයි. අසාධාරණ ක්‍රම වනාහි බොහෝය. විශුද්ධි මාර්ගය බලා දැන ගන්න. අසාධාරණ ක්‍රමයන් මඟින් ප්‍රත්‍යය සොයන භික්‍ෂූව **පාරාජික, සංඝාදිසේස, ථුල්ලච්චය,** දුක්කට ආදියෙන් (අදාළ) එක්තරා ආපත්තියකට පත්වේ. බහුල වශයෙන් දුක්කට ආපත්තීන්ට පත් වේ. **නිසග්ගි** වූ ප්‍රත්‍යය පාවිච්චි කිරීමෙන් ද දුක්කට ආපත්තීන්ට නැවත නැවතත් පත් වේ. මෙලෙසට ආපත්තීන්ට පත්වූයේ නම් පාතිමොක්ඛ ශීලයෙන් ද පිරිහෙන්නේය. සග්ගන්තරාය, මග්ගන්තරාය යන අන්තරාවන් දෙකටම පත් වේ. කියන ලද ක්‍රමයන්ට අනුව ප්‍රතිකර්ම කළ විට ප්‍රාතිමොක්ඛ ශීලය අතින් නැවත පිරිසිදු විය හැක්කේය. සග්ගන්තරාය මග්ගන්තරායයන් ගෙන් මිදිය හැක්කේය. මේ නිසා මේ ආජීවය සම්බන්ධව ශීලය අතින් ද ඒකාන්තයෙන් පිරිසිදු විය යුතුය.

**පච්චය සන්නිස්සිත ශීල**-යනු "සීත-උෂ්ණ දුරු කිරීම සඳහා මේ සිවුරු පරිහරණය කරන්නෙමි"යි ආදී ලෙසට සිවුරු-පිණ්ඩපාත-සේනාසන -ගිලන් පස යන මේවා භාවිතා කරන අවස්ථාවේදී ක්‍රමානුකූලව ප්‍රයෝජන අනුව ප්‍රත්‍යවේක්‍ෂා කර බැලීමයි. මේ ශීලය පිරිසිදු වීමට උක්ත ප්‍රත්‍යය සතර භාවිතා කරන වාරයක් වාරයක් පාසා ප්‍රයෝජන සලකා ප්‍රත්‍යයවේක්‍ෂා කළ යුතුය. පිණ්ඩපාතය සඳහා පිඬක් - පිඬක් පාසා ප්‍රත්‍යවේක්‍ෂාව නොකරම අරුණ නැග්ගේ නම්, ඉණ පරිභෝගය-ණයට ගෙන භාවිතා කළා හා සමාන යැයි අට්ඨකථා වන්හි දැක්වේ.

## ඉණ පරිභෝගය :-

ඉණ පරිභෝගය යැයි කියන තැන ප්‍රත්‍යය හිමි දායකයන්ට පසු භවයේහිදී නැවත ගෙවිය යුතු යැයි යන්න අදහස් නොකෙරේ. ඇත්ත වශයෙන් නම් ණයට ගෙන පාවිච්චි කළා හා සමාන නිසා ඉණ පරිභෝග යැයි කියනු ලැබේ. කෙසේද යත්, ශීලය අතින් සම්පූර්ණ, භික්ෂූන්ට පූජා කරන ලද දානය "ප්‍රතිග්‍රාහක පක්ෂයේ පිවිතුරු දක්ඛිණා විශුද්ධිය - දානය පිරිසිදු වීම සඳහා වූ ශීල අංගයන්ගෙන් සම්පූර්ණ බැවින්" අංග සම්පූර්ණ ලෙසට ඵල දිය හැක්කේය. ප්‍රත්‍යවේක්ෂාවෙන් තෝරව පරිභෝග කරන භික්ෂූවගේ **පච්චය සන්නිශ්‍රිත ශීලය** නොපවතින නිසා එම දක්ඛිණා විශුද්ධි අංගය සම්පූර්ණ නොවේ. එම නිසා එසේ වූ භික්ෂූවට දෙන ලද දානය අංග සම්පූර්ණ ඵල ගෙන නොදේ. එබැවින් පූජා කරන දායකයාට දානයේ ඵල නිසි පරිදි නොඵලවන නිසා ණයට විකිණීමක් හා සමාන වේ. ප්‍රත්‍ය වේක්ෂාවෙන් තොරව පරිභෝග කරන භික්ෂූවට ද දානයේ ඵල අංග සම්පූර්ණව ලබා නොදෙන නිසා ණයට ගෙන පරිභෝග කරන්නා හා සමානය. එම නිසා ඉණ පරිභෝගය වන්නේ යැයි අට්ඨ කථාවෙහි කියනු ලැබේ. පහත සඳහන් මහා ටීකා පාඨය බලන්න.

**ඉණ වසෙන පරිභොගො ඉණ පරිභොගො, පටිග්ගහකතො දක්ඛිණා විසුද්ධියා අභාවතො ඉණං ගහෙත්වා පරිභොගො වියාති අත්ථො** [මහා ටී. (බු) 2-72]

**ඉණ වසෙන** = ණය වශයෙන්,

**පරිභොගො** = පරිභෝග කරත්නුයි,

**ඉණ පරිභොගො** = ණය පරිභෝග නම් වේ.

**පටිග්ගාහකතො** = ප්‍රතිග්‍රාහක පැත්තෙන්,

**දක්ඛිණා විසුද්ධියා** = දානය පිරිසිදු කරන ශීලය,

**අභාවතො** = නොමැති බැවින්, අසම්පූර්ණ බැවින්

**ඉණං ගහෙත්වා** = ණයට ගෙන,

**පරිභොගො විය** = පරිභෝග කරන්නා සේයැ

**ඉති අත්ථො** = මේ වනාහි **ඉණ පරිභොග** යන පදයෙහි අර්ථයයි.

එසේ වන්නේ නම් **"යථා ඉනායිකො අතතනො රුචියා ඉච්ජිත දෙසං ගනතුං න ලභති. එවං ඉණ පරිභොග යුතෙතා ලොකතො නිසසරිතුං න ලභති"** යන මහා ටීකා [සි. 1/61] පාඨය කෙසේ සලකා ගත යුතු දැයි, නුවණින් සලකා නොබලා පරිභෝග කරන, ඉණ පරිභෝගයේ නිතර යෙදෙන භික්ෂුවගේ ප්‍රත්‍යයන් කෙරෙහි බැඳෙන කෙලෙස් නොසිඳී පවතී. මෙම බැඳීම නිසා මරණින් මතු දුගතියට පත්විය හැක්කේය. මෙළෙස අපායට වැටිය හැකි බව සලකා "ඉණ පරිභෝගයේ යෙදෙන භික්ෂුව ලෝකයෙන් මිදීමක් නොලබයි. මිදීමට ඉඩක් නොලබයි" යන්න මහා ටීකාවෙහි දැක්වෙන්නේ යැයි දතයුතු, බැඳීම නිසා දුගතියට පත්විය හැකි බව තිස්ස ස්වාමීන්වහන්සේගේ කථා ප්‍රවෘත්තියෙන් දත යුතු.

## ඉණ පරිභෝගය යනු :-

සිවුරු පිළිබඳ බැඳිම් හෙවත් උපාදානය ඇති තිස්ස නම් භික්ෂුවක් මියගොස් එම සිවුරුවලම උකුණකුව ඉපදින. මතහ-සාංඝික වූ එම සිවුරු භික්ෂූන් අතර බෙදා දීමේදී මෙම තිස්ස නම් වූ උකුණා "මගේ වස්තුව සොරකම් කරන්නේ" යැයි කෑගසමින් සිටියේය. එම ශබ්දය අභිඥා බලයෙන් ඇසූ බුදුරජාණන් වහන්සේ එම සිවුරු බෙදන විට, තිස්ස උකුණා භික්ෂූන් වහන්සේලා සමඟ අමනාප වී නිරයට යන්නේ යැයි දක්නා ලද බැවින්, එම සිවුරු නොබෙදා නතර කළ සේක. සත් දිනක් ගතවූ තැන තිස්ස උකුණා මිය ගොස්, තුසිත දිව්‍ය ලෝකයට පත්විය. එම අවස්ථාවේදී බුදුරජාණන් වහන්සේ එම සිවුරු බෙදා දුන් බව ධම්මපද අට්ඨකථාහී දැක්වේ.

## බිය වීමට තරම් කරුණක් :-

මේ කථා වස්තුවට අනුව උකුණු භවයෙන් මිය ගිය පසු තුසිත දේව ලෝකයට යෑමේ සිද්ධිය සලකා බැලුවහොත්, බැඳීමක් නොමැති වී නම් භික්ෂු භාවයෙන් කළුරිය කිරීමෙන් අනතුරුව දේව ලෝකයට කෙළින්ම යන බව ප්‍රකටය. සිවුරු බෙදීම බුදුරජාණන් වහන්සේ නතර නොකරන ලද සේක් නම් නිරයට වැටෙන්නේය. මෙතරම් බරපතල දෙයකි උපාදානය, බිය වීමට තරම් කරුණකි. මේ අවස්ථාව සම්බන්ධ කොට පහත දැක්වෙන ගාථාව දේශනා කළ සේක.

**"අයසාව මලං සමුට්ඨිතං - තතුට්ඨාය තමෙව ඛාදති**

**එවං අතිධෝනචාරිනං - සානිකම්මානි නයන්ති දුග්ගතිං"** [ඛු. නි. 1/84]

| | | |
|---|---|---|
| **අයසා** | = | යකඩ ගුලියකින්, යකඩ දණ්ඩකින් |
| **සමුට්ඨිතං** | = | හටගත් |
| **මලං** | = | මලකඩ |
| **තතො උට්ඨාය** | = | එම යකඩයෙන් ම ඉපිද |
| **තං එව** | = | එම යකඩය ම |
| **ඛාදති ඉව** | = | කා දමන්නේ යම්සේද |
| **එවං** | = | එළෙස |
| **අතිධෝන චාරිනං** | = | ප්‍රත්‍යවේක්ෂා ප්‍රඥාව ඉක්මවා කටයුතු කරන්නා |
| **වා** | = | ප්‍රත්‍යවේක්ෂා නොකොට පරිහරණය කරන්නා |
| **සානි** | = | තම සන්තානයේ ඇති |
| **කම්මානි** | = | උපාදානය ආදී කර්මයෝ |
| **දුග්ගතිං** | = | අපායට |
| **නයන්ති** | = | පමුණුවත්, |

මෙහිලා සමහරෙක් ඉණ පරිභෝගය කළේ වී නම් ප්‍රත්‍යය අයිති කරුට ණය නැවත ගෙවිය යුතු බැවින් මාර්ග ඵලයන් ලබා ගැනීමට නොහැකි වන්නේ යැයි මත පල කරති. එසේ වූ මත, අදහස් පාළි - අට්ඨකථාවන් හි කිසිත් නැත. ඒ අනුව ටීකාචාර්‍යයන් වහන්සේ බුදුරජාණන් වහන්සේට විෂය වන දේ එම අදහස සඳහා දක්වනවා නොවේ. එය වනාහි කළ යුත්තක් ද නොවේ.

## නොගැළපෙන බව

සමහර ආචාර්‍යයින් වහන්සේලාගේ පිළිගැනීමට අනුව දක්වතොත්, ඉණ පරිභෝගය, ථෙය්‍ය පරිභෝගය හා පාරාජිකා ආපත්තීන්ට වඩා බර පතලය! මක් නිසාද යත්, පාරාජිකාවට හෝ ථෙය්‍ය පරිභෝගයට පත් ඇත්තන්ටත් ගිහි හෝ සාමණේර වී මාර්ග-ඵල ලබාගත හැකි වීමයි. පහත සඳහන් වන්නේ අංගුත්තර නිකායේ අට්ඨකථා දැක්වීමකි.

**ඉමං පන දෙසනං සුත්වා ජාතසංවෙගා ඨානං ජහිත්වා සාමණෙර භූමියං ඨිතා දස සීලානි පුරෙත්වා යොනිසො මනසිකාරෙ යුත්තපපයුත්තා කෙචි සොතාපන්නා කෙචි සකදාගාමිනො, කෙචි අනාගාමිනො අහෙසුං, කෙචි දෙවලොකෙ නිබ්බත්තිංසු එවං පාරාජිකා පන්නානම්පි සඵලා අහොසි** [අං. අ. 1/39]

පාරාජිකා ආපත්තියට පත් භික්ෂූන් වහන්සේලා හැට නමක් අග්ගික්ඛන්ධොපම සූත්‍ර දේශනාවට ඇහුම්කන් දීමෙන් පසුව සාමණේර බවට පත් වී භාවනා කොට සමහරෙක් දෙනා සෝවාන්, සමහරෙක් දෙනා සකෘදාගාමී, සමහරෙක් දෙනා අනාගාමී බවට ද සමහරෙක් සුගතිගාමී වූ බැව් ද, ඉහත සඳහන් අට්ඨකථාහී දැක්වේ. එම භික්ෂූන් වහන්සේලා හැට නම පාරාජිකා ආපත්තියට පත් වී ඇති බව දැක එම සූත්‍රය දේශනා කිරීමට බුදුරජාණන් වහන්සේ චාරිකාවෙහි වැඩි බවත්, ගමන මඟක් පමා කොට නතර වී සූත්‍රය දේශනා කළ බවත් අට්ඨකථා හී දැක්වෙන නිසා, එම භික්ෂූන් මෙන් බරපතල ආපත්තීන්ට පත් වූවන්ට ද ථෙය්‍ය පරිභෝගය කරන්නවුන් ද මාර්ග-ඵල ලබා ගත හැකි වී නම්, ප්‍රාතිමෝක්ෂ සීලය ආරක්ෂා කරන භික්ෂූවකට ඉණ පරිභෝගය නිසාම මාර්ග-ඵල ලැබිය නොහැකි යැයි කීම කෙසේ නම් වටනේද? නොකීමම වටින්නේය.

තව දුරටත් මෙම ප්‍රත්‍යය ප්‍රත්‍යවේක්ෂාකොට පරිභෝග කිරීම සම්බන්ධව දේශනාව විනය ප්‍රඥප්තිමය ආඥා දේශනා නොවෙත්, සූත්‍ර දේශනාවෝය. මෙසේ බැවින් ප්‍රත්‍යවේක්ෂා නොකොට පරිභෝග කිරීම ආඥා ප්‍රඥප්තිය කැඩීමක් වශයෙන් ආඥා වීතික්කම අන්තරාවට පත් කරවන්නක් නොවේ. අනෙකුත් අන්තරාවන්ට ද අයත් නොවේ. එම නිසා ඉණ පරිභෝගය දුක්කට ආපත්තියක් තරම්වත් වරදක් ඇතැයි කිව නොහැක.

ගිලන්පසක් අසිහියෙන් පරිභෝග කළහොත් ආපත්තිවේ යැයි අට්ඨ කථාහි දැක්වෙන බැවින් පච්චය සන්නිශ්‍රිත සීලය බිඳීම වශයෙන් හෝ ආපත්තියක් නොවන්නේ දැයි ප්‍රශ්ණයක් නඟී. ආපත්ති නොවන්නේය. එසේ වන්නේ නම් එම අට්ඨ කථා දැක්වීම කෙසේ දැරිය යුතුද? ගිලන්පස රෝග හේතුවක් ඇතොත් භාවිතා කිරීමට අනුදැන වදාරා ඇත. නමුදු හේතු ඇති බව දන්නේ නම් පමණක් පරිභෝග කිරීම වටී. හේතු ඇති බව නොදැන පරිභෝග කිරීම, අකාරණයෙහි ආහාර සඳහා පරිභෝග කළා හා සම වන්නේය.

එම නිසා **"යාම කාලිකං සත්තාහ කාලිකං යාව ජීවිකං ආහරත්ථාය පටිග්ගණ්හාති ආපත්ති දුක්කටස්ස අජ්ජොහාරෙ අජ්ජොහාරෙ ආපත්ති දුක්කටස්ස."** (පා. පා. 1/240) යන විනය ප්‍රඥප්තියෙන් දුක්කට ආපත්තියෙකි. හේතුවක් ඇති බව දැන ගැනීම, සතිමත් වීම සහ ප්‍රත්‍යවේක්ෂාව යන මේ තුන මේ අවස්ථාවට අනුව සම වේ.

උපමාවක්:- උදය කාලයේ වුව ද අරුණ නැඟීමට කලින් යැයි යන සංඥාවෙන් හෝ "විකාලය" වන සංඥාවෙන් යාවකාලික භෝජනයක් වළඳන්නේ ශික්ෂාපදය කැඩුවේය. යන සංඥාව නිසා **"කාලෙ විකාල සඤ්ඤී ආපත්ති දුක්කටස්ස"** යන දේශනාවට අනුව ආපත්තියකට පත් වේ.

එසේ වී "ගිලන් පසක් පරිභෝග කරන විට සතිමත් නොවී නම් ආපත්ති" යැයි යන කියමන විනය සිකපද ඉක්මවීමක් දැක්වීම සඳහා කියන කීමකි. ප්‍රත්‍ය සන්නිශ්‍රිත සීලය දැක්වීම සඳහා පවසන ලද්දක් නොවේ. එම නිසාම "පරිභෝග කිරීමෙන් පසු අරුණ නැඟීමට කලින් නැවත ප්‍රත්‍යවේක්ෂා කිරීමෙන් එම සීලය පිරිසිදු කළ හැකි යැ"යි ටීකා හී දැක්වේ.

තවදුරටත්, යට කියන ලද සමහරක් ආචාර්යයන්ගේ පිළිගැනීම් අට්ඨ කථාහී එන පහත සඳහන් ථෙරවාදයන්ට විරුද්ධ වේ.

## චූලනාග මහාථෙර වාදය

**තිපිටක චූලනාගත්ථෙරා පනාහ - පාතිමොක්ඛ සංවරොව සීලං, ඉතරානි තීණි "සීල"න්ති වුත්තට්ඨානං නාම නත්ථීති වත්වා, තං අනනුජානන්තො ආහ- ඉන්ද්‍රිය සංවරො නාම ඡද්වාර රක්ඛණ මත්තමෙව, ආජීව පාරිසුද්ධි ධම්මෙන සමෙන පච්චයුප්පත්ති මත්තං, පච්චය සන්නිස්සිතං පටිලද්ධ පච්චයෙ ඉදමත්ථන්ති පච්චවෙක්ඛිත්වා පරිභුඤ්ජන මත්තං, නිප්පරියායෙන පාතිමොක්ඛ සංවරොව සීලං, යස්ස සො භින්නො, අයං "ඡින්නසීසො විය පුරිසො හත්ථ පාදෙ" සෙසානි රක්ඛිස්සතීති න වත්තබ්බො, යස්ස පන ආරොගො, අයං "අච්ඡින්න සීසො විය පුරිසො ජීවිතං" සෙසානි පුන පාකතිකානි කත්වා රක්ඛිතුං සමත්ථො'ති.** [සං. අ. 2/262]

පරිවර්තනය

ත්‍රිපිටකධර චූලනාග මහා තෙරුන් වහන්සේ මෙසේ දක්වයි. ප්‍රාතිමෝක්ෂ සංවරයම ශීලය වේ. ඉතිරි තුන ශීලය යැ"යි කියන තැනක්

පාළියෙහි කිසිත් නොපෙනෙන්නේ, යැයි දක්වා, ඇතැයි යන කථාවට ඉඩක් නොතබමින් කරුණු දක්වනුයේ ඉන්ද්‍රිය සංවර යන්න හුදු ද්වාර හය සංවර කිරීමයි. ආජීව පාරිශුද්ධිය යන්න ධාර්මික ලෙසට ප්‍රත්‍යය ඉපයීමයි. ප්‍රත්‍ය සන්නිශ්‍රිත යන්න ලද ප්‍රත්‍යය, හුදු සීත - උෂ්ණසුම පිටුදැකීම ආදී ප්‍රයෝජනයෙන් සලකා පරිභෝග කිරීම යැයි දක්වා, නිෂ්පරියායෙන් = ඒකාන්තයෙන් දක්වතොත් ප්‍රාතිමෝක්ෂ සංවරයම ශීල නම් වේ. යමෙක් ප්‍රාතිමෝක්ෂ සංවර ශීලය බිඳී ද ඔහුට ඉතිරි සිල් තුන ආරක්ෂා කළ හැකි යැයි නොපැනේ. උපමාවක් ලෙසඃ හිස සිඳලූ පුරුෂයෙකුට ඉතිරි අත්-පා ආදිය ආරක්ෂා කිරීමක් නොපැනෙන්නා සේයි, යමෙක් එම ප්‍රාතිමෝක්ෂ ශීලය අතින් නිරෝගී වේ ද පිරිසිදු වේ ද ඔහුට ඉතිරි ශීලයන් නිසි පරිදි ප්‍රකෘති ලෙස පිරිසිදු වනු පිණිස ආරක්ෂා කළ හැක්කේය. උපමාවක් ලෙස හිස සුන් නොමැති පුරුෂයෙකුට තම දිවිය ආරක්ෂා කිරීමට හැකි වන්නා සේයි, අදහස් දක්වයි.

මේ ත්‍රිපිටකධර චූලනාග මහාථෙර ස්වාමීන් වහන්සේ බුද්ධඝෝෂ ආචාර්‍යයන් වහන්සේට පෙරාතුව වැඩසිටි සේක. ත්‍රිපිටකධර භික්ෂුවක් වී අට්ඨකථා ආචාර්‍යයන් වහන්සේ නමක් ලෙස ගෞරවයට බඳුන් වී සිටියේය. එම නිසා මෙම මහාතෙරුන්ගේ වාදය තදින් සිත තබාගත යුතුවේ. මෙම තෙරුන් වහන්සේගේ වාදයට අනුව ප්‍රාතිමෝක්ෂ ශීලය නොකැඩී පවතී නම් ඉතිරි සිල් තුන් වර්ගයන් කෙසේ දුර්වල වී ගියත් පිළියම් කළ හැක්කේය. සුව කළ හැක්කේය. ප්‍රකෘති ලෙසට පිරිසිදු කළ විට ශීල විශුද්ධිය සිදුවී මාර්ග - ඵල ලබාගත හැකි බව නිසැකය. සමහර ආචාර්‍යයන් වහන්සේලාගේ පිළිගැනීම වනාහී "ඉණ පරිභෝගය වන්නේ නම් මාර්ග - ඵලයන් ලබාගත නොහැක්කේ යැ"යි දැක්වෙන නිසා ප්‍රත්‍ය සන්නිශ්‍රිත ශීලය වරක් බිඳිගියේ වී නම් නැවත පිළියම් කළ නොහැක්කේ යැයි කියවේ. නමුත් මේ පිළිගැනීම ඉහත සඳහන් ථෙරවාදයට විරසක වේ.

ප්‍රත්‍ය සන්නිශ්‍රිත ශීලය විස්තර කරන අට්ඨකථාහි දැක්වෙන පච්චවෙක්ඛණය **භොජනෙ මත්තඤ්ඤුතා** යන පදයන්හි විවරණ පද වශයෙන් සූත්‍ර, අභිධර්මයන්හී ද ම. නි. මූල පණ්ණාස සබ්බාසව සූත්‍රයේ ද සත්තඞගුත්තර මහා වග්ගයෙහි ද දේශනා කොට ඇත්තේය. නමුදු මේ සූත්‍ර - අභිධර්මයන්හි මූල ධර්මය සේ හෝ මෙම ප්‍රත්‍යවේක්ෂාව කෙළින්ම අරමුණු කොට හෝ

දේශනා කළ බවක් නොවන්නාහ. **භොජනෙ මත්තඤ්ඤුතා** යන නමින් ද, **පටිසෙවනා පහාතබ්බ** වශයෙන් ද, ආශ්‍රවයන් බැහැර කළ හැකි ධර්මයන් ලෙස ද යන මේ අයුරින් පමණක් දේශනා කළ සේක. එම නිසා ත්‍රිපිටකධර චූලනාග මහාථෙර විසින් මෙය ශීලය වශයෙන් ගැනෙන දේශනා පාලියක් නොවේ යැයි කියන ලදී. මූල ධර්මයන්ට අනුව පච්චවෙක්ඛනය ඤාණයක්ම, ප්‍රඥාවක්ම වන හෙයින් ප්‍රඥා ශික්‍ෂාවෙහිලා ගැනේ. මුඛ්‍ය ලෙස ශීල ශික්‍ෂාවෙහිලා නොගැනේන බව සිතට ගතයුතු වේ.

තවදුරටත් ඒ ඒ සූත්‍ර-අභිධර්ම කොටස්වල මේ ප්‍රත්‍යවේක්‍ෂාවන් දේශනා කිරීමේ අදහස වනාහී මන්තර ජපකරන්නාක් සේ කියන්නට ද නොවේ. අධිට්ඨාන විකප්පන ආදී විනය පරියාය ආකාරයක් ලෙස පරිභෝග මාත්‍රය පිණිස පමණක් ද නොවේ. ඇත්ත වශයෙන් නම් ප්‍රත්‍යය සතර සම්බන්ධයෙන් ආශ්‍රව-ක්ලේශයන් පහළ නොවීම පිණිසම වන්නේය. මේ නිසා ප්‍රත්‍යය පරිභෝග කිරීම සම්බන්ධයෙන් ලැබිය හැකි ප්‍රයෝජන ඤාණයෙන් හරි හැටි සලකා බලමින් සිවුරු ආදිය පරිභෝග කළයුතු වේ.

## මෙනෙහි කිරීමෙන් ද ප්‍රත්‍යවේක්‍ෂා කෘත්‍යය සිදු වේ

**පටිලාභ කාලෙපි හි ධාතු වසෙනවා පටික්කූල වසෙනවා පච්චවෙක්ඛිත්වා ඨපිතානි චීවරාදීනි තතො උත්තරි පරිභුඤ්ජන්තස්ස අනවජ්ජොව පරිභොගො, තථා පරිභොග කාලෙපි......** යැයි විශුද්ධි මග්ග (33 පිට), අනුව ධාතු සතර, රූප-නාමයන් වශයෙන් විපස්සනා භාවනා කරන පුද්ගලයාට ප්‍රත්‍යය ලබන අවස්ථාවේ පරිභෝග කරන අවස්ථාවේ මෙනෙහි කිරීම මගින් ද ප්‍රත්‍යවේක්‍ෂා කෘත්‍යය සම්පූර්ණ වන්නේ යැයි සැලකිය යුතු. විස්තර ඉදිරියේ ගිහි ශීලය කොටසෙහි බලාගන්න.

එම නිසා ප්‍රයෝජන සලකා හෝ භාවනා මනසිකාරයක් අනුව හෝ වේවා. සිවුපස පරිභෝග කරන භික්‍ෂුව ගේ ප්‍රත්‍යය සන්නිශ්‍රිත ශීලය අඩුවක් නැතිව පිරිසිදු වීම වන්නේය.

## ඉන්ද්‍රිය සංවර

සය දොරෙහි සය අරමුණු පහළ වී විඤ්ඤාණ සය මගින් දැන ගන්නා විට කෙලෙස් වැද ගැනීමට අවස්ථාවක් නොතබා සතිමත් වීම මගින්

දොරවල් වසා දමා රැකගැනීම ඉන්ද්‍රිය සංවර නම් වේ. මේ ශීලය පවිත්‍රව රැක ගැනීම, ආරක්‍ෂා කිරීම සම්බන්ධව චක්ඛුද්වාරය පමණක් උදාහරණ වශයෙන් ගෙන දක්වන්නෙමු. ඉතිරි ද්වාරවල ද එසේම යැයි සලකා ගන්න.

**"චක්ඛුනා රූපං දිස්වා න නිමිත්තග්ගාහී හොති නානුබ්‍යඤ්ජනග්ගාහී"**

යනාදී වූ පාළියට අනුව ඇසින් රූපයක් දැක කෙලෙස් පහළ කරවන සුළු වූ ස්ත්‍රී සටහන්, පුරුෂ සටහන් ආදියට සිත නොයෙදිය යුතු **"දිට්ඨමත්තෙයෙව සණ්ඨාති"** යන අට්ඨකථාවට අනුව රූපය දකින පමණින් සිත නතර කළ යුතුයි. ටීකාහි දැක්වෙන ලෙසට, **"දිට්ඨෙ දිට්ඨ මත්තං භවිස්සති** යන පාළියට අනුව රූපයක් දකින අවස්ථාවේ රූපයේ දැකීම පමණින් සිත නතර විය යුතුය. එය ඉක්මවා මනාප-අමනාප භාවයන් අනුව සිත නොදුවවිය යුතුයැයි කියවේ.

විෂභාග වන්නා වූ ස්ත්‍රී-පුරුෂයන්ගේ මුහුණ, අත පය ආදිය සලකමින් නැවත නැවත සිත යෙදුවහොත් රාග ආදී කෙලෙස් ප්‍රකටවම පහළ විය හැක්කේය. රාග කෙලෙස් ආදී ප්‍රකටව පහළ කරවිය හැකි එම මුහුණ, ඇහි බැම, ඇස් බෝල. නාසය, තොල, පපු පෙදෙස, උදරය, අතපය යනාදි ශරීර අංගයන් අනුව සිත නොයෙදිය යුතු. මඳ සිනහව, මහ සිනහව, කථා කිරීම, තොල් උල් කිරීම, රවා බැල්ම ආදී ඉරියව් අනුව සිත නොයෙදිය යුතු **"යං තත්ථභූතං තදෙව ගණ්හාති"** යන අට්ඨ කථාවන්ට අනුව දකින තැනැත්තාගේ සන්තානයේ ප්‍රකටව ඇති කෙස්, ලොම්, නිය, දත්, සම්, නහර, ඇට, යනාදීන් අනුව පමණක් සිත යෙදවිය යුතු. නැතහොත්, භූත රූප, උපාදාය රූපයන් අනුව පමණක් සිත යෙදවිය යුතු.

## සංවරය ඇතිවන නැතිවන ආකාර

අට්ඨ කථාහි දක්වන ලෙසට වීථි වශයෙන් සිත් විස්තර කොට දක්වතොත්, චක්ඛු ද්වාරයට රූපයක් ආපාථගත වූ විට සලකා බැලීම කරන= *ආවර්ජන* සිත පහළ වී නිරුද්ධ වී යයි. අනතුරුව එම රූපය දක්නා *චක්ඛු විඤ්ඤාණ* සිත, බාරගෙන අරමුණු කරන *සම්පටිච්ඡන* සිත, පරීක්‍ෂාකර බලන *සන්තීරණ* සිත, වෙන් වෙන් වශයෙන් තීරණය කරන *වොත්ථපන* සිත යන මේවා පිළිවෙලින් සන්තතියක් ලෙස පහළ වී නිරුද්ධ වෙත්,

අනතුරුව ජවන සිත් පහළ වෙත්, එම ජවන සිත් වල ශීල, සති, ඤාණ, ඛන්තී, විරිය, යන සංවර ධර්ම පහ පහළ වූයේ නම් ඒ චක්ඛු ඉන්ද්‍රියෙහි සංවරය නම් වේ. චක්ඛුන්ද්‍රිය සංවර ශීලය පිරිසිදු වේ. එසේ නොවී දුශ්ශීල, මුට්ඨසච්ච, අඥ්ඤාණ, අක්ඛන්ති, කොසජ්ජ යන අසංවර ධර්ම පහ පහළ වූයේ නම් චක්ඛුන්ද්‍රියෙහි සංවරය බිඳී ගියා වන්නේය. මෙලෙස අට්ඨ කථාහි දක්වේ.

ස්වරූප වශයෙන් අදහස

සංවර අසංවර ධර්මයන්හි ස්වරූප මෙසේ දත යුතුවේ. **"ඉමිනා පාතිමොක්ඛෙන උපෙතො හොති සමුපෙතොති අයං සීල සංවරෝ"** - යන අට්ඨ කථාවට අනුව ශීල සංවර යන්න පාතිමොක්ඛ සංවර ශීලයමයි. දුශ්ශීල අසංවර යන්න මෙම ප්‍රාතිමොක්ෂ සීලයේ බිඳීමයි. ශික්ෂාපද කය-වචන යන ද්වාර දෙකින් බිඳියෑමෙන් ආපත්තීන්ට පත් වේ. මෙහිලා දුශ්ශීල්‍ය-අසංවරය යන මේවා "වීතික්කම කෙලෙස් වන නිසා පඤ්ච ද්වාරයන්හි පහළ නොවෙත්, මනෝද්වාරයෙහි ම වේ" යැයි ද ඉතිරි අසංවර හතර ද්වාර හයෙහි පහළ වේ" යැයි ද මූලටීකා, මහාටීකා හි දක්වෙන ලෙසට සලකා ගත යුතුය.

**"රක්ඛති චක්ඛුන්ද්‍රියං චක්ඛුන්ද්‍රියෙ සංවරං ආපජ්ජතීති අයං සති සංවරෝ"** යන අට්ඨ කථාවන්ට අනුව සති සංවරය යන්න නියම ඉන්ද්‍රිය සංවර ශීලය වන්නේය. මූලික වශයෙන් ද්වාර සයෙහි කෙලෙස් පහළ නොවනු පිණිස ආරක්ෂාව සලසන සති චෛතසිකයයි. **මුට්ඨස්සච්ච අසංවර** යනු අරමුණු හය හා ගැටුණ විට සතිය ගිලිහී යෑම, අමතක වීම, මතක නැති වීම වන්නේය. ප්‍රධාන වශයෙන් **"චක්ඛුන්ද්‍රියං අසංවුතං විහරන්තං අභිජ්ඣා දොමනස්සා පාපකා අකුසලා ධම්මා අන්වාස්සවෙය්‍යුං"** යන පාළියට අනුව **අභිජ්ඣා** යන්නෙන් **ලොභ** හා **දොමනස්ස** යන්නෙන් **ද්වේෂ** යන්නද දක්වෙයි. ටීකාවන්හි **මෝහයද** මෙහිලා ඇතුළත් කොට දක්වයි.

**"සොතානං සංවරං බ්‍රෑමි - පඤ්ඤායෙතෙ පිථීයරෙති අයං ඤාණ සංවරෝ"** යන අට්ඨකථාවන්ට අනුව තණ්හා, දිට්ඨි, කිලෙස, දුච්චරිත, අවිජ්ජා යන අකුසල් ප්‍රවාහය වසා දැමීමට, සහමුලින්ම සිඳ දැමීමට හැකි ආර්ය මාර්ග ඤාණය, ඤාණ සංවර නම් වේ. (චූල නිද්දෙසය පාළිය හා සුත්ත නිපාත අට්ඨ කථාවන්ට අනුවයි)

ප්‍රත්‍ය සන්නිශ්‍රිත ශීලය ද මේ ඥාණ සංවරයට ඇතුළත් යැයි විශුද්ධි මාර්ගයෙහි දක්වේ. විපස්සනා ඥාණයන්ද මේ ඥාණ සංවරයෙහි ඇතුළත් වේ. හේතුව වනාහී කෙලෙස් ප්‍රවාහය ප්‍රත්‍යවේක්ෂාවෙන් බැහැර කිරීමට වඩා "ආරම්මණානුසය පටන් තදංග පහාණ වශයෙන් දුරු කළ හැකි විපස්සනා මඟින්" බැහැර කිරීම වඩාත් ආරක්ෂිතය.

**"සබ්බෙ සංඛාරා අනිච්චාති ජානතො පසසතො පඤ්ඤාදායෙතෙ සොතා පිථියන්නති"** ආදී දක්වූ ලෙසට නිද්දේස පාළිය විපස්සනාවන් අදහස් කරන බව දක්විය හැක්කේය. මේවා වනාහී විපස්සනා ඥාණ සංවර යැයි කිය හැකි බවට හේතුන්ය. මේ නිසා ප්‍රත්‍යය සන්නිශ්‍රිත ශීලය, විපස්සනා ඥාණ, මාර්ග ඥාණ, ආදිය ඥාණ සංවර යැයි සලකා ගත යුතු **අඥාණ අසංවර** යන්න මෙම ඥාණ තුනට ප්‍රතිපක්ෂ මෝහ ධර්මයන්ම වෙත්,

**"ඛමො හොති සීතසස උනහසසාති අයං ඛනති සංවරො"** - යන අර්ථ කථාවට අනුව උණුසුම, සිසිල ආදිය සම්බන්ධයෙන් නොවිඳිය හැකි තරමේ වේදනාවන් පහළ වූ විට ඉවසීම, ඉතා දුරුක්ත වූ දුරාගත වචන අසන විට ද්වේශය පහළ නොකර සංවර වීම **ඛන්ති සංවරය** නම් වේ. ඇත්ත වශයෙන් අද්වේෂ චෛතසික යයි. නොඉවසන සුළු ද්වේශය **අඛනති සංවර** නම් වේ.

**"උපපනනං කාම විතකකං නාධිවාසෙති 'ති අයං විරිය සංවරො"** යැයි කියන අර්ථකථාවන්ට අනුව කාම විතක්ක ආදිය බැහැර කිරීමට උත්සාහ කිරීම විරිය සංවරය නම් වේ. ප්‍රධාන වශයෙන් **"අනුපපනනානං පාපකානං අකුසලානං ධම්මානං අනුප්පාදාය ජනදං ජනෙති වායමති"** යනාදී ලෙසට දේශනා කළේ සම්මප්පධාන විරියයි. ආජීව පාරිශුද්ධි ශීලය ද මේ විරිය සංවරයට ඇතුළත් යැයි විශුද්ධි මාර්ගයෙහි දක්වේ. කාම විතක්ක ආදිය බැහැර කිරීමට, දුරු කිරීමට වීර්‍ය්‍යය නොකර, ථිනමිද්ධයට යටවී කුසීත වීම් වශයෙන් පවත්නා වූ අකුසල චිත්තුප්පාදය **කොසජ්ජ අසංවරය** නම් වේ.

දක්වන ලද සංවර පහ තුළ ශීල සංවරය වෙනමම දක්වන ප්‍රාතිමොක්‍ෂ සංවර ශීලයමය, ඥාණ සංවරයෙහි ඇතුළත් ප්‍රත්‍ය සන්නිශ්‍රිත ශීලය හා විරිය සංවරයෙහි ඇතුළත් ආජීව පාරිශුද්ධි ශීලයන් ද වෙන්වූ ශීලයෝය. එම නිසා ශීලය සතරාකාරයට බෙදෙන මෙම ශීල විශුද්ධි අවස්ථාවෙහි උක්ත ශීල තුන් ආකාරයන් ඉන්ද්‍රිය සංවර ශීලයෙහි ඇතුළත් නොවිය යුතුය. ඇතුළත් කළ හොත් ශීල සතරක් ලෙස නොබිඳී එකම ශීලයක් වන්නේය.

එම නිසා ඉන්ද්‍රිය සංවර ශීල පාරිශුද්ධිය සති, ඥාණ, ඛන්ති හා විරිය යන ඉතිරි සංවර හතර මඟින්ම දතයුතුයි. එම සංවර හතරෙහිද ඥාණ සංවරය විපස්සනා ඥාණ, මාර්ග ඥාණයන් වන නිසා භාවනා කිරීමට කලින් පහළවීමට ඉඩක් නැත. සති, ඛන්ති, විරිය යන සංවර තුන පමණක්ම පහළවීමට අවකාශ ඇත්තාහ.

## භාවනාවට කලින් සංවර විය යුතු ආකාරය

මේ නිසා භාවනා කිරීමට කලින් ඉන්ද්‍රිය සංවර ශීල පාරිශුද්ධිය කැමති වන්නේ නම් සති, ඛන්ති, විරිය යන මේ සංවර තුන මඟින් පාරිශුද්ධිය ලැබිය යුතුය. පාරිශුද්ධිය පිණිස උත්සාහ කිරීම **"තස්ස ඉමිනා නියමිතවසෙන පරිනාමිතවසෙන සමුදාචාරවසෙන ආභුජිත වසෙන ච කුසලං නාම ජාතං හොති"** කථාව (90) මඟින් දතයුතු.

## සිත දමනය කරගන්න

"කුසල් පිණිස වන සම්‍යක් සිතුවිලි පමණක් පවත්වමි, කුසල් පිණිස වන වචන - ක්‍රියා පමණක් කියමි, කරමි. ද්වාර හයෙහි කුසල් සිත් පමණක් පහළ කරවමි, කුසල් පිණිස අඛණ්ඩ සතිය පවත්වමි, කුමන අවස්ථාවක් වුවද සිත නරක් නොකරගෙන ඉවසමි, නරක සිතුවිලි පහළ නොවනු පිණිස වැර දරමි" යැයි තමාගේ සිත දමනය කර ගතයුතුය. මෙළෙස දැඩි ලෙස අධිෂ්ඨාන කළ තැනැත්තාට අධිෂ්ඨානය සම්පූර්ණ කිරීම් වස් අකුසල් අරමුණුවලට ඉඩ නොදී, සිටිය හැක්කේය. අපේක්ෂා ද නොකරයි. එම අරමුණු පාලනයකින් තොරව ඉදිරිපත් වූයේ වී නමුදු එමඟින් අකුසල් පහළ නොකර ගන්නා තරමට වග බලාගත හැක්කේය. කුසල් පැත්තට පමණක් සිත යෙදිය හැක්කේය.

**උපමා:-** දන් දීමට බලවත් කුසල ඡන්දයක් සහිත පුද්ගලයාට දානයකට ගැළපෙන වටිනා වස්තුවක් ලැබුනහොත් පරිභෝග කිරීමට, වැළඳීමට සිත නොයෙදී දානය දෙමි'යි සිතන සිත ප්‍රථමයෙන් පහළ විය හැක්කා සේය. අනිට්ඨාරම්මණයක් හමුවේ වුවද ඉවසන්නෙමි'යි, සිතින් අධිෂ්ඨාන කරන්නේ නම් සිත නරක් නොකරගෙන ඉවසා දරාගත හැකි වන්නේය. මේවා වනාහි නියමිත ක්‍රමය අනුව පාරිශුද්ධිය ලබන පිළිවෙලයි.

### මාරු කරන්න

අකුසල් සිත් පහළ වන්නේ නම් එම සිත කුසල සිතක් වන ලෙසට මාරු කළයුතු වේ. නිදසුනක් ලෙස ස්ත්‍රියක්, දැක කෙලෙස් සිතක් පහළ වූ විටක මව හා සමාන වයස් ඇත්තියක් නම් මව ලෙසට ද සහෝදරියක් හා සමාන වයස් ඇත්තියක් නම් තමාගේම අක්කා - නංගී ලෙසට ද, කිට්ටු ඥාතිවරියක් ලෙසට ද සලකා ඇයගේ දුක්ඛිත බව සලකා අනුකම්පාවෙන්, නියම කරුණා සිතින්-සැප කැමති සිතින්, නියම මෛත්‍රී සිත පැතිරිය යුතුවේ. වෙනත් ලෙසකට දක්වතොත් එම මාගමගේ සන්තානයේ ඇති කඳුලු, කබ, සොටු, කෙල, සෙම, මළ, මූත්‍ර ආදී පිළිකුල් බව මතුකර ගනිමින් නැවත නැවතත් මනසිකාරය පවත්වමින් අසුභ සංඥාව පහළ කරවිය යුතුවේ. තවත් ක්‍රමයකට, එම මාගම හා සම්බන්ධ අරමුණ බැහැර කොට ධර්මානුකූලව සිතීම, ධර්ම සාකච්ඡා කිරීම්, දේශනා කිරීම්, බණ පොත් බැලීම්, කියවීම්, ලොකු-කුඩා වතාවත් ඉටුකිරීම ආදියෙන් ද කුසල සිත් පැත්තට මාරු කළ යුතුවේ. තවදුරටත් සතිපට්ඨාන අට්ඨකථාවල එන මූල පරිඥ්ඥා ක්‍රමය, ආගන්තුක වශයෙන් සලකා බැලීම, තාවකාලික වශයෙන් සලකා බැලීම. ස්කන්ධ, ආයතන, ධාතු ප්‍රත්‍ය වශයෙන් සලකා බැලීම ආදී මේ පටිසංඛාන නය ක්‍රමයන්ට අනුවද සලකා බැලීමෙන් අකුසල් සිත වෙනස්කර ගත හැක්කේය. පරිණාමිත ක්‍රමය සංක්ෂේප ලෙස දැක්වීමයි මේ.

### කුසල් සිත නොකඩවා පැවැත්වීම

පරියත්ති වශයෙන් පත පොත අඛණ්ඩව හැදෑරීම, හැදෑරවීම, වාචෝද්ගත කිරීම, බැලීම, සිතා බැලීම, කියවීම, සේනාසන වත ආදිය නිතිපතා සැපයීම, ධර්ම දේශනා කිරීම, ධර්ම සාකච්ඡා කිරීම, ධාර්මික කථා පමණක් පැවැත්වීම, බණ ඇසීම, ධුතාංග සමාදන්ව රැකීම, කලින් දැක්වූ මූල පරිඥ්ඥා ක්‍රමය ආදියෙන් සලකා බැලීම (ප්‍රත්‍යවේක්ෂා කිරීම) ආදී කුසල ක්‍රියාවන් නිතිපතා කළ යුත්තේය. මෙළෙස වෙහෙස නොබලා උත්සාහ කරන්නාගේ සිතේ අකුසල් පහළ වීමට ඉඩක් නොලබා ද්වාර පහේම බොහෝ සෙයින්ම කුසල් සිත්ම පහළ විය හැක්කේය. සමුදාචාර ක්‍රමය සංක්ෂේප ලෙස දැක්වීමයි.

### උචිත ලෙස මනසිකාරය පවත්වන්න

අරමුණු හය හමුවන අවස්ථාවක් පාසා යෝනිසෝමනසිකාරය ම පහළ කර ගත යුත්තේය. කුසල් පහළ වීම සඳහා සම්‍යක් ලෙසට සෘජුව

මනසිකාරය පැවැත්වීම මින් කියවේ. නිදර්‍ශනයක්: නිවැරැද්දේ නමුත් දෝෂ දර්‍ශනයට ලක්වූ විටෙක මෙළෙස සිත යෙදිය යුතුවේ. ඔහු නොදන්නා නිසා දොස් පවරන්නේය. සිතලුවක් ප්‍රකාශ කිරීම වචී සංවරය නැති කෙනාගේ ධර්‍මතාවයකි. ඉදින් ඇත්ත ඇති සැටියෙන් දැන ගත්තේ, දොස් පැවරීම වැරදි බැවින් ඔහු පසුව බොහෝ සේ පශ්චාත්තාපයට පත්වනු ඇති, මම දැන් මෙසේ දෝෂ දර්‍ශනයට ලක් වුවද මෙසේ වන්නේ වරදක් නොමැති ඇත්තන්ට "මා විසින් පෙර මෙළෙස දොස් පැවැරූ විරූ නිසාද විය හැක්කේය. පෙර කළ කර්‍ම නිසා මෙසේ විපාක ලබන්නේයැ"යි සලකා හෝ සිත නරක් කර නොගත යුතු. මෙළෙසට සුදුසු ලෙසට මනසිකාරය පැවැත්විය යුතුවේ.

තවත් ලෙසකට, දොස් පැවරීම මනුෂ්‍යයන් සියල්ලටම පාහේ පොදු ලෝක ධර්‍මයකි. බුදුරජාණන් වහන්සේ ද මෙයට බඳුන් විය. "මා වැන්නෙක් වනාහි කෙලෙසකින් එයට බඳුන් නොවී බේරෙන්නෙම්ද? මේ ලෝක ධර්‍මය ඉදිරියේ සිත පෙරළීම බොහෝ දෙනාට සාධාරණ කාරණයකි. ඉවසීමට හැකි වීම සත්පුරුෂ ගතියකි. මම වනාහී සත් පුරුෂ මාර්‍ගය අනුගමනය කළ යුතු වෙමි. බුදුරජාණන් වහන්සේගේ අනුශාසනා අනුව නම් අසත් පුරුෂයන් විසින් තමාව හරස් කියතකින් කපන්නේ නමුත් සිත නරක් නොකර ගත යුතු. සිත නරක් කරගන්නේ නම් හෙතෙම බුද්ධානුශාසනය අනුගමනය කරන්නකු නොවේ. මේ දෝෂාරෝපණය ඉවසීම, හරස් කියතකින් කපන විට ඉවසනවා තරම් දුෂ්කර නොවේ. මෙළෙසට ද උචිත ලෙස සිත යෙද විය හැක්කේය.

තවත් ආකාරයකට: දෝෂාරෝපණය කරන්නා යනු ද්වේශ ප්‍රධාන චිත්තුප්පාද හා චිත්තජ රූපයන්ම වන්නාහ. හුදු පඤ්චස්කන්ධ, නාම-රූප දෙක පමණි. දෝෂාරෝපණය කරන්නකු යැයි පුද්ගලයෙකු නොවන්නේය. එම රූප-නාමයෝ ද දෝෂාරෝපණය කරන අවස්ථාවේදී ම නිරුද්ධ වූයේය. දැන් ඒ ගැන සිත නරක් කරගත යුත්තක් නොමැතිය. දෝෂාරෝපණය කරන අවස්ථාවේ පැවති රූප-නාම නිරෝධ වූ පසුද දෝෂ සහිත වී නම් එය එම දෝෂය රූප-නාමයන්ගේ ඵල සම්බන්ධතාවය අනුව පහළ වන රූප ධර්‍ම-නාම ධර්‍ම පරම්පරාව මත වැටෙන්නේය. එසේ දැනුදු සිත නරක් කර ගෙන සිටින්නේ නම් දෙමාපියන් වෙත වූ ද්වේෂය නිසා ඔවුන් මිය ගිය පසු ඔවුන්ගේ දරු-මුණුබුරු පරපුරෙන් පළිගන්නා සේය. දෝෂාරෝපණයට ලක්වන්නා ද පඤ්චස්කන්ධයක් පමණි. එම ස්කන්ධ රූප-නාමයන් ද දැන්

මෙන්ම නිරෝධ වන්නාහ. එම රූප-නාමයන්ගේ සම්බන්ධතාවය වන දැන් පවතින රූප-නාමයන් අනුවද සිත ද්වේෂ ජනක වේ නම්, මව්පියන් සිටි කාලයේ නොහැකි නම් දරු මුණුබුරු පරපුරේ කාලයේදී පළිගැනීම හා සමානය. මෙළෙසට යහපත් ලෙසට මනසිකාරය පැවැත්විය හැක්කේය. මේ වනාහි නිදසුන් දැක්වීමක් පමණි. මෙළෙස සිත යෙදවිය හැකි ආකාර ඉතා විශාලය. මෙහිලා කුසල් සිදුවනු පිණිස සිත යෙදවීම් ආකාර ඇතිතාක් යෝනිසෝමනසිකාරයටමලා ගැනේ. මේ සම්බන්ධව නීවරණ ධම්මානුපස්සනා කොටසේ දී තව දුරටත් විස්තර දක්වන්නෙමු. ආහූජිත වශයෙන් පිරිසිදු වීමේ සංක්ෂේප ක්‍රමයයි මේ.

මේ නියමිත ආදී ක්‍රමයන්ට අනුව මෙසේ ද්වාර හයේ කුසල් සිත් පමණක්ම පැවැත්වීමෙන් ඉන්ද්‍රිය සංවර ශීලය පාරිශුද්ධියට පත්වේ. මෙළෙස උත්සාහ කරමින් සිටින්නාහට අරමුණු හය හමුවන බොහෝ අවස්ථාවල කුසල් සතියක් පහළ විය හැක්කේය. එම සතියට **සති සංවරය** යැයි කියනු ලැබේ. කලාතුරකින් අකුසල් සිත් පහළ වුවද තවදුරටත් මෙසේ වීමට ඉඩ නොතබමි යැයි සලකා මත්තට ආයති සංවරයේ පිහිටවිය යුතු. මේ ආකාර සංවරය ද ඉන්ද්‍රිය සංවර ශීල පාරිශුද්ධිය නම් වේ. උපමාඃ ආපත්ති දේශනා කිරීමෙන් ආපත්තියෙන් නිදහස් වන්නාසේය. අනිෂ්ඨාරම්මණයන් හමුවේද බොහෝ සේ දැරීමේ-ඉවසීමේ ශක්තිය මතුවන්නේය. මේ ඉවසීම **ඛන්ති සංවරය** නම් වේ. කාම විතක්ක ආදිය පහළ නොවනු පිණිස, පහළ වූ විතක්ක දුරු කරනු පිණිස වීර්යය ආරම්භ කිරීම **විරිය සංවරය** නම් වේ.

ඉහත සඳහන් ක්‍රම වනාහි හොඳ යැයිද සාමාන්‍යයෙන් බැලූ බැල්මට පහසු ලෙසද වැටහේ. නමුදු ඇත්ත වශයෙන් උත්සාහ කරන කල්හි සිතූ තරම් පහසු නැත. දුෂ්කර වන බව අත්දකිනු ඇත. මක්නිසාදයත්, භාවනා වශයෙන් පුහුණු නොකළ අවිනීත සිත ඉතා චණ්ඩය, තරඟයට මෙන් අරමුණු මතම නොසිතුවිරු ලෙසට ගැටෙන නිසා, පාලනය කළ නොහැකිව, නොයායුතු අරමුණුවලට යමින් අවිනීත ලෙස හැසිරෙයි. භාවනා මගින් දමනය නොකළ සිතේ ධර්මතාවයකි මෙය.

සිල් හතර අතින් සම්පූර්ණ පාරිශුද්ධියක් වූ විටකදීම භාවනාවට උත්සාහ කිරීම හොඳ යැයි ද, භාවනාවෙන් තොරව ඉන්ද්‍රිය සංවර ශීල පාරිශුද්ධිය

සම්පූර්ණ ලෙස ලැබිය හැකි යැයිද සමහරු කල්පනා කරති. මෙලෙස වන්නේ නම් "හුදු දැකීම් මාත්‍ර ආදියෙන් සිත නතර කළ යුතු යැයි ද ද්වාර හයෙහිම කෙලෙස් කිසිත් පහළ නොකළ යුතු" යැයි බලවත් ලෙස අනුශාසනා කරන අට්ඨකථා-ටීකාවන් ගැන හොඳින් සලකා බලන්න. ද්වාර හයෙහි අරමුණු හය ප්‍රකට වී විඤ්ඤාණ හය පහළ වන වාරයක් වාරයක් පාසා කෙලෙස් පහළ නොවනු පිණිස භාවනාවෙන් තොර වූ කවරකුට නම් සංවර විය හැක්කේද? බලවත් විපස්සනා පුද්ගලයනට නමුත් මේ කෙලෙස් පහළ විය හැකි බව සලකා එය කිසිවෙකුටත් කළ නොහැක්කක් බව සිත තබාගත යුතුය. කුමක් නිසා සංවර විය නොහැක්කේ ද යත්, ඉන්ද්‍රිය සංවරය මඟින් දුරුකළ යුතු කෙලෙස් වනාහි හුදු කායික-වාචසික දුශ්චරිත කරන වීතික්කම කෙලෙස් නොවන බැවින්ය. සමාධි-ප්‍රඥාවෙන් ම දුරුකළ හැක්කේ පරියුට්ඨාන-අනුසය ක්ලේශයෝය. ඉන්ද්‍රිය සංවරයද පරියාය ශීලයක් පමණි. ප්‍රාතිමෝක්ෂ ශීලය මෙන් නියම-මුඛ්‍ය ශීලයක් නොවේ. එම ශීලයෙහි මූලිකාංගය වන සති, ඤාණ, ඛන්ති, විරිය, යන මේවා මුඛ්‍ය වශයෙන් සමාධි - ප්‍රඥා ශික්ෂාවන්ට ඇතුළත් වන නිසා භාවනාවට ම ඇතුළත් වේ. මෙහිලා ඤාණ සංවරය නම් මග්ග ඤාණ යැයි සුත්ත නිපාත අට්ඨකථා, චූල නිද්දෙස දක්වීම් විශේෂයෙන් සැලකිය යුතු. මේ කාරණා නිසා ඉන්ද්‍රිය සංවර ශීලය භාවනාවෙන් තොරව අංග සම්පූර්ණ කළ නොහැක්කේය.

භාවනානුකූලව ප්‍රගුණ කළ සිත වනාහි ඉතා සියුම්ය. දාන්තය. පිහිටවිය යුතු වූ තැනම පිහිටයි. කැමැති තැනකට කෙලින්ම මනසිකාරය ද යොමු කළ හැක්කේය. මෙලෙස පිහිට වියයුතු වූ තැනම පිහිටීම, සියුම්, දාන්ත බව භාවනාව මඟින් ප්‍රගුණ කළ සිතෙහි ස්වභාවයයි. එම නිසා ඉන්ද්‍රිය සංවරය භාවනාව මඟින්ම පමණක් සතුටුදායක ලෙසට විශුද්ධියට පත්කළ හැක්කකි. භාවනාව යම් තාක් දියුණු ද, මුහුකුරා ඇත්ද අදාළ ශීලය ද ඒතාක් විශේෂයෙන් විශුද්ධියට පත් වේ. භාවනාව සම්පූර්ණයෙන් මේරුවිට අට්ඨකථා, ටීකාවල දක්වෙන ලෙසට ශීලය සම්පූර්ණ ලෙස විශුද්ධියට පත්වේ. එම නිසා මහා තිස්ස තෙරුන් වහන්සේ මෙන් මනසිකාරය පැවැත්විය යුතු යැයි විශුද්ධි මාර්ගයෙහි අනුශාසනා කර ඇත්තේය. එම තෙරුන් වහන්සේ අසුභ භාවනාව වඩමින් වඩින්නේ සිත් සේ සිනාසෙමින් යන මාගමක් දැක්කේ නමුදු සිත දක්ෂ ලෙස පැවැත්විය හැකි වීම අනුව දක්නා ලද දත් ඇට මතින් අට්ඨික

සංඥාව පහළ කරගෙන ප්‍රථම ධ්‍යානයට පත්විය. එම ධ්‍යානයම පාදක කොට විපස්සනා වැඩීම අනුව අර්හත් ඵලයට පත්විය. එම නිසා විශුද්ධි මාර්ගයෙහි පහත සඳහන් පෞරාණ ගාථාව උපුටා දක්වේ.

**තස්සා දන්තට්ඨිකං දිස්වා, පුබ්බ සඤ්ඤං අනුස්සරි.**

**තත්ථේව සො ඨිතො ථෙරො, අරහත්තං අපාපුණි.** [වි. ම. 16]

මේ ගාථාවෙහි **පුබ්බ සඤ්ඤං අනුස්සරි** යන පදයෙන් එම මහා තෙරුන් වහන්සේ අට්ඨික කම්මට්ඨානය පෙරාතුව ද බහුලීකෘත කරන ලද බව දක්වේ. එම නිසා එම මහා තෙරුන් වහන්සේ මෙන් මනසිකාරය පැවැත්වීමට නම් එම මහා තෙරුන් මෙන් භාවනා ප්‍රගුණතාව ඇතිව සිටිය යුතුවේ. මක්නිසාද යත්, භාවනා පුහුණුවක් පෙරාතුවම නැත්තකුට වනාහි භාවනා ප්‍රගුණ තැනැත්තකුට මෙන් දක්ෂ ලෙසට මනසිකාරය පැවැත් වීමට හැකියාවක් නොවන්නේය. භාවනා පුහුණුවක් නැති නමුදු, විශිෂ්ඨ පාරමී ඥාණ ඇත්නම් මනසිකාරය පැවැත්වීමට නොහැක්කේ දැයි ප්‍රශ්න කරන්නේ නම්ඃ විශිෂ්ඨ පාරමී ශක්ති ඇතිවිට කෙනෙකුට මනසිකාරය පැවැත්විය හැකි වුවද අසුභ යැයි මනසිකාරය පැවැත් වීම වනාහී භාවනාවක්ම වන බැවින් "ඉන්ද්‍රිය සංවරය භාවනාවෙන් තොරව සම්පූර්ණ පාරිශුද්ධියට පත්විය හැකි යැ"යි යන්න එමඟින් නො කියවේ. එම නිසා ද්වාර හයෙහි කෙලෙස් කිසිත් පහළ නොවිය යුතු යැයි දැඩි ලෙස කියන අට්ඨකථා-ටීකාවන් වනාහී භාවනා වශයෙන් ආරක්ෂා වීම අදහස් කොට ගෙන කියන ලද කථාවක්ම වේ.

එම නිසා භාවනා කිරීමට පෙරාතුව ඉන්ද්‍රිය සංවරය අතින් පාරිශුද්ධිය අවශ්‍ය නම් දක් වූ ක්‍රමයන්ට අනුව ශක්ති ප්‍රමාණයෙන් ආරක්ෂා විය යුතුය. සම්පූර්ණ පාරිශුද්ධිය වනාහි භාවනාවෙන් ම ලබා ගත යුතුය. ඉන්ද්‍රිය සංවර ශීලය අංග සම්පූර්ණව පිරිසිදු නැතිව භාවනාව ආරම්භ කිරීම හොඳ දැයි සිත අවිනිශ්චිතව කාලය නාස්ති නොකළ යුතුය. භාවනා කරන විට භාවනා චිත්තෝත්පාදයන්හි සංවර ධර්ම අංග සම්පූර්ණ වී උක්ත ශීලයද අංග සම්පූර්ණ විශුද්ධියට පත්වේ.

## සංලක්ෂ්‍යය

භික්ෂූන් වහන්සේ ප්‍රාතිමෝක්ෂ සංවර ශීලය හා ආජීව පාරිශුද්ධි ශීලය සම්බන්ධයෙන්, පෙරාතුවම අංග සම්පූර්ණ ලෙස පිරිසිදු විය යුතුවේ. මක්නිසාදයත්ඃ මේ ශීල දෙක බිඳී ගොස් ආපත්තීන්ට පත්වීමෙන් ආඥා

විතික්කම අන්තරාවට පත්වේ. මේ දෙකින්ද ප්‍රාතිමෝක්‍ෂ ශීලය ප්‍රධානය. හේතුව නම් එම ශීලය පිරිසිදු නම් ආජීවයද පිරිසිදු වන නිසාය. පිරිසිදු වන ආකාරය වනාහී: ආජීවය බිඳේ නම් ආපත්තීන්ට පත් වී ප්‍රාතිමෝක්‍ෂ ශීලයද බිඳේ. එම නිසා ප්‍රාතිමෝක්ෂය අංග සම්පූර්ණ ලෙස විශුද්ධියට පත් කරගෙන ආපත්තීන්ට හේතුවන **මිච්ඡාජීව** අතින් ආරක්‍ෂා විය යුතු. ධාර්මික ක්‍රමවලට ලබන ධාර්මික ප්‍රත්‍යය පමණක් පරිභෝග කටයුතු. එම හේතුව නිසා ආජීව පාරිශුද්ධි ශීලයද පිරිසිදු වේ.

ඉන්ද්‍රිය සංවර ශීලය හා ප්‍රත්‍යය සන්නිශ්‍රිත ශීලය යන දෙකින් හැකි නම් පෙරාතුවම අංග සම්පූර්ණව පිරිසිදු වී තිබිය යුතුය. හේතුව වනාහී පිරිසිදු වූ එම ශීලයන් නිසා *අවිප්පටිසාරය* නම් වූ සිතේ විපිළිසර බව නැතිකම ආදිය පහළ විය හැකි නිසාය. නමුදු එම සිල් දෙකෙහි කල් ඇතිව පිරිසිදු බව නැතිකම භාවනාවට කිසිම අන්තරාවක් නොකරයි. එම නිසා එම ශීල දෙක අංග සම්පූර්ණ නැති කම හේතුවක් කරගෙන භාවනා නොකර කාලය අපතේ නොහරින්න.

ප්‍රාතිමෝක්‍ෂ සංවර ශීලයත් ආජීව පාරිශුද්ධි ශීලයත් පිරිසිදු බවට පත්වූ තැන පටන් භාවනාව ආරම්භ කරන්න. භාවනා කරන අවස්ථාවේ භාවනා චිත්තෝත්පාදයන් සමඟ සිල් හතරම හාත්පසින් අංග සම්පූර්ණව විශුද්ධ වනු ඇත. මෙලෙස පිරිසිදු වීම ගිහියන්ගේ ශීලය සම්බන්ධ පරිච්ඡේදය අවසානයේ විශේෂයෙන් ප්‍රකට වනු ඇති. මෙය වනාහි භික්ෂූන්වහන්සේගේ ශීල විශුද්ධිය පහළ වන ආකාරයයි.

*භික්ෂු ශීල විශුද්ධිය කොටස නිමියේ යැ.*





# ගිහි ශීල විශුද්ධිය

ගිහියන්ගේ ශීල විශුද්ධිය වනාහි භික්ෂූන්වහන්සේගේ ශීල විශුද්ධිය මෙන් පුළුල් නොවේ. දුෂ්කර නොවේ. පඤ්ච ශීලය හෝ ආජීව අට්ඨමක ශීලය හෝ ආරක්ෂා කිරීමෙන් ද, ශීල විශුද්ධිය සම්පූර්ණ වේ. පඤ්ච ශීලය හා ආජීව අට්ඨමක ශීලය යන දෙක සමහරක් ශික්ෂාපද අනුව වෙනස් වන්නේ නමුදු ශීල විශුද්ධිය සම්පූර්ණ වීම සම්බන්ධයෙන් මේ දෙක කෙසේ සම වන්නේද යත්: ආරක්ෂා කිරීම අතින් හා විරමණය අතින් සමාන වන නිසාය.

සමාන වන ක්‍රමයː- පඤ්ච ශීලය ආරක්ෂා කරන පුද්ගලයා අංග සම්පූර්ණව ආරක්ෂා කරන්නේ නම් කෙළින්ම ප්‍රකට සිල්පද පහ පමණක් අනුව ආරක්ෂා කරනවා නොවේ. වචී කර්ම වශයෙන් සමාන වූ මුසාවාදයෙහි ඇතුළත් පිසුනා වාචා (කේළාම් වචන) ඵරුසා වාචා (පරුෂ වචන) සම්පප්ඵලාප (හිස් වචන) කීම යන මේ ඉතිරි වචී කර්ම අතින්ද ආරක්ෂා වුණා වේ. කාය කර්ම තුන, වචී කර්ම හතර යන මේවා සම්පූර්ණ ලෙසට ආරක්ෂා කරන්නා මිච්ඡාජීවයෙන් ද තොර වේමැයි. එම නිසා පඤ්ච ශීලය ආජීව අට්ඨමක ශීලයට සමාන වේ.

ආජීව අට්ඨමක ශීලය සම්පූර්ණව ආරක්ෂා කරන පුද්ගලයා ද කාමයන් කෙරෙහි මිථ්‍යාචාරය නම් වන කාමේසුමිච්ඡාචාරයෙහි ලා ගැනෙන සුරා පානයෙන් ද වැළකුණා වන්නේය. එම නිසා ආජීව අට්ඨමක ශීලය, පඤ්ච ශීලය හා සම වේ. මේ ලෙසට ආරක්ෂා කිරීම අතින් හා විරමණය අතින් සමාන බැවින් මේ ශීල දෙවර්ගයෙන් එකක් ආරක්ෂා කිරීමෙන් ශීල විශුද්ධි සම්පූර්ණ වේ. පඤ්ච ශීලය, ආජීව අට්ඨමක ශීලය යන මේවායේ ආජීවය හා සම්බන්ධ නොවන කාය කර්ම තුන හා වචී කර්ම හතර අතින් ආරක්ෂා වීම ප්‍රාතිමෝක්ෂ සංවර ශීලයයි. ආජීවය හා සම්බන්ධ කාය කර්ම තුන හා වචී කර්ම හතර අනුව ආරක්ෂා වීම ආජීව පාරිශුද්ධි ශීලය නම් වේ.

ගිහි ශීලය, භික්ෂු ශීලය සමඟ සමාන නොවේ. භික්ෂූන් මිච්ඡාජීවයට පත් වූ විටද, මිච්ඡා ආජීවය තුළින් ඉපයූ ප්‍රත්‍ය පරිභෝග කරන අවස්ථාවේදී ද වීතික්කම කිරීමේ ආපත්තියට විශේෂයෙන් පත් වේ. ආජීවය ද බිඳුනා

වන්නේය. ගිහියන්ට වනාහි දිවිපැවැත්ම සඳහා කරන කාය කර්ම, වචී කර්ම වශයෙන් ව්‍යත්තික්‍රම වීමෙන් ආජීව ශීලය බිඳේ. මිච්ඡාජීවය තුළින් ලත් ප්‍රත්‍යය පරිභෝග කරන කාලයේදී ආජීව ශීලය නොබිඳේ. කුමක් නිසාද යත්ඃ පරිභෝග කරන අවස්ථාවේදී ප්‍රාණාතිපාත ආදී කාය කර්ම-වචී කර්මයන් කඩකිරීමක් වන්නේ නැත. භික්ෂූන් වහන්සේ මෙන් බුද්ධානත්තිය කඩ කිරීමක් සිදු නොවන නිසාය. මේ ගිහියන් මිථ්‍යාජීවයෙන් ලත් ප්‍රත්‍යය, භික්ෂූන් වහන්සේට මෙන් අත්හැරීම කළ යුතු නොවේ. අත නොහැරියද දිවි පැවැත්ම සඳහා අයහපත් වූ කාය කර්ම, වචී කර්මයන් නැවත-නැවත නොකරන්නේ නම් ආජීව පාරිශුද්ධි ශීලය නොබිඳේ. පිරිසිදුමය.

ඉන්ද්‍රිය සංවර ශීලය, භික්ෂූන් වහන්සේලාට පවා භාවනා කිරීමට කලින් සම්පූර්ණ ලෙස ආරක්ෂා කිරීම දුෂ්කර බව දක්වන ලදී. ගිහියන් සම්බන්ධයෙන් කිවයුත්තක් නැත. ප්‍රත්‍ය සන්නිශ්‍රිත ශීලය සම්බන්ධයෙන්ද ගිහියන් ප්‍රත්‍යවේක්ෂාවෙන් තොරව පරිභෝග කරන්නේ නමුත් ඉණ පරිභෝගයට නොවැටෙන නිසා භික්ෂූන්ට පමණක් අදාළ ශීලයකි. එහෙත් සූත්‍රාන්ත දේශනාවට අනුව ප්‍රත්‍යයන් ප්‍රත්‍යවේක්ෂා කොට පරිභෝග කරන්නේ නම් ගිහියන්ට ද කුසල් වැඩෙන්නේය යන්නත්, අකුසල් අඩු කරන්නේය යන්නත් පිළිබඳ සැක කළ යුත්තක් නැත.

"ශීලය දින-මාස-වර්ෂ ගණන් දිගින් දිගට පිරිසිදු කිරීමෙන් අනතුරුවම භාවනා වැඩීම සුදුසුය. සමාධි ප්‍රඥා වැඩෙන්නේ එසේ කළ විට පමණි යැ"යි සමහරෙක් පිළිගනිති. ත්‍රිපිටක-අට්ඨකථා-ටීකාවල නම් "කොපමණ කාලයක් ශීලය පිරිසිදු බව පිණිස වියර්‍ය කළ යුතු ද"යි අදහස් දක්වා නැති නිසා එම පිළිගැනීම් හා අදහස් ඔවුන්ගේ හුදු පෞද්ගලික මත පමණකි. විස්තර වශයෙන් දක්වතොත්, භික්ෂූන්ට ප්‍රාතිමෝක්ෂ ශීලය බිඳේ නම් ආණා වීතික්කම අන්තරාව සිදුවේ. එම නිසා අදාළ ශීලය පෙරාතුවම පිරිසිදු බවට පත්ව තිබිය යුතුවේ. නමුදු "කොතෙක් කල් පිරිසිදුව ආරක්ෂා කළ පසු භාවනා කළ යුතු ද"යි යන්න පාළි-අට්ඨකථාහි නියම කොට නොමැත්තේය. එම නිසා ප්‍රාතිමෝක්ෂ ශීලය අතින් පිරිසිදු වූ තැන් පටන් භික්ෂූන් වහන්සේලාට භාවනාව ආරම්භ කළ හැකිය. ගිහියන් සම්බන්ධයෙන් විශේෂයෙන් කිව යුත්තක් නැත. පාරමී ශක්ති සම්පූර්ණ නම් එම අවස්ථාවේ පටන් සමාධි, විපස්සනා, මාර්ග ඵලයන්ට පත් විය හැක්කේය.

ගිහියන් විසින් පිළිපැදිය යුතු පන්සිල් වනාහී බුද්ධොත්පාද-අබුද්ධොත්පාද යන කොයියම් කාලයෙක හෝ පවතින්නේය. එම ශීලය බිඳී නම් වරදකි. අංග සම්පූර්ණයෙන් පිළිපදින්නේ නම් කුසල් වැඩේ.

මේ පඤ්චශීලය බිඳීම හෝ අංග සම්පූර්ණ ලෙස රැකීම අනුව ආදීනව හෝ ආනිශංස ලැබීම බුද්ධානුශාසනාවට අනුව සිදුවන්නක් නොවේ. ස්වභාව ධර්මයන්ට අනුවම සිදුවන්නකි. එම නිසා ගිහි ශීලය බිඳී තිබීම "පඤ්චානන්තරිය කර්ම-භික්ෂුණී දූෂණ කර්මය-අරියුපවාද කර්ම නොවන්නේ නම්" මාර්ග-ඵල අන්තරායක් සිදු නොකරයි. පඤ්චානන්තරිය කර්ම, භික්ෂුණී දූෂණ කර්මය, අරියුපවාද කර්ම ඇති විට ගිහි වේවා, භික්ෂු වේවා මේ භවයේදී මාර්ග-ඵල ලබා ගැනීමට අභව්‍ය වේ. මෙහිලා අදාළ අන්තරාය කර ධර්ම පහ දක්වන්නෙමු.

# අන්තරායකර ධර්ම පහ

## 1. කම්මන්තරාය

**මාතු ඝාත** = මව මැරීම, **පිතු ඝාත** = පියා මැරීම, **අරහන්ත ඝාත** = මනුෂ්‍ය ජාතික රහතන් වහන්සේ මැරීම, **ලොහිතුප්පාද**= බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී දේහයේ ලේ සෙලවීම, **සංඝභේද**= සංඝයා බිඳීම (මේ සංඝ භේදය භික්ෂූන් වහන්සේලාට පමණක් අදාළය.) යන මේ කර්ම පහ මරණයෙන් අනතුරුව සෘජුවම අපායට, නරකයට පත්කරවන නිසා ආනන්තරික කර්ම නම් වේ. මේ පඤ්චානන්තරිය කර්ම සග්ගන්තරාය, මග්ගන්තරාය යන දෙකම කරයි. සිල්වත් භික්ෂුණියක් දූෂණය කිරීම නම් වූ භික්ෂුණී දූෂණ කර්මය මග්ගන්තරාය සිදු කරයි. මේ කර්ම හය කම්මන්තරාය නම් වේ.

## 2. කිලේසන්තරාය

"කුසල් අකුසල් නැත. කළත් කුසල්-අකුසල් සිදු නොවේ. කුසල කර්ම. අකුසල් කර්මවල විපාක නැහැ"යි දැඩි ලෙස පිළිගන්නා *අකිරිය දිට්ඨිය*, "සත්ත්වයන් මරණයෙන් උච්ඡේද වේ. නිම වේ. තවත් භවයකට නොයයි. හොඳ - නරක ක්‍රියාවල විපාක කිසිත් නැත" යන්න දැඩි ලෙස පිළිගන්නා *නත්ථික දිට්ඨිය*," හොඳ විපාක - නරක විපාක ගෙනදීමට හැකිවූ හොඳ යැයි හෝ නරක යැයි හේතු කර්ම නැත. හේතු නොමැතිව ඉබේම සැපවත් වේ. දුප්පත් වේ" යැයි දැඩිව පිළිගන්නා *අහේතුක දිට්ඨිය* යන මේ මිථ්‍යා දිට්ඨි තුන අත්නොහැර දැඩිව ගනී නම් මරණයෙන් අනතුරුව අපායට, නරකයට ඒකාන්තයෙන් පත්වන නිසා නියත මිච්ඡාදිට්ඨි නම් වේ. සග්ගන්තරාය-මග්ගන්තරාය යන දෙකම ගෙනදේ. කිලේසන්තරාය යැයි

කියනු ලැබේ. මේ දිට්ඨි තුනින් පළමු දිට්ඨිය හේතුව ප්‍රතික්ෂේප කරයි. දෙවැනි දිට්ඨිය ඵලය ප්‍රතික්ෂේප කරයි. තුන්වන දිට්ඨිය මගින් හේතු-ඵල යන දෙකම ප්‍රතික්ෂේප කරයි. නමුත් හේතුව ප්‍රතික්ෂේප කිරීම නිසාම ඵලය ප්‍රතික්ෂේප කළා වන්නේය. එම නිසා මෙම මහා මිච්ඡාදිට්ඨි තුන මගින් හේතු කුසල්-අකුසල් කර්ම නොමැත, එම කර්මයන්ගේ කුසල් අකුසල් විපාක නැතැයි පිළිගන්නා බව කෙටියෙන් සිතට ගතයුතු.

3. විපාකන්තරාය

අහේතුක, ද්විහේතුක පටිසන්ධි විපාකන්තරාය යැයි කියනු ලැබේ. මග්ගන්තරාය පමණකි. සග්ගන්තරායක් නොකරයි. මෙලෙස ප්‍රතිසන්ධිය ඇති පුද්ගලයන් පටිසන්ධි ඥාණයෙන් සමන්විත නොමැති නිසා එය මාර්ගඵල ප්‍රතිලාභයට පමණක් අනතුරුදායකය. කුසල කර්ම ඇත්තේ නම් මනුෂ්‍යය භවයකට හෝ දිව්‍ය භවයකට හෝ පත්විය හැක්කේ යැයි අදහස් කෙරේ.

4. අරියූපවාද අන්තරාය

ආර්යන්වහන්සේ නමක් බව දැන-දැන හෝ වේවා, නොදැන හෝ වේවා, ආර්යන් වහන්සේලාගේ ගුණ නසනු සඳහා හෝ වේවා, ශීලය විනාශ කරනු සඳහා හෝ වේවා, දෝෂාරෝපණය කිරීම ආරියූපවාද අන්තරාය නම් වේ. සග්ගන්තරාය, මග්ගන්තරාය යන දෙකම ගෙනදේ, නමුදු වැඳ සමාව අයැදීමෙන් මෙම අන්තරාවෙන් ගැලවිය හැක්කේය.

5. ආණා වීතික්කම අන්තරාය

භික්ෂූන් වහන්සේ නමක් විසින් දැන-දැන ව්‍යතික්‍රම කරන ආපත්ති ස්කන්ධ (7) හත ආණා වීතික්කම අන්තරාය නම් වේ. සග්ගන්තරාව හා මග්ගන්තරාව යන දෙකම සිදු කරයි. නමුත් විනයානුකූලව ප්‍රතිකර්ම කළ විට මේ අන්තරායෙන් මිදිය හැක්කේය.

**"තෙපි යාව භික්ඛුභාවං වා පටිජානාති න වුට්ඨාතිවා න දෙසෙති වා, තාව දෙව, න තතො පරං"** [ම. අ. 2/09]

| | | |
|---|---|---|
| **යාව** | = | යම්තාක් කල්. |
| **භික්ඛුභාවං වා පටිජානාති** | = | පාරාජික බවට පත්වී නමුත් තමා ප්‍රකෘති භික්ෂුවක් ලෙසට පිළිත කරමින් සිටින්නේ නම්, |
| **න වුට්ඨාති වා** | = | ගරුකාපත්තීන්ගෙන් නැඟිමට කටයුතු නොකරන්නේ නම්, |

| | | |
|---|---|---|
| **න දෙසෙති වා** | = | ලහුක ආපත්තීන් හෙළි කොට දේශනා නොකරන්නේ නම්, |
| **තාවදෙව** | = | ඒ තාක් කල් |
| **තෙපි ආපත්තික්ඛන්ධා** | = | එම ආපත්ති ස්කන්ධ හතද, |
| **අන්තරායිකා** | = | සග්ග අන්තරාය හා මග්ග අන්තරාය සිදු කළ හැක්කේය. |
| **තතො** | = | එම කාලයෙන් |
| **පරං** | = | පසු |
| **වා** | = | නැත්නම් ගිහි, සාමණේර බවට පත් කාලයෙහි අබ්භානය කොට ඇතුළත් කළ කාලයෙහි ආපත්ති දේශනා කොට පිරිසිදු වූ කාලයෙහි, |
| **න අන්තරායිකා** | = | අන්තරාය කර නොවේ. |

ඉහත සඳහන් අන්තරායන් පහ ගළපා බැලීමේ දී ගිහියන්ගේ සාමාන්‍ය සීලය බිඳීම මාර්ග-ඵල අන්තරාය සිදු කළ හැකි අන්තරායික ධර්මයන්ට ඇතුළත් නොවන බව ප්‍රකටය. එම නිසාම පෙරාතුවම ශීලය පිරිසිදු නොකළ සන්තති අමාත්‍යයා ද, අරිය නම් තැනැත්තා ද මං පහරණ පල් හොරෙක් ද ශාක්‍ය වංශික සරකාණි නම් උපාසක යන ආදීන් මාර්ග-ඵල ලැබුවාහුය. ඒ කෙසේදයත්:

## මහ ඇමති රහත්වූ ආකාරය

යුධ ජයග්‍රහණයක් ලබාදීම හේතු කොට ගෙන සන්තති මහා ඇමතිවරයාට කොසොල් රජතුමා දින හතක් රජකමින් සංග්‍රහ කළේය. මහ ඇමති තෙමේ සුරාමදයෙන් මත්ව පිරිස පිරිවරාගෙන රාජ්‍ය සුඛය වින්දේය. සත්වන දවසේ පරිවාර පිරිසද සමඟ දිය කෙළියට ගියේය. යන ගමනේදී බුදුරජාණන් වහන්සේ මගදී මුණ ගැසී රාජකීය හස්තියාගේ පිට උඩ සිටම නමස්කාර කළේය. එහිදී බුදුරජාණන් වහන්සේ "මේ මහා ඇමති අදම මා ළඟ ගාථාවක් අසා රහත් වී ගිහි ඇඳුමින්ම පරිනිර්වාණයට පත්වන්නේ යැයි" ප්‍රකාශ කළ සේක. එම කථාව අසා සිටි මිථ්‍යා දෘෂ්ටිකයෝ මෙලෙස දොස් නැගූහ. "මත්පැන් බී මෙසේ මත්වී සිටින කෙනෙක් අදම බණ අසා ගිහි බැව්හි සිටියදීම පරිනිර්වාණයට පත්වන්නේද! මෙයත් සිදුවිය හැක්කක්ද? ගෞතම බුදුරජාණන් වහන්සේ ඉදින් අද බොරුකාරයකු බවට පත් වන්නේ

යැ"යි දොස් නැඟුහ. එදාම සවස මහ ඇමති කෙරෙහි ඉතා ආදරයෙන් සිටි එක් තරුණ ස්ත්‍රියක් ඇමති හට රැඟුම් දක්වමින් සිටියදීම ඇද වැටී මිය ගියාය. එම අවස්ථාවේ මහ ඇමති හට ඉවසිය නොහැකි ලෙසට මහා ශෝකයක් පහළ වී, එම ශෝකය නිවා ගැනීම සඳහා බුදුරජාණන් වහන්සේ වෙතට පැමිණියේය. බුදුරජාණන් වහන්සේ පහත දැක්වෙන ගාථාව දේශනා කළ සේක.

**යං පුබ්බෙ තං විසොසෙහි - පච්ඡා තෙ මාහු කිඤ්චනං**
**මජ්ඣෙ වෙ නො ගහෙස්සසි - උපසන්තො චරිස්සසි** [සු. නි. 298]

**පුබ්බෙ** = පෙර වූ, ගත වූ, වියෝ වූ රූප-නාම, සංඛාරයන්මත

**යං යෙ කිලෙසා** = යම් කෙලෙස් සමූහයක්

**උප්පජ්ජෙය්‍යුං** = විය හැකි වීද, පහළ වීමට සුදුසු වීද

**තං තෙ කිලෙසෙ** = අතීත සංඛාරයන් මත බැඳී පහළ වීමට සුදුසු එම කෙලෙස්

**විසොසෙ හි** = වියලවා ලව

(විසොධෙහි යැයි දන්තජ චතුත්ථ අක්ෂරය සමඟ ඇති පාඨාන්තරය "**සුක්ඛාපෙහි, විසුක්ඛා පෙහි**" යැයි වර්ණනා කෙරෙන නිද්දෙස පාළිය හා සම නොවේ.)

**පච්ඡා** = පසුව විය හැකි රූප-නාම සංස්කාරයන්හී

**තෙ** = තොපට,

**කිඤ්චනං** = රාගාදී පශ්චාත්තාපයක්

**මා අහු** = නො වේවා.

**මජ්ඣෙ** = මාධ්‍යයේ රූප-නාම =ප්‍රත්‍යුත්පන්න සංස්කාරයන්

**වෙ නො ගහෙස්සසි** = ඉදින් තණ්හා දිට්ඨි වශයෙන් නොගත යුතු

**ත්වං** = තොප

**උපසන්තො** = කෙලෙස් ගින්න-දාහය සන්සිඳී ගිය කෙනෙකුව

**චරිස්සති** = හැසිරෙව

සන්තති මහ ඇමතිතුමා මේ ගාථාව අසා රහත් බවට පත් වී බුදුරජාණන් වහන්සේගේ අනුශාසනාවට අනුව මනුෂ්‍යයන්ගේ සැක දුරු කිරීමට තල් ගස් හතක් තරම් උසට අහසට නැගී ගිහි ඇඳුමින්ම යුක්තව පරිනිර්වාණයට පත් වූ සේක් යැයි ධම්මපද අට්ඨකථා ආදියෙහි දැක්වේ. ගාථාවක් ඇසීමෙන් අර්හත්වයට පත්වී යැයි කියැවෙන මෙතැනද මෙලෙස සිදුවූ අනෙකුත් ස්ථානවලදීද රූප - නාම අනුව මනසිකාරය නොපවත්වා ධර්මය ඇසූ පමණින් මාර්ග-ඵල ලබන්නේ යැයි වරදවා වටහා ගත යුතු නැත. ධර්ම අසමින්ම රූප-නාම ධර්ම මනසිකාරයට නංවමින්ම විපස්සනා ඥාණ - මාර්ග -ඵල ඥාණ පිළිවෙළින්ම සොවාන්, සකෘදාගාමී, අනාගාමී, අර්හත්වයට පත්වී යැයි සලකා ගතයුතු. එබැවින් සතිපට්ඨාන සූත්‍ර අට්ඨ කථාවෙහි පහත සඳහන් ලෙසට දැක්වේ.

**යස්මා පන කාය වේදනා චිත්ත ධම්මෙසු කිඤ්චි ධම්මං අනාම-සිත්වා භාවනා නාම නත්ථි, තස්මා තෙපි ඉමිනාව මග්ගෙන සොක පරිදෙවෙ සමතික්කන්තාති වෙදිතබ්බා**

[දී. අ. 2/536]

**පන** = ගාථාවකට ඇහුම් කන් දීමෙන් මාර්ග ඵලයන්ට පත් වූ නමුත්,

**කාය වෙදනා චිත්ත ධම්මෙසු** = කාය වේදනා චිත්ත ධර්මයන් කෙරෙහි

**කිඤ්චි** = යම්කිසි ධර්මයක්

**අනාමසිත්වා** = උපයෝගී කර නොගනිමින්, මෙනෙහි නොකර

**භාවනා නාම** = කිසි ප්‍රඥා භාවනාවක්

**යස්මා** = යම්හෙයකින්

**නත්ථි** = නැත්තේද

**තස්මා** = එම නිසා

**තෙපි** = එම සන්තති මහා ඇමති, පටාචාරාව වැනි

**ඉමිනා එව මග්ගෙන** = මේ සතර සතිපට්ඨාන නම් වූ ගමන් මාර්ගයෙන්ම

**සොක පරිදෙවෙ** = ශෝකයන් - පරිදේවයන්

**සමතික්කන්තාති** = ඉක්මවී යැයි

**වෙදිතබ්බා** = දත යුතුවේ.

## අර්ථය

ගාථාවකට ඇහුම්කන් දී සන්තති මහ ඇමති අර්හත්වයට පත් වීම, පටාචාරාව සෝවාන් වීමද සත්‍යය නමුදු රූප සියල්ල = කාය - වේදනා - චිත්ත-ධර්ම යන මේ සතර ආකාරය තුළින් එකක් අනුව මනසිකාරය නොපවත්වා විපස්සනා ප්‍රඥා - මාර්ග ප්‍රඥාවන් වැඩීමක්, භාවනා වැඩීමක් නැත. එම නිසා එම මහා ඇමතිත්, පටාචාරාවත් මේ සතර සතිපට්ඨාන මෙනෙහි කරන සතිය මගින්ම, සතිපට්ඨාන මාර්ගය තුළින්ම අර්හත් ඵලයට සෝතාපත්ති ඵලයට පත් වී සෝක පරිදේවයන් ඉක්මවී යැයි දතයුතු

මේ ඉහත සඳහන් කථා වස්තුවෙහි ධර්ම දේශනාව අසන තෙක් දින හතක්ම, මත් සිතින් යුක්තව සිටි නිසා පෙරාතුව ශීල විසුද්ධිය සම්පූර්ණ නොවී මාර්ග ඵලයන්ට පත් වූ බව පැහැදිලිය. පශ්චිම භවිකයෙක් වූ නිසා මෙසේ සිදුවී යැයිද කිව නොහැකිය. මක්නිසාද යත්: පශ්චිම භවික වූ උත්තිය ස්වාමීන් වහන්සේට කළ අනුශාසනාව මෙසේ වේ.

## උත්තිය ස්වාමීන් වහන්සේට කළ අනුශාසනාව

**තස්මාතිහ ත්වං උත්තිය ආදිමෙව විසොධෙහි කුසලෙසු ධම්මෙසු, කොචාදි කුසලානං ධම්මානං, සීලඤ්ච සුවිසුද්ධං දිට්ඨි ච උජුකා, යතො ඛො තෙ උත්තිය සීලඤ්ච සුවිසුද්ධං භවිස්සති දිට්ඨි ච උජුකා, තතො ත්වං උත්තිය සීලං නිස්සාය සීලෙ පතිට්ඨාය චත්තාරො සතිපට්ඨානෙ භාවෙය්‍යාසි** [සං. නි. 5-1/298]

| | | |
|---|---|---|
| **උත්තිය** | = | උත්තිය භික්ෂුව! |
| **තස්මා** | = | සංක්ෂේපයෙන් භාවනා ක්‍රමය දේශනා කළ මැනවැයි, තොප විසින් ඉල්ලා සිටි නිසා:, |
| **ත්වං** | = | තොප |
| **කුසලෙසු ධම්මෙසු** | = | කුසල ධර්මයන්හි |
| **ආදිමෙව** | = | ආරම්භයේදීම, මුලින්ම |
| **විසොධෙහි** | = | පිරිසිදු වනු |
| **කුසලානං ධම්මානං** | = | කුසල ධර්මයන්ට |
| **ආදි** | = | ආදිය - ප්‍රථමයෙන් පිරිසිදු කළ යුතු පදනම |
| **කොච** | = | කුමක්ද? |
| **සුවිසුද්ධං** | = | මනාකොට පිරිසිදු කළ |

| | | |
|---|---|---|
| **සීලඤ්ච** | = | ප්‍රාතිමෝක්ෂ සංවර ශීලයද, |
| **උජුකා** | = | සෘජු වූ, |
| **දිට්ඨිච** | = | කර්මය හා කර්ම ඵලය අදහන සම්මා දිට්ඨියද |
| **ආදි** | = | ප්‍රථමයෙන් පිරිසිදු කළ යුතු ආදිය නම් වේ. |
| **උත්තිය** | = | උත්තිය භික්ෂුව! |
| **යතො ඛො** | = | යම් අවස්ථාවක |
| **තෙ** | = | තොපගේ |
| **සීලඤ්ච** | = | ප්‍රාතිමෝක්ෂ ශීලයද |
| **සුවිසුද්ධං** | = | සුපිරිසිදු |
| **භවිස්සති** | = | වන්නේය |
| **උත්තිය** | = | උත්තිය භික්ෂුව! |
| **තතො** | = | එම අවස්ථාවෙහි |
| **ත්වං** | = | තොප |
| **සීලං නිස්සාය** | = | ප්‍රාතිමෝක්ෂ ශීලය නිසා |
| **සීලෙ පතිට්ඨාය** | = | ප්‍රාතිමෝක්ෂ ශීලයේ පිහිටා |
| **චත්තාරො සතිපට්ඨානෙ** | = | සතරාකාර සතිපට්ඨානයන් |
| **භාවෙය්‍යාසි** | = | වඩව. |

මේ පාළියෙහි **සීලං** යැයි සාමාන්‍ය ලෙසට දේශනා කළ නමුදු ඛන්ධ විභංග පාළියෙහි කංඛාවිතරණී අභිනව ටීකාවෙහි දක්වන ආකාරයට ප්‍රාතිමෝක්ෂ සීලය යැයි අර්ථ ගැනීම වටී. මේ අවවාදයෙහි ප්‍රාතිමෝක්ෂ ශීලය අතින් පිරිසිදු වූ විටම සතිපට්ඨානයන් වඩවයි යන්න පමණක් අනුශාසනා කරයි. කොපමණ කාලයක් පිරිසිදු කරමින් සිටිය යුතුදැයි නොදක්වෙයි. මේ අදහසට අවධානය තදින් යොමු කෙරේවා! තවදුරටත් සතිපට්ඨාන එක එකක් වෙන වෙනම වැඩිය යුතු යැයි දේශනා නොකොට සතිපට්ඨාන හතරම වැඩීමට අනුශාසනා කරන නිසා සතිපට්ඨාන හතරම එකට වැඩීමද " බුදුරජාණන් වහන්සේගේම අනුශාසනාව" යැයි සැලකිය යුතුයි.

උත්තිය මහ තෙරුන් වහන්සේ ඉහත සඳහන් අනුශාසනා පරිදි භාවනාව වඩා නොබෝ කලකින් රහත් බවට පත් වූ බව එම පාළියෙහි

දක්වේ. එම නිසා එම තෙරුන් වහන්සේ පශ්චිම භවික උතුමෙක් වන්නේය. එසේ නමුදු භික්ෂූන්ගේ ශීලය අපිරිසිදු වීම අන්තරාය කර බවත්, එම ශීලය පෙරාතුවම පිරිසිදු කළ යුතු බවටත් අනුශාසනා කළ සේක. නියත මිච්ඡා දිට්ඨිකයෙක් වන්නේ නම් එයත් අන්තරායකර නිසා දිට්ඨිය ද ඍජු විය යුතු බවට අනුශාසනා කළ සේක. එම නිසා මෙම මහ තෙරුන්ට කළ අනුශාසනාව හා සන්තති මහා ඇමති කථා වස්තුව ගළපා බැලුවහොත් "පශ්චිම භවිකයෙක් වුවද භික්ෂුව සීලය බිඳීම මාර්ග-ඵල අන්තරාව සිදු කළ හැකිය. ගිහි ඇත්තන්ගේ ශීලය බිඳීම වනාහි අන්තරායකර නොවන්නේය" යන අර්ථය වනාහි පැහැදිලිය. එම නිසා පශ්චිම භවික වුවත් පෙරාතුවම ශීලය පිරිසිදු නොකරගෙන මාර්ග-ඵල ලබාගත හැකි යැයි යන්න නොගැනිය යුත්තකි.

## බිලී බාන්නකු ධර්ම ලාභය ලැබීම

එක් දිනක් බුදුරජාණන් වහන්සේ අරිය නම් බිලී බාන්නකුගේ උපනිශ්‍රය සම්පත්ති දැක - දැන සාවත්ථි නගරයේ උතුරු වාහල්කඩ අසල ගමෙහි පිණ්ඩපාතය නිමවා සංඝයා සමඟ ආපසු වැඩිසේක. එම අවස්ථාවෙහි මාලු බාමින් සිටි අරිය නැමැත්තා සංඝයා වහන්සේලා සහිත බුදුරජාණන් වහන්සේ දැක, බිලී පිත්ත බිම දමා, පාගාගෙන සිටගෙන සිටියේය. ඔබගේ නම කුමක් දැයි බුදුරජාණන් වහන්සේ ප්‍රශ්න කරන ලදුව "අරිය" නම් වේමැයි හෙතෙම උත්තර දුන්නේය. එවිට තොප වැනි කෲර ලෙස සතුන්ට හිංසා කරන්නන් අරිය නොවන්නේය. අරිය (ආර්යයන් වහන්සේ) නම් හිංසකයෙක් නොවේ යැයි දක්වා පහත සඳහන් ගාථාව දේශනා කළ සේක.

**න තෙන අරියො හොති - යෙන පාණානි හිංසති**
**අහිංසා සබ්බ පාණානං - අරියොති පවුච්චති** [ධු. නි. 1/92]

**යෙන** = යම් දෝෂාදී හේතුන් නිසා

**පාණානි** = සත්ත්වයන්ට

**හිංසති** = හිංසා කරයි, මරයි ද

**තෙන** = එම දෝෂ ආදී හේතු නිසා

**අරියො** = අරිය නම්

**න හොති** = නොවේ.

**සබ්බ පාණිනං** = සියලු සත්ත්වයන්ට

**අහිංසා** = හිංසා නැති බැවින්

| | | |
|---|---|---|
| **අරියො** | = | අරිය යැයි |
| **පවුච්චති** | = | කියනු ලැබේ. |

මේ අනුශාසනා අනුව බිලීබාමින් සිටි එම අරිය නැමැත්තා සෝවාන් වී යැයි ධම්මපද අට්ඨකථාහි දක්වේ. [ධ. අ. 536-7]

ගණ්ඨී භේදක චෝර වස්තුව (ගැට කපන සොරා)

එක් දිනක ජේතවනාරාමයේ බුදුරජාණන් වහන්සේ ධර්ම දේශනා කරන අවස්ථාවෙහි බණ අසන පිරිස අතරෙහි ගැට කපන හොරු දෙදෙනෙක් සිටියෝය. එයින් එකෙක් ධර්ම ගෞරවයෙන් බණ අසා සෝවාන් විය. අනෙකා රන්මසු පහක් සහිත ගැටයක් කැපීය. හෙතෙම ගෙදර ගිය විට ඔහුගේ යහළුවාට මෙලෙස විහිලු කළේය. යහළුවා උඹ දක්ෂ වූ නිසා වේල සරිකර ගැනීමට තරම් යමක් නොලැබී යැයි කීවේය. එහිදී සෝවාන් පුද්ගලයා ගැළපෙන ලෙස කාරණා සලකා බැලීය. "මගේ යහළුවා තමා බාලයකු නමුත් "දක්ෂ යැයි පණ්ඩිත යැයි හඟින්නාවූ බව සිතා ඒ බව බුදුරජාණන් වහන්සේට දැනුම් දුන්නේය. එවිට බුදුරජාණන් වහන්සේ මේ ගාථාව දේශනා කළ සේක.

**යො බාලො මඤ්ඤති බාල්‍යං - පණ්ඩිතො වාපි තෙන සො,**
**බාලොච පණ්ඩිතමානි - සවෙ බාලොති වුච්චති.** [ඛු. නි. 1/38]

| | | |
|---|---|---|
| **යො බාලො** | = | යම් බාල වූ අදක්ෂයෙක් |
| **බාල්‍යං** | = | තමාගේ බාල - අදක්ෂ බව |
| **මඤ්ඤති** | = | දනී නම් |
| **සො** | = | ඔහු |
| **තෙන** | = | එසේ බාල - අදක්ෂ බව දන්නා කරුණින් |
| **පණ්ඩිතො වාපි** | = | ප්‍රඥාවන්තයෙක් ද වන්නේය. |
| **යො පන** | = | යම් පුද්ගලයෙක් |
| **බාලො එව** | = | බාලව, අදක්ෂව සිට |
| **පණ්ඩිතමානි** | = | මම ප්‍රඥාවන්ත යැයි සිතයිද |
| **සො** | = | ප්‍රඥාවන්තයෙක් නොවී ප්‍රඥාවන්ත යැයි සිතන්නාවූ හෙතෙම |
| **වෙ** | = | ඇත්තටම |

**බාලොති** = බාලයකු අදක්ෂයෙකු යැයි
**වුච්චති** = කියනු ලැබේ.

අදහස

නොදන්නා අදක්ෂ වු බාලයකු නමුත් "මම නොදන්නෙක්මි, බාලයෙක්මි" යි දනී නම් හෙතෙම එකරුණින් දක්ෂයැ. මක්නිසාද යත්, ඔහුට තමාට වඩා දක්ෂ දන්නා කෙනෙකුගේ අවවාද අනුශාසනාවන්ට ඇහුම් කන්දී ඒ අනුව පිළිපැද දක්ෂවූත් ඥාණවන්ත වූත් තැනැත්තෙකු බවට පත්විය හැක්කේය.

නොදන්නා අදක්ෂ බාලයකු වී නමුත් මම ඥාණවන්තයයි, දන්නා කෙනෙක් යැයි යමෙක් වරදවා සිතා ගෙන සිටින්නේ නම් හෙතෙම නියම බාලයයි. තමාට තරම් හැකි, දන්නා පුද්ගලයෙකු නැතැයි සිතා කිසි කෙනෙකුගේද අව්වාද අනුශාසනා නොපිළිගන්නේ ඔහුට මෝඩයකු යැයි ඇත්තටම කිව යුතු වන්නේය.

සරණානි උපාසක (* සරකානි උපාසක)

ශාක්‍ය නගරයේ වාසය කළ සරකානි නම් උපාසකතෙමේ මරණයට පත් වූ විට බුදුරජාණන් වහන්සේ විසින් එම උපාසක තැන සොතාපන්න වී සතර අපායෙන් මිදුණු බව දක්වා වදාළ සේක. එවිට ශාක්‍ය වංශික පුරවැසියෝ බුදුරදුන්ට දොස් නැගුහ. එම දොස් කථා සංයුක්ත නිකාය පාළියෙහි මෙසේ දැක්වේ.

**අච්ඡරියං වත භො අබ්භුතං වත භො එත්ථදානි කො න සොතාපන්නො භවිස්සති, යත්‍රහි නාම සරකානි සක්කො කාලංකතො. සො භගවතා බ්‍යාකතො "සොතාපන්නො අවිනිපාත ධම්මො නියතො සම්බොධි පරායනො" ති. සරකානි සක්කො සික්ඛා දුබ්බල්‍යමාපාදි. මජ්ජපානං අපායීති.** (පෙර සූත්‍රය) [සං. නි. 5-2/190]

**සරකානි සක්කො සික්ඛාය අපරිපූරකාරීති** (පසු සූත්‍රය) [සං. නි. 5-2/196]

ආශ්චර්‍යයයැ, අද්භූත ජනකයැ, දැන් මෙවැනි පුද්ගලයන් අතර කවරෙකු නම් සොතාපන්න නොවී යැයි කිව හැකිද? මක්නිසාද යත්, මරණයට පත් වු සරකානි උපාසක තෙමේ බුදුරජාණන් වහන්සේගේ අනුශාසනයට අනුව සොතාපන්න පුද්ගලයෙකි, අපායට නොයන්නේය. නියතව සම්බෝධිය පිහිට කොට සිටී. ඉහළ මාර්ග ඥාණයන්ට ඒකාන්තයෙන් පත්වන්නේය. ශාක්‍ය වංශික සරකානි උපාසක තෙම ශික්ෂාපද සුරැකීම අතින් දුර්වලයැ.

මද්‍යපාන පානය කරන්නෙකි. සිල් අතින් සම්පූර්ණ වීමේ උත්සාහයක් නැත. එසේ තිබියදීත් සෝතාපන්න වී යැයි කියනු ලැබේ යැයි දොස් නැගූහ. මේ කාරණය මහානාම රජු විසින් බුදුරජාණන් වහන්සේට දැනුම් දුන් කල්හි, බුදුරජාණන් වහන්සේ විසින් පුද්ගලයන් වනාහි විවිධ බව දේශනා කළ සේක. දේශනාව විස්තර වශයෙන් දැන ගැනීමට කැමැත්තෝ (සං. නි.) සූත්‍ර පාළිය බලත්වා.

තව දුරටත් නොසරු වූ බිම ඇති වල්-උල් සහිත විෂම කෙතක් වේද එහි බිඳුණු කුණු වූ අවු වැසි සුළඟින් නාස්ති වූ බීජ, හර නොගත් මැනවින් ආරක්‍ෂා නොකරන ලද බීජ වපුරනු ලබන්නේ, මනාකොට වර්‍ෂාවද නොවැටෙන්නේ එම බීජ වර්ධනයට, ස්ථිර බවට විපුලත්වයට නොයන්නේය. යම් සේ මනා බිම් ඇති මැනවින් වල්-උල් ගලවා සම කරන ලද මනා කෙතක් වේද. කැඩී-බිඳී නොගියාවූ කුණු නොවූ අවු-සුළඟින් නාස්ති නොවූ හරගත් මැනවින් ආරක්‍ෂා කොට තබන ලද බීජ වපුරනු ලබන්නේ, වර්‍ෂාවත් මනාසේ ලබන්නේ යම් සේ එම බීජ වැඩීමට, තිර බවට, විපුලත්වයට පැමිණෙන්නේද එසේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ නිවැරදි ක්‍රමයට අනුව පිළිපැදීමෙන් මාර්ග-ඵල නිර්වාණය ඒකාන්තයෙන් ලබාගත හැකි බවද දේශනා කළ විට නිවැරදි ක්‍රමයට අනුව භාවනා වැඩූ සරණානි (සරකානි) උපාසක කුමක් නිසා සෝවාන් නොවන්නේ දැයි කරුණු ගන්වා දේශනා කරමින් පහත ලෙසට නිගමනය කළ සේක. [සං. 3/311]

**කිමංග පන සරකානිං සක්කං, සරකානි* මහානාම සක්කො මරණ කාලෙ සික්ඛාය පරිපූරකාරීති.**

**සරකානිං සක්කං** = ශාක්‍ය වංශික සරකානි උපාසක

**කිමංග පන** = කුමන හේතුවකින් සෝවාන් නොවිය හැකි වන්නේද

**මහානාම** = මහානාමයනි!

**සරකානි සක්කො** = ශාක්‍ය වංශික සරකානි උපාසකතෙම

**මරණ කාලෙ** = මරණාසන්න කාලයෙහි

**සික්ඛාය** = සිල් පිළිබඳව

**පරිපූරකාරී** = අංග සම්පූර්ණ වීමට පැළිපැද්දේය

**ඉති** = මෙසේ දේශනා කළ සේක.

මේ සූත්‍රය මගින් සරකානි උපාසක තෙමේ පෙරාතුවම සීලය පිරිසිදු නොකළ ද මරණාසන්න කාලයේ සෝවාන් වී ශීල ශික්ෂා අතින් අංග සම්පූර්ණ වී යැයි යන්න ප්‍රකට ලෙස දත යුතුවේ.

දක්වන ලද අරිය නම් පුද්ගලයා, ගැට කපන හොරා, සරකානි උපාසක වැනි ඇත්තන් සෝතාපන්න පමණක් වූ නිසා පශ්චිම භවික නොවන්නාහ. එම නිසා "පශ්චිම භවිකයකු වී පෙරාතුවම සීලය අතින් පිරිසිදු නොවී මාර්ග ඵලයන් ලබා ගතහැකි යැ"යි යන වග සම්බන්ධයෙන් කිවයුත්තක් නැත. එසේ නමුදු තවත් සමහරක් දෙනා මෙසේ කියත්: අරිය ආදී නම් වූ එම පුද්ගලයන් උග්ඝටිතඤ්ඤූ, විපඤ්චිතඤ්ඤූ පුද්ගලයන් වූ නිසාම මෙලෙස විය. නෙය්‍ය පුද්ගලයන්ට වනාහි පෙරාතුවම කාලයක් සීලයක් අතින් පිරිසිදු වූ විටකදීම මාර්ග-ඵලයන්ට පත්විය හැක්කේය යනුයි. එම කියමනද පාළි අට්ඨකථා ටීකාවන්හී දක්නට නොලැබෙන නිසා ඔවුන්ගේ අත්තනෝමතියට අනුව කරන කියමන් වන්නාහ. නෙය්‍ය පුද්ගලයන්ගේ භාවනා වැඩ පිළිවෙළ පහත දැක්වේ, බලන්න.

**කතමො ච පුග්ගලො නෙය්‍යො. යස්ස පුග්ගලස්ස උද්දෙසතො පරිපුච්ඡතො යොනිසොමනසිකරොතො කල්‍යාණමිත්තෙ සෙවතො භජතො පයිරුපාසතො එවං අනුපුබ්බෙන ධම්මාභිසමයො හොති. අයං වුච්චති පුග්ගලො නෙය්‍යො** [පු. ප. 332]

| | | |
|---|---|---|
| **නෙය්‍යො** | = | නෙය්‍ය පුද්ගලයා |
| **කතමො ච පුග්ගලො** | = | කුමන ආකාරයක පුද්ගලයෙක්ද යත් |
| **උද්දෙසතො** | = | කම්මට්ඨාන සම්බන්ධ පාළිය උගෙන |
| **පරිපුච්ඡතො** | = | අර්ථ හා තේරුම් ප්‍රශ්න කොට දැන ගෙන |
| **යොනිසොමනසිකරොතො** | = | ඥානවන්තව මනසිකාරය පවත්වා |
| **කල්‍යාණ මිත්තෙ** | = | අච්චාද අනුශාසනා කළ හැකි සත්පුරුෂ මිත්‍රයන් |
| **සෙවතො** | = | සේවනය කරන |
| **භජතො** | = | ආශ්‍රය කරන |
| **පයිරුපාසතො** | = | නැවත නැවත එළඹෙන |
| **එවං අනුපුබ්බෙන** | = | මෙලෙස අනුපිළිවෙලින් |
| **යස්ස පුග්ගලස්ස** | = | යම් පුද්ගලයකුට |

| | | |
|---|---|---|
| **ධම්මාභිසමයො** | = | ආර්ය සත්‍යය ධර්මාවබෝධය |
| **හොති** | = | වන්නේය. |
| **අයං පුග්ගලො** | = | මේ පුද්ගල තෙමේ |
| **නෙය්‍යො** | = | නෙය්‍ය පුද්ගල යැයි |
| **වුච්චති** | = | කියනු ලැබේ. |

මෙම පාළියෙහි සඳහන් වන ලෙසට කුමන භාෂාවෙන් වුව ද කමටහන් ක්‍රමය හැදෑරීම, *උද්දෙස* නම් වේ. එම ක්‍රමයෙහි නොදන්නා අර්ථයන් ප්‍රශ්න කිරීම ***පරිපුච්ඡා*** නම් වේ. නුවණින් මෙනෙහි කරමින් භාවනා වැඩීම ***යෝනිසෝ මනසිකාරය*** නම් වේ. භාවනා කරන විට සැක ස්ථාන පහළ වූ විට සැක දුරුකිරීම සඳහා යෙදිය යුතු දිරිය, ශ්‍රද්ධාව, ඡන්දය අඩුවූ විට, දුර්වල වූ විට වර්ධනය කිරීම සඳහා ක්‍රමය දක්වමින් අනුශාසනා කළ හැකි ගුරු උතුමෙකු කෙරෙහි එළඹ ප්‍රශ්න කිරීම කමටහන ශුද්ධ කිරීම ආදිය කල්‍යාණ මිත්‍ර *සේවනය, භජනය, පයිරුපාසනය,* නම් වේ. මෙලෙස ක්‍රමානුකූලව උත්සාහ කොට මාර්ගඵල ලබන්නා නෙය්‍ය පුද්ගලයාය. දේශනාවෙහි මෙපමණක් දක්වන නමුත් කමටහන වැඩීමට කලින් කොතෙක් කල් ශීලය පිරිසිදු කළ යුතු යැයිද එහි නොදැක්වේ.

**උග්ඝටිතඤ්ඤුස්ස සමථපුබ්බංගමා විපස්සනා සප්පායා, නෙය්‍යස්ස විපස්සනා පුබ්බංගමො සමථො, විපඤ්චිතඤ්ඤුස්ස සමථ විපස්සනා යුගනද්ධා, උග්ඝටිතඤ්ඤුස්ස අධිපඤ්ඤා සික්ඛා, විපඤ්චිතඤ්ඤුස්ස අධිචිත්ත සික්ඛාච අධිපඤ්ඤා සික්ඛා ච , නෙය්‍යස්ස අධිසීල සික්ඛා ච අධිචිත්ත සික්ඛා ච අධිපඤ්ඤා සික්ඛා ච**

[නෙත්ති අට්ඨ කථා 179]

| | | |
|---|---|---|
| **උග්ඝටිතඤ්ඤුස්ස** | = | උග්ඝටිතඤ්ඤූ පුද්ගලයාට |
| **සමථ පුබ්බංගමා** | = | සමථය පෙරටු කරගත් |
| **විපස්සනා** | = | විපස්සනාව |
| **සප්පායා** | = | ගැළපේ, සප්පාය වේ. |
| **නෙය්‍යස්ස** | = | නෙය්‍ය පුද්ගලයාට |
| **විපස්සනා පුබ්බංගමො** | = | විපස්සනාව පෙරටු කරගත් |
| **සමථො** | = | ශමථය |
| **සප්පායො** | = | ගැළපේ. |

| | | |
|---|---|---|
| **විපඤචිතඤඤුසස** | = | විපඤ්චිතඤ්ඤු පුද්ගලයාට |
| **යුගනදධා** | = | දෙක එකට ඇඳූ, යුගනද්ධ කළ |
| **සමථ විපසසනා** | = | ශමථ විපස්සනාව |
| **සපපායා** | = | ගැළපේ |
| **උගඝටිතඤඤුසස** | = | උග්ඝටිතඤ්ඤු පුද්ගලයාට |
| **අධිපඤඤා සිකඛා** | = | අධි ප්‍රඥා ශික්‍ෂාව ද |
| **සපපායා** | = | ගැළපේ |
| **විපඤචිතඤඤුසස** | = | විපඤ්චිතඤ්ඤු පුද්ගලයාට |
| **අධිචිතත සිකඛා ච** | = | අධිචිත්ත ශික්‍ෂාව |
| **අධිපඤඤා සිකඛා ච** | = | අධිප්‍රඥා ශික්‍ෂාව ද |
| **සපපායා** | = | ගැළපේ. |
| **නෙයයසස** | = | නෙයාය පුද්ගලයාට |
| **අධිසීල සිකඛා ච** | = | අධිසීල ශික්‍ෂාව ද |
| **අධිචිතත සිකඛා ච** | = | අධිචිත්ත ශික්‍ෂාව ද |
| **අධිපඤඤා සිකඛා ච** | = | අධිප්‍රඥා ශික්‍ෂාව ද |
| **සපපායා** | = | ගැළපේ |

මේ අර්ථ කථාව ද සප්පාය දේ අනුරූප දේ දැක්වීම සඳහා කියන ලද්දකි. ඒ ගැළපෙන ශික්‍ෂාවන් සාකල්‍යයෙන් සම්පූර්ණ කළ යුතු යැයි දැක්වීම සඳහා කියන ලද්දක් නොවේ. එම නිසා නෙයාය පුද්ගලයාට ශික්‍ෂා තුනම ගැළපේ යැයි කියන තැන නෙයාය පුද්ගලයකු පාසා ශීල හා ශමථ ධ්‍යාන පෙරාතුවම මුඛ්‍ය ලෙස අනිවාර්‍ය ලෙස සම්පූර්ණ කළ යුතු යැයි නොගත යුතු. එලෙසින් ගතහොත් විපඤ්චිතඤ්ඤු හා නෙයාය පුද්ගලයන් සියල්ලම ද පෙරාතුවම ධ්‍යාන ලැබිය යුතු යැයි කිය වේ. එවැන්නක් විය නොහැක්කකි. තවදුරටත් උග්ඝටිතඤ්ඤු විය හැකි භික්‍ෂුව ගේ ආපත්තිය ද "ආණා විතික්කම අන්තරාය නොවන්නේ යැයි"ද අර්ථය ගත හැක්කේය. නමුදු භික්‍ෂුවගේ සචිත්තක ආපත්ති සියල්ල අන්තරාය කර විය හැක්කේමය. එම නිසා "නෙයාය පුද්ගලයා ශීල, ශමථ දෙකින් පෙරාතුවම සම්පූර්ණ වී නම් විපස්සනා ප්‍රඥා, මාර්ග ප්‍රඥාලාභය විශේෂ වශයෙන් ලබන නිසා ශික්‍ෂා තුනම ගැළපේ " යැයි පමණක් දේශනා කරන ලදැයි යන්න සිතට ගතයුතු.

## සප්පාය වන ආකාරයන්

උග්ඝටිතඥ්ඤ පුද්ගලයනට සංක්ෂේපයෙන් ධර්මය ඇසීමෙන් ඉක්මනින් විපස්සනා ඥාණ - මාර්ග ඥාණ පහළ වේ. එම නිසා ශමථ ධ්‍යානයන්ට නැවත නැවත සම වැදීමට ඉඩක් නොලබයි. නැවත නැවත සමවදිමින් උනන්දු කරවීමක් හෝ ධෛර්‍යමත් කිරීමක්ද අවශ්‍ය නැත. උග්ඝටිතඥ්ඤ, විපඤ්චිතඥ්ඤ යන දෙදෙනාට ධර්මය අසන කාලය තුළම විපස්සනා ඥාණ - මාර්ග ඥාණ පහළ වී එන නිසා තමාගේ ශීලය යළි යළිත් සලකමින් ශක්තිමත් කිරීමක් අවශ්‍ය නැත. දේශනා කරන පුද්ගලයා කෙරෙහි හා ධර්මය කෙරෙහි ගෞරවයෙන් නැඟෙන ශ්‍රද්ධාවෙන්ම ප්‍රීති ප්‍රමෝදය පහළ වී සිත ශක්තිමත් විය හැක්කේය. එම නිසා උග්ඝටිතඥඤ පුද්ගලයා හට ශීලය හා ශමථය ද විපඤ්චිතඥ්ඤ පුද්ගලයා හට ශීලය ද උපකාරක යැයි ද සප්පාය යැයි ද විශේෂයෙන් කිවයුත්තක් නැති.

නෙය්‍ය පුද්ගලයා වනාහි දිගු කාලයක් භාවනා කළ යුතු නිසා වරෙක තමාගේ ශීලය නුවණින් සලකා බැලිය යුතු. ව්‍යතික්‍රම වුවහොත් සිත අසතුට පහළ වේ. සැක කුකුස් අධික සමහරෙකුට වනාහි එම අවස්ථාවෙහි පිරිසිදු වුවත් පෙර සිදු කළ ව්‍යතික්‍රම සිහිපත් වී සිත් කරදර ඇති කර ගැනීම සිදුවීමට පුළුවන. එය දුරු නොකළ හැකි නම් සිත නරක් වීම, සිත් කරදර ගැනීම නිසා විපස්සනාව බිඳී යා හැක්කේය. දිගු කලකට පෙර වේවා, කර්මස්ථානයට සිත යොදන වේලාවේ හෝ වේවා සීලය පිරිසිදු බව දැනගන්නේ නම් සිත සතුටට හා ප්‍රමෝදයට පත්විය හැක්කේය. සන්තෘප්තියට පත්විය හැක්කේය. ප්‍රීතියට පත්විය හැක්කේය. සිත ප්‍රසාදයට පත්විය හැක්කේය. සිත සුබනම්‍ය නිසා සමාධි ප්‍රඥාවන් දියුණුවට පත්විය හැක්කේය. එම නිසා පෙරාතුවම වේවා, කර්මස්ථානයට සිත යොදන (පර්යංක) අවස්ථාවේ මුලදී හෝ වේවා පිරිසිදු කළ සීලය නෙය්‍ය පුද්ගලයන්ට විශේෂයෙන් උපකාරක වේ.

## සමථය බහුපකාර බව

**යස්ස හි සමාධිපි තරුණො විපස්සනාපි, තස්ස විපස්සනං පට්ඨපෙත්වා අතිචිරං නිසින්නස්ස කායො කිලමති, අන්තො අග්ගිවිය උට්ඨහති, කච්ඡෙහි සෙදො මුච්චන්ති, මත්ථකතො උසුමවට්ටි විය උට්ඨහති, චිත්තං හඤ්ඤතිවිහඤ්ඤති විප්ඵන්දති. සො**

**පුන සමාපත්තිං සමාපජ්ජිත්වා තං පරිදමෙත්වා මුදුකං කත්වා සමස්සාසෙත්වා පුන විපස්සනං පට්ඨපෙති, තස්ස පුන අතිචිරං නිසින්නස්ස තථාව හොති. සො පුන සමාපත්තිං සමාපජ්ජිත්වා තථෙව කරොති. විපස්සනාය හි බහූපකාරා සමාපත්ති**

[ම. අ. 1/387]

යම් යොගාවචරයකුගේ විපස්සනා සමාධිය තවම තරුණ ද, විපස්සනා ප්‍රඥාව තවම තරුණ ද, මනසිකාරය පවත්වමින්, විපස්සනාව වඩමින් වැඩි කලක් වාඩි වී සිටින ඔහුගේ කයට වෙහෙස ගෙන දෙන්නේය. කය තුළ ගින්නක් දැල්වෙන්නා සේ විය හැක්කේය. (ගිනි ගෙන මුළු ශරීරයම දැවෙන්නා සේයි) කිහිලිවලින් දහඩිය වැගිරිය හැක්කේය. (ශරීරය පුරාම දහඩිය වැගිරිය හැක්කේය) හිස තුළින් පැහෙන හුමාලය බොහෝ සේ පිටවන්නාසේ විය හැක්කේය. සිත අවිවේකී වී, චංචල විය හැක්කේය. එම අවස්ථාවේ එම යෝගී නැවතත් ධ්‍යාන සමාපත්තීන්ට සමවැදී සිත- කය දරථය මෘදු බවට පත්කොට, පහසු භාවයකට පත්කරන මනසිකාරය පවත්වා විපස්සනාවට නැවත පැමිණෙන්නේය. එම යෝගීහට නැවතත් දිගින් දිගට පයඞ්කයේ භාවනා කරන්නේ නම් යටකී ලෙසටම සිත-කය වෙහෙස මතු විය හැක්කේය. එම අවස්ථාවෙහිද එම යෝගී ධ්‍යාන සමාපත්තියට නැවත සමවැදී සඳහන් කළ ආකාරයට කටයුතු කරන්නේය. එම නිසා ධ්‍යාන සමාපත්තිය විපස්සනාවට බොහෝ උපකාරකය.

මේ අට්ඨ කථාවන්හි දැක්වෙන ආකාරයට පෙරාතුවම ශමථ ධ්‍යානයන් ලබාගත් නෙය්‍ය පුද්ගලයා දිගින් දිගට පයඞ්ක භාවනා කිරීම නිසා සිත - කය වෙහෙස ඇතිවන වාරයක් පාසා ධ්‍යානයට සමවැදී වෙහෙස නිවාගෙන නැවත මනසිකාරය පැවැත්විය යුතු. මෙලෙස භාවනා කොට විපස්සනා සමාධි-ප්‍රඥා දැඩි කළ යුතු වේ. සමාධි-ප්‍රඥා මුහුකුරා ගිය අවස්ථාවෙහි සිත - කය වෙහෙස නැත. දවස පුරාම, රාත්‍රිය පුරාම අඛණ්ඩව භාවනා කළ හැක්කේය. මේ නිසා ශමථ ධ්‍යානයෝද නෙය්‍ය පුද්ගලයනට බොහෝ උපකාරක වෙති.

මේ කාලයේ විපස්සනා යානික යෝගී පුද්ගලයන්ට ද ඉහත ලෙසට සිත කය වෙහෙස අත්දැකිය හැක්කේය. එම අවස්ථාවෙහි ධ්‍යාන සමාධි අනුව කලින් තමා ප්‍රගුණ කොට ඇති යෝගී තෙම එම මෙනෙහි කිරීම් ක්‍රමය අනුව ශූර ලෙස ක්‍රමානුකූලව මනසිකාරය පැවැත්වීමෙන්ම උපන් වෙහෙස නිවාගෙන විපස්සනාව බලවත් භාවයට පත්කර ගන්නාහ.

එම නිසා ඉහත දැක්වූ ක්‍රමයට ශීල - ශමථ ආදියද විශේෂයෙන් උපකාරී වන බැවින් "නෙය්‍ය පුද්ගලයාට ශික්ෂා තුනම සප්පාය වේ, හිතානුරූප යැ"යි නෙත්ති අට්ඨ කථාහි දක්වේ. කල් ඇතිව කොපමණ කාලයක් ශීල -සමාධි අතින් පිරිපුන් වී තිබිය යුතු ද යි නිත්‍ය ලෙස දක්වන්නේ නැති බව විශේෂයෙන් සිත තබා ගත යුතුය.

තවදුරටත් දැක්වූ සරණානි (සරකානි) උපාසක තෙමේද "මරණාසන්න කාලයේ භාවනා කොට සොතාපන්න වූ පුද්ගලයෙක් යැයි කීම වටී. කවරෙක් දේශනා කළ කුමන ධර්මයක් අසා සෝතාපන්න වී දැයි පාළි අට්ඨ කථා හි නොදැක්වෙන නිසා උග්ඝටිතඥ්ඤ නැතහොත් විපඤ්චිතඥ්ඤ දැයි කිව නොහැක්කේය. එම නිසා නෙය්‍ය පුද්ගලයා පෙරාතුවම බොහෝ කාලයක් සීලය පිරිසිදු පැවැත් වීමෙන්ම මාර්ග - ඵල ලබාගන්නේය, යන කථාව හුදු සිතලුවක්, කල්පිතයක්ම වේ.

මේ භවයෙහි මාර්ග - ඵලයන්ට පත් නොවන්නා වූ පුද්ගලයන්ට ද පෙරාතුවම ශීලය පිරිසිදු කර නොගෙන නමුත් විපස්සනා ඤාණ සියල්ල පහළ විය හැකි බව තම්බදාඨික වස්තුව මගින් හෙළි වේ.

## අලුගෝසු නිලය සහ අනුලෝම ඤාණය

රජගහ නුවර වැසි උඩු රැවුල තඹ පාට නිසා තම්බදාඨික නම් වූ තැනැත්තාව රජු විසින් අලුගෝසුකම් පිණිස යෙදවීය. රජුට දිනපතා හසුවන සොර, මිනීමරු, දුෂ්ඨ මිනිසුන් මෙම තම්බදාඨිකයා අතින් මරණයට පත්වූහ. දිනපතාම එක්කෙනෙක් දෙන්නෙක් තුන්දෙනෙක් යනාදී ලෙසට මරමින් තම්බදාඨිකයා වයස පණස්පහ වනතෙක් රාජකාරී කිරීමෙන් පසු සේවයෙන් නිදහස් විය. සේවයෙන් අස්වූ වහාම අළුගෝසු කම් කරන කාලයේ අවසරයක් නොලැබුනු නිසාත් ප්‍රත්‍යය පරිභෝග කිරීමට ඇති කැමැත්ත නිසාත් එළ කිරි මිශ්‍ර කැඳක් පිසීය. කය ද පිරිසිදු කොට සුවඳ ගැල්වීය. සමන් මල් පැළඳිය. අලුත් ඇඳුම් ඇඳ ගත්තේය මෙලෙස කය අලංකාර කරගෙන එළ කිරි මිශ්‍ර කැඳ බීමට බලාපොරොත්තුවෙන් සිටියේය. මේ අවස්ථාවේ සාරිපුත්‍ර ස්වාමීන් වහන්සේ පිඬු පිණිස එහි වැඩියේය. තම්බ දාඨිකයා මහා තෙරුන් දැක ඉතා සතුටට පත් වී ආරාධනා කොට අසුන් ගන්වා තමා පරිභෝග කිරීමට තිබූ කැඳ පිළිගැන්වීය. කැඳ වළඳා හමාර කොට සාරිපුත්‍ර ස්වාමීන්

වහන්සේ අනුමෝදනා ධර්මයක් දේශනා කළ සේක. පනස් පස් වසරක් පුරා කළ අළුගෝසුකම් සිහි වී තම්බ දාඨිකයාගේ සිත නොසන්සුන් වීය.

එම අවස්ථාවේ සාරිපුත්‍ර ස්වාමීන් වහන්සේ එය දැනගෙන "දායක මහත්මයාණෙනි! එම නරක වැඩ තමාගේ කැමැත්ත පරිදි කළා ද නැත්නම් අනුන් අණ කළ නිසා කළා ද"යි ප්‍රශ්න කළේය. "රජතුමාගේ අණ පරිදි සිදු කළේ යැ"යි පිළිතුරු දුන් අවස්ථාවේ "දායකයෙනි! එසේ වී නම් එම අකුසලය ඔබගේ අකුසලයක් යැයි යන්න සත්‍ය දැ"යි ප්‍රශ්න කළ සේක, එම අවස්ථාවේ තම්බදාඨික තෙමේ රජතුමාගේ නරක මිස මගේ නරක වැඩක් නොවේ යැ' යි සලකාගෙන, කල්පනා කරගෙන ඒ අනුව සිත සකස් කරගත් බැවින් ධර්මය අසන්නට හැකි වී, මනසිකාරය පැවැත්විය හැකි වී, අනුලෝමික ඛන්ති නම් වූ සංඛාර උපේක්ඛා ඤාණයට පත්වියැ.

**සො ථෙරෙ අනුමොදනං කථෙන්තෙ එකග්ග චිත්තො හුත්වා ධම්මං සුණන්තො සොතාපත්ති මග්ගස්ස ඕරතො අනුලොමිකං ඛන්තිං නිබ්බත්තෙසි.**

[ධ. අ. 1/311]

| | | |
|---|---|---|
| **ථෙරෙ** | = | සාරිපුත්ත මහාථෙර තෙම |
| **අනුමොදනං කථෙන්තෙ** | = | අනුමෝදනා ධර්ම දේශනා කරන කල්හි |
| **සො** | = | එම තම්බදාඨිකයා |
| **එකග්ග චිත්තො හුත්වා** | = | එකඟ සිතින් යුතුව |
| **ධම්මං සුනන්තො** | = | ධර්මය අසන්නාහු |
| **සොතාපත්ති මග්ගස්ස ඕරතො** | = | සෝතාපත්ති මාර්ගයට මොබින් වූ |
| **අනුලොමිකං** | = | මාර්ග ඤාණයට අනුලෝම වූ |
| **ඛන්තිං** | = | සංඛාර උපෙක්ඛා ඤාණයට |
| **නිබ්බත්තෙසි** | = | පත්වීය. |

(සාමාන්‍ය විපස්සනා ඤාණවලට ද අනුලෝමික ඛන්ති යැයි කිව හැක්කේය. නමුදු මෙහිදී **සොතාපත්ති මග්ගස්ස ඕරතො** යැයි දැක්වෙන නිසා මාර්ග ඤාණයට ආසන්න වූ සංඛාර උපෙක්ඛා ඤාණය යැයි ගැනීම වටනේය.)

ධර්ම දේශනා කොට වැඩියා වූ සාරිපුත්‍ර ස්වාමීන් වහන්සේ සමඟ පසු ගමන් ගොස් ආපසු තම ගෙට පැමිණෙන අතර වෛර බැඳගත් යක්ෂණියක්

ගවදෙනකට ආවේශ වී පැමිණ ඇන මරා දැමීම නිසා එම තම්බදාඨිකයා මියගොස් තුසිත දිව්‍ය ලෝකයේ පහළ විය. එම අවස්ථාවේ ධර්ම සභාවේ රැස්වූ සංඝයා වහන්සේ මෙසේ සාකච්ඡා කළ සේක. "

තම්බදාඨිකයා අවුරුදු 55ක් පුරා ඉතාම කෲර වූ රාජකාරියක් කළේය. අදම එම රාජකාරියෙන් ඉවත් වී අදම සාරිපුත්‍ර ස්වාමීන් වහන්සේට පිඬු පිදීය, අදම මියගියේය. කොහි පහළ වී දැයි නොදන්නෙමු" යි යනුයි. එම කථාව හා සම්බන්ධව බුදුරජාණන් වහන්සේ පහත සඳහන් ගාථාව දේශනා කළ සේක.

**සුභාසිතං සුනිත්වාන - නගරෙ චොර ඝාතකො,**
**අනුලොම ඛනතිං ලද්ධාන-මොදතී තිදිවං ගතො** [ධ. ප. අ. 2]

| | | |
|---|---|---|
| **නගරෙ** | = | රජගහ නුවර |
| **චොර ඝාතකො** | = | සොරුන්ගේ හිස ගසා දමන්නා වූ තම්බදාඨිකයා |
| **සුභාසිතං** | = | සාරිපුත්‍ර ස්වාමීන් වහන්සේ විසින් මනා කොට දේශනා කරන ලද ධර්මය. |
| **සුනිත්වා** | = | අසා |
| **අනුලොම ඛනතිං** | = | මාර්ග ඥාණයට අනුලෝම වූ සංඛාර උපෙක්ඛා ඥාණය |
| **ලද්ධාන** | = | ලබා |
| **තිදිවං ගතො** | = | දෙව්ලොවට පත්වී |
| **මොදති** | = | මෝදනය කරයි. |

එම අවස්ථාවේ භික්ෂූන් වහන්සේ නොපැහැද "ස්වාමීන් වහන්ස, ඔහු විසින් කරන ලද අකුසල් බලවත්ය. අනුමෝදනා ධර්ම දේශනාව බලවත් නැත. මෙපමණක් විශේෂ ඥාණ කෙසේ නම් පහළ විය හැක්කේ දැයි ප්‍රශ්ණ කළ සේක. එවිට බුදුරජාණන් වහන්සේ මහණෙනි! මගේ ධර්මය ටිකක් - ගොඩක් යැයි සන්සඳනය නොකරවූ, එක ක්ෂණයක් වුව අර්ථවත් දේශනා උතුම් වේ. ප්‍රණීත වේ යැයි, අනුශාසනා කොට පහත සඳහන් ගාථාව දේශනා කළ සේක.

**සහසසමපි වෙ වාචා-අනත්ථ පද සංහිතා**
**එකං අත්ථ පදං සොය්‍යො-යං සුත්වා උපසමමති** [ඛු. නි. 1/46]

**අනත්ථ පද සංහිතා** = අනර්ථ කර පද සහිත වූ

**වාචා** = කථා

**සහස්සං වෙපි** = දහසක්-දෙදහසක් ලෙස, දහස් ගණනින් බහුල වූ නමුදු

**පාපිකා එව** = නපුරක්ම වේ. පාපීම වේ.

**යං** = යම් පදයක්

**සුත්වා** = අසා

**උපසම්මති** = කෙලෙස් සන්සිඳේ

**තාදිසං** = එවැනි ආයතන, ධාතු, සතිපට්ඨාන ආදී ඵල ගෙන දෙන ලද

**එකම්පි** = එකක්, එක පදයක් වුවද

**සෙය්‍යො** = ශ්‍රේෂ්ඨය.

මේ තම්බදාඨිකයා මෙම භවයෙහි මාර්ග-ඵලයන්ට පත් නොවූ නිසා, නෙය්‍ය පුද්ගලයකු හෝ නොවූ නිසා උග්ඝටිතඤ්ඤූ හෝ විපඤ්චිතඤ්ඤූ පුද්ගලයෙක් යැයි කීමට කිසිත් ඉඩක් නැත. එම නිසා බොහෝ කලක පටන් සීලය පිරිසිදු කිරීමකින් තොරව නමුත් තම්බදාඨිකයා පටිපදා ඤාණදස්සන විශුද්ධියේ කෙළවර ඇති සංඛාර උපේක්ඛා ඤාණයට පත්වීම කෙසේ සිදුවීදැයි කල්පනා කොට බැලීය යුත්තකි. ගිහියන්ගේ වනාහි ශීලය බිඳී තිබීම අන්තරාය කර නොවන බව නිසා නොවන්නේද?

මෙම භවයෙහිදීම මාර්ග - ඵල නොලැබීමට හේතු දෙකකි. මේ දෙක තුළින් පළමු වූ **පාප මිත්තතා** = පාප මිත්‍රයන් හා ඇසුර ලැබීමේ හේතුව නිසා අජාසත්ත රජ මාර්ග ඵලයන්ට පත් නොවීය. "දේවදත්ත භික්ෂුවගේ බස් අසා සිදු කළ පීතෘ ඝාතක කම්මන්තරාව නිසා මාර්ග-ඵල නොලැබී යැයි" කියනු ලැබේ. එවන් අන්තරා ඇති පුද්ගලයෝ මාර්ග - ඵලයන් තබා උදයබ්බය ඤාණය ආදී වූ විපස්සනා ඤාණයන් වත් නොලබන්නාහ.

## ශික්ෂාව හා ධර්ම දේශනාව අසම්පූර්ණ නිසා ධර්ම ලාභය නොලබයි

දෙවැනි කාරණාව වූ ශික්ෂාවත් ධර්ම දේශනාවත් අසම්පූර්ණ බව = **කිරිය පරිහානි** නිසාද මාර්ග ඵල නොලැබීම වේ. මජ්ඣිම නිකායේ මජ්ඣිම

පණ්ණාසකයේ කන්දරක සූත්‍රයෙහි සඳහන් පෙස්ස නම් තැනැත්තා තමාගේ මනසිකාරය පැවැත්වීමේ උත්සාහය අසම්පූර්ණ වූ නිසා මාර්ග ඵල-නොලැබීය. ඔහු **අත්තන්තප** ආදී පුද්ගල වර්ග හතර සම්බන්ධව විස්තර දේශනාව කෙළවර වනතෙක් ඇහුම්කන් දුන්නේ නම් සොතාපන්න විය හැකිව තිබුණ නමුදු ධර්ම දේශනාව කෙළවර කිරීමට කලින් නැගිට ගිය නිසා මාර්ග-ඵල ලාභය නොලැබීය. දැන් මේ කාලයේ මාර්ග-ඵල ලබාගත හැකි පුද්ගලයන් අතර නියම මාර්ගය, නිවැරදි මාර්ගය ලැබුවේ නමුත් කිසිත් උත්සාහ නොකරන නිසා හෝ උත්සාහය අතින් සම්පූර්ණ නැතිකම නිසා මාර්ග ඵලයන් නොලබා ජීවිතය කෙළවර කරන්නන් එම පෙස්ස නැමැත්තා මෙන් **කිරිය පරිහානි** = භාවනා කිරීමේ උත්සාහය අතින් අසම්පූර්ණ බැවින් ඵල ප්‍රයෝජන නොලබන්නෝය. තවදුරටත් ධනංජානි බ්‍රාහ්මණයා මරණාසන්න අවස්ථාවේ සාරිපුත්ත මහ තෙරුන් වහන්සේ විපස්සනා ධර්ම දේශනා නොකොට ශමථ ධර්මයක්ම දේශනා කළ සේක. එම නිසා බ්‍රාහ්මණයා ශමථ ධ්‍යානයන්ම වඩා මිය ගොස් බ්‍රහ්ම ලෝකයට පත්වීය. ඉදින් විපස්සනා ධර්මයක් දේශනා කළේ වී නම් බ්‍රාහ්මණයාට මෙලොව ගිහි භාවයේදීම මාර්ග-ඵල ලබාගත හැකිව තිබුණි. එම නිසා මෙම ධනංජානි බ්‍රාහ්මණයා මාර්ග-ඵල නොලැබීමේ හේතුව දේශනාව අතින් අංග සම්පූර්ණ නොමැති වීමය. එම නිසා බුදුරජාණන් වහන්සේ සාරිපුත්‍ර ස්වාමීන් වහන්සේගේ එම අඩු-පාඩුව පෙන්වා බ්‍රහ්මලෝකයට වැඩම කොට ධර්ම දේශනා කිරීමට අනුශාසනා කළ සේක. සාරිපුත්‍ර ස්වාමීන් වහන්සේ ද ඉක්මනින්ම වැඩම කොට ධර්ම දේශනා කළ සේක. එතැන් පටන් සාරිපුත්‍ර ස්වාමීන් වහන්සේ ධර්ම දේශනා කරන වාරයක් පාසා නොවරදවාම චතුරාර්‍ය්‍ය සත්‍යයත් අත්නොහැර ඇතුළත් කොට දේශනා කළ සේක. දැන් කාලයෙහි මාර්ග - ඵල ධර්මයන් ලැබීමට වාසනා ඇත්තන් වී නමුත් නියම විපස්සනා ක්‍රමය අසන්නට, දකින්නට නොලැබීම නිසා මාර්ග-ඵලයන් නොලබාම හිස්ව ජීවිතය කෙළවර කරන පුද්ගලයන් මේ ධනංජානි බ්‍රාහ්මණයා මෙන් **කිරිය පරිහානි** = ධර්ම දේශනාව අසම්පූර්ණ නිසා, ඵල ප්‍රයෝජන නොලබන්නන් වෙත්.

තම්බදාඨිකයාගේ මාර්ග-ඵල නොලැබීම භාවනා උත්සාහයේ අඩුපාඩුව නම්වන **කිරිය පරිහානිය** නිසාම වේ. සංඛාර උපෙක්ඛා ඤාණය තෙක්ම පත්වීම ගැන සලකා බලන විට ධර්ම දේශනාව අතින් නම් තවත් අඩුවක් නොපෙනේ. පාප මිත්‍රයන් හා ඇසුර සම්බන්ධ අන්තරාවද නොවේ යැයි දත යුතුය.

මේ දක්වූ සාධක කථා වස්තූන්ට අනුව පශ්චිම භවික වන උග්ඝටිතඤ්ඤූ හෝ විපඤ්චිතඤ්ඤූ පුද්ගලයකු නොවීම නියම හේතුව නොවන්නේය. පෙරාතුවම ශීලය පිරිසිදු නොවීම භික්ෂූන් වහන්සේලාට පමණක් අන්තරාය කර වන නමුත් ගිහියන්ට අන්තරාය කර නොවේය, යන මේ කාරණයම නියම හේතුව යැයි තීරණය කළ හැක්කේය. නමුදු ශීල විශුද්ධිය නොමැති නම් විපස්සනා ඤාණ මාර්ග ඤාණ පහළ විය නොහැකි බැවින් සන්තති අමාත්‍යයා ආදීන්ගේ ශීල විශුද්ධිය සිදුවූ ආකාරය පහත දක්වෙන ලෙසට සලකා ගත යුතු වේ.

ධර්ම දේශනාව ආසන්නයේ වේවා, ධර්මයට ඇහුම්කන් දෙන අවස්ථාවේ වේවා, තමා සිදු කළ නරක කටයුතු නැවත නොකරන්නෙමි යි සිතා තීරණය කිරීම සිදුවූයේ නම් එම සිතීම, තීරණය මඟින්ම සීල විසුද්ධිය සිද්ධ වේ යැයි සලකා ගතයුතු. මෙසේ සිතීමක් තීරණයක් නොමැති විට හෝ වේවා භාවනා මනසිකාර චිත්තුප්පාදයන් මඟින්ම ශීල විශුද්ධිය ද සම්පූර්ණ වේයැ'යි කිවයුතු වන්නේය.

## භාවනාවෙන් ශීල විසුද්ධිය සම්පූර්ණ වීම

**ඤාණෙන අවිජ්ජාය අනිච්චානුපස්සනාය නිච්ච සඤ්ඤාය පහානං සීලං, වෙරමණී සීලං, චෙතනා සීලං, සංවරෙ සීලං, අවීතික්කමො සීලං, එවරූපානි සීලානං චිත්තස්ස අවිප්පටිසාරාය සංවත්තන්ති. පාමොජ්ජාය, පීතියා, පස්සද්ධියා, සොමනස්සාය සංවත්තන්ති, එකන්ත නිබ්බිදාය, විරාගාය නිරොධාය උපසමාය අභිඤ්ඤාය සම්බොධාය නිබ්බානාය සංවත්තන්ති. යො තත්‍ථ සංවරට්ඨො අයං අධිසීල සික්ඛා. යො තත්‍ථ අවික්ඛෙපට්ඨො අයං අධිචිත්ත සික්ඛා, යො තත්‍ථ දස්සනට්ඨො අයං අධි පඤ්ඤා සික්ඛා.**

(පටිසම්භිදාන මග්ග පාළි; සමහරක් පාඨ අත්හරින ලදී. ඒවා පටිසම්භිදාන මග්ග 99-96 පිටු බලා දැන ගන්න.)

**ඤාණෙන** = නාම-රූප පරිච්ඡේද ඤාණය, පච්චය පරිග්ගහ ඤාණය

**අවිජ්ජාය** = මෙම ඤාණයන්ට ප්‍රතිපක්ෂ මෝහය, අවිද්‍යාව

[මහා ටී.(සි) 1/67 අනුවයි]

| | | |
|---|---|---|
| **අනිච්චානුපස්සනාය** | = | සම්මසන ඥාණ අවස්ථාවේ ආදී වූ අනිච්චානුපස්සනාව මගින් |
| **නිච්ච සඤ්ඤාය** | = | නිත්‍ය සංඥාව |
| **පහානං** | = | දුරු කිරීම |
| **සීලං** | = | සීලය නම් වේ. |
| **වෙරමණී** | = | විරමණය |
| **සීලං** | = | සීලය නම් වේ |
| **චෙතනා** | = | චේතනාව |
| **සීලං** | = | සීලය නම් වේ |
| **සංවරො** | = | සංවරය |
| **සීලං** | = | සීලය නම් වේ |
| **එව රූපානි සීලානි** | = | මේ ස්වරූප ඇති සීලයන් |
| **චිත්තස්ස අවිප්පටිසාරාය** | = | සිතෙහි විපිළිසර බව නොමැති වීම පිණිස |
| **සංවත්තන්ති** | = | පවතිත් |
| **පාමොජ්ජාය** | = | කුඩා ප්‍රමෝදයක් පිණිස |
| **පීතියා** | = | බලවත් ප්‍රීතියක් පිණිස |
| **පස්සද්ධියා** | = | සිත-කය පස්සද්ධිය පිණිස |
| **සොමනස්සාය** | = | සොම්නස් බව පිණිස |
| **සංවත්තන්ති** | = | පවතිත් |
| **එකන්ත නිබ්බිදාය** | = | ඒකාන්ත නිබ්බිදාව පිණිස |
| **විරාගාය** | = | ඒකාන්ත විරාගය පිණිස |
| **නිරොධාය** | = | ඒකාන්ත නිරෝධය පිණිස |
| **උපසමාය** | = | ඒකාන්ත සංසිඳීම පිණිස |
| **අභිඤ්ඤාය** | = | ඒකාන්ත විශේෂ ඥාණය පිණිස |
| **සම්බොධාය** | = | ඒකාන්ත අවබෝධය පිණිස |
| **නිබ්බානාය** | = | ඒකාන්ත නිවීම පිණිස |
| **සංවත්තන්ති** | = | පවතිත්. |
| **තත්ථ** | = | එම විපස්සනා චිත්තුත්පාදයෙහි |

| | | |
|---|---|---|
| **යො සංවරටෙඨා** | = | යම් සංවර භාවයක් |
| **අත්ථි** | = | ඇත්තේ ද |
| **අයං** | = | මේ සංවරය |
| **අධිසීල සිකඛා** | = | අධිසීල ශික්‍ෂාවයි. |
| **තතථ** | = | එම විපස්සනා චිත්තුත්පාදයෙහි, |
| **යො අවිකෙඛපටෙඨා** | = | යම් අවික්ෂේප භාවයක්, |
| **අත්ථි** | = | ඇත්තේ ද |
| **අයං** | = | මේ අවිකෙඛප භාවය |
| **අධිචිතත සිකඛා** | = | අධිචිත්ත ශික්‍ෂාවයි. |
| **තතථ** | = | එම විපස්සනා චිත්තුප්පාදයෙහි |
| **යො දසසනටෙඨා** | = | යම් දර්‍ශන ස්වභාවයක් |
| **අත්ථි** | = | ඇත්තේ ද |
| **අයං** | = | මේ දර්‍ශන ස්වභාවය |
| **අධිපඤ්ඤා සිකඛා** | = | අධිප්‍රඥා ශික්‍ෂාවයි. |

පහාන සීල යැයි දක්වෙන තැන අර්ථය වනාහී: නාම - රූප පමණක් ම ඇත්තේ යැයි දත යුතු ඥාණය මඟින් පුද්ගලයෙක්, සත්ත්වයෙක් ඇතැයි ගන්නා වැරදි දැනීම නම් වූ අවිද්‍යාව පහ කිරීමයි. හේතු - ඵල පමණක් ඇත්තේ යැයි දත යුතු ඥාණයෙන් සත්ත්වයා ඉබේ පහළ වේ, (=අධිචච සමුපපනන) යැයි කියා ද ඊශ්වරයා - බ්‍රහ්මයා- ශක්‍රයා විසින් මවන ලදැයි" කියා ගත් මිත්‍යා ඥාණ නම් වූ අවිද්‍යාව පහ කිරීමයි. අනිත්‍යය භාවය දැනගත් ඥාණය මඟින් අරමුණක් පාසා පහළ වන රූප-නාමයන් "නිත්‍ය" යැයි වරදවා ගන්නා අවිද්‍යා කෙලෙස් පහ කිරීමයි. "පහකරයි" යනු ආලෝකය පහළ වන විට අඳුර අතුරුදන්වන්නා සේ නියම දැනීම පහළ වීම නිසා මිත්‍යා ඥාණ පෙරටු කරගත් කෙලෙස් මල අතුරුදන් වීම, පහළ වීමට අවස්ථාව නොලැබීමයි. පහළ වීමට නුසුදුසු වීමයි. මෙලෙස කෙලෙස් පහළ වීමට ඉඩක් නොලැබීම නිසා පසු - පසු කාලයෙහි විපස්සනා ආදී කුසල් ධර්‍ම පමණක්ම දිගින් දිගට පහළ වෙත්.

මෙසේ පසු-පසු කුසල් වල පහළ වීම "පෙර-පෙර විපස්සනාව නිසා පසුවට කෙලෙස් පහළ වීමට අවස්ථාවක් නොලැබීම" නම් වූ ප්‍රහාණය

තහවුරු වේ. මෙම ප්‍රහාණය නිසා පසු කාලයෙහි කුසල් වනාහි අකුසල් සමඟ මිශ්‍ර නොවී කුසල්ම පමණක් තහවුරු වේ. එම නිසා එම ප්‍රහාණය පසු-පසු කුසල් හි පදනම හෙවත් **උපධාරණය** ද වේ. එම කුසල් හොඳින් අකම්පිය ලෙස තහවුරු කරන **සමාධානය** ද වේ. මෙලෙස **උපධාරණ, සමාදාන** යන දෙකම ඇති නිසා එම ප්‍රහාණයටම **පහානං සීලං** යැයි දේශිතය, විපස්සනාව නිසා කෙලෙස් පහළ විය නොහැකි බවම සීලය නම් වේයැයි අදහස් කෙරේ. වෙරමණී ශීලය යනාදියෙහි ද **උපධාරණ -සමාධාන** යන දෙකම යෙදීම අනුව ශීලය යන නම ලබන ආකාරය මෙලෙසටම වටහා ගන්න.

### වෙරමණී ශීල

විපස්සනා චිත්තුප්පාදයෙහි විරති චෛතසික තුන පහළ නොවන බව අට්ඨකථා හා ටීකා යන දෙක්හිම දැක්වේ. එසේම විපස්සනා චිත්තුප්පාදයේ දුශ්චරිත-දුරාජීව යන මේවාට ප්‍රතිපක්ෂ ධර්මයන් තදංග ප්‍රහාණ වශයෙන් විරමණ කෘත්‍යය සම්පූර්ණ කරයි. යම්සේ මාර්ග විරතීන් නිවනම අරමුණු කරත්ද, එම ක්ෂණයෙහිදී විරමිතබ්බ වස්තුව අරමුණු කිරීමක් හෝ "විරමණය කරමි"යි මනසිකාරයක් හෝ නැත. එසේම දුශ්චරිත දුරාජීව සමුච්ඡේද ප්‍රහාණ වශයෙන් දුරුකරයි. එමඟින් විරමණ කෘත්‍යය සලසයි.

### සලසන ආකාරය

නාම-රූප පරිච්ඡේද ඥාණ ආදිය පහළ වී නම් එම මෙනෙහි කරන අරමුණ මත පුද්ගලයාය, සත්ත්වයා යැයි වරදවා ගැනීම, සත්ත්වයා ඉබේ පහළ වේ යැයි වරදවා ගැනීම, නිත්‍යය, සුඛය, ආත්මය යැයි වරදවා ගැනීම යන කෙලෙස් පහළ විය නොහැක්කේය. මේ තත්වය වනාහි ආරම්මණානුසයෙහි දුරු වීමයි. කෙලෙස් පහළ නොවිය හැකි නිසා පුද්ගල සත්ත්ව ආදී වශයෙන් වරදවා ගැනීමේ පරියුට්ඨාන අවස්ථාව නොමැත්තේය. එසේ නොගැනීම, නොසිතීම නිසා පුද්ගලයා, සත්ත්වයා යැයි ගෙන පාණාතිපාතය ආදිය ව්‍යතික්‍රමණය නොකරන්නේය. මෙලෙස ආරම්මණානුසයේ පටන් වීතික්කම තත්වය දක්වා කෙලෙස් පහළ විය නොහැකි නිසා නාම-රූප පරිච්ඡේද ඥාණය ආදිය පහළ වන වාරයක් පාසා එම කෙලෙස් වලින් වැළකීම සම්පූර්ණ වේ. එම නිසා එයට වෙරමණී ශීලය යැයි දේශනා කරන ලදී.

## චේතනා ශීල

මෙනෙහි කිරීම කෘත්‍යය සාධනයෙහිලා උනන්දු කරවන චේතනාවද සෑම භාවනා මොහොතකම යෙදේ. සංවරයකින් තොර සාමාන්‍ය මිනිසුන්ගේ චේතනාව දුශ්චරිත සඳහා ඕනෑම මොහොතක එළඹ පවතී. යෝගීන්ගේ ද සද්ධා, ඡන්ද හා විරිය ශක්තිය දුර්වල වූ විට මෙනෙහි කිරීමෙහි කැමැත්ත දුර්වල වේ. ප්‍රකට නොවේ. සද්ධා, ඡන්ද හා විරිය බලවත් වූ කල මෙනෙහි කිරීම ප්‍රබල වේ. මෙම චේතනාවේ මෙහෙය වීම නිසා මෙනෙහි කිරීම සම්පූර්ණ විය හැක්කේය. එම නිසා චේතනාව කුසල කර්මයන්ට උපධාරණය, සමාධානය (=සලකා බැලීම හා යෙදවීම) වන නිසා එයටම චේතනා **සීලය** යැයි කියනු ලැබේ.

## සංවර ශීල

ඉන්ද්‍රිය සංවරය සම්බන්ධව දක්වූ සංවර පහ **සංවර සීල** නම් වේ. විපස්සනා භාවනා කරන්නාගේ මෙනෙහි කිරීමක් පාසා විපස්සනා චිත්තුප්පාදයෙහි යෙදෙන මෙම සංවර පහ මඟින් අසංවර ධර්මයන් පහළ නොවීම පිණිස වග බලා ගැනීම, වැළැක්වීම සිදු වේ. විශේෂයෙන් සති, ඥාණ, ඛන්ති, විරිය, යන මේවා සංවර ශීලය යැයි ගත යුතු වේ.

## අවිතික්කම ශීල

මෙනෙහි කොට ඇති සැටිය දන ගන්නා සිත මඟින් වනාහි වැරදි ලෙස වටහා ගන්නා මෝහය ආදියට අවකාශ නොතබන නිසා එය මෝහ ආදී ධර්ම වීතික්කම නොකිරීම, පහළ නොකිරීම නම් වේ. තවදුරටත් පැහැදිලි කළහොත්, පාණාතිපාත චේතනාව පහළ වීම ඒ අනුව ව්‍යතික්‍රමණය කිරීම අජ්ඣාචාර (=දුශ්චරිත ) නම් වේ. පාණාතිපාතයෙන් විරමණය වීමේ සිත ඉපදීම යනු වීතික්කම නොවීමයි. සිදු නොවීමයි. එලෙසටම මෙනෙහි නොකරන සිත **අනුසය-පර්යුට්ඨාන - වීතිකකම** යන කෙලෙස් සඳහා අවස්ථාව ලබාදෙන නිසා කෙලෙස් ව්‍යතික්‍රමණය නම් වේ. මෙනෙහි කරන සිත මෙම කෙලෙස්වලට අවස්ථාවක් නොදෙන නිසා ඒවා වීතික්කම නොකිරීම නම් වේ. එම නිසා මෙනෙහි කරන චිත්තෝත්පාදයට **අවිතිකකම සීල** යැයි කියනු ලැබේ.

මේ ශීල වර්ග පහ තුළ චේතනා ශීල, සංවර ශීල යන මේවාම ප්‍රධාන වේ. වැදගත් වේ. පහාන ශීල වනාහි කෙලෙස් බැහැර කිරීම, පහළ නොවනු

පිණිස හේතු වීම, පහළ වීමට ඉඩ නොතිබීම වේ. කෙලෙස් දුරුවීමයි. වෙරමණී ශීල, අවීතික්කම ශීල යන මේවා **"වෙරමණී වසෙන අවිතික්කම වසෙන චෙතසො පවත්ති සබභාවං සනධාය වුත්තා"** යන විශුද්ධි මාර්ග (39) දැක්වීමට අනුව ප්‍රධාන වශයෙන් විපස්සනා චිත්තුප්පාදයම වේ. නමුදු විශේෂිත වන චේතනා හා සංවර ශීලයන්ගෙන් තොර චිත්තුප්පාදයන්ට පමණක් වෙරමණී ශීලය, අවීතික්කම ශීලය යැයි කියන බව සලකා ගතයුතු වේ.

මෙලෙස බෙදා දැක්වීමේදී වෙරමණී ශීලය හා අවීතික්කම ශීලය මූලධර්ම වශයෙන් සමාන වේ. නමුත් අනුසය, පරියුට්ඨාන, වීතික්කම, කෙලෙසයන්ගෙන් විරමණය අතින් සම්පූර්ණ වීම වෙරමණී ශීලය යැයි කියනු ලැබේ. තම සන්තානයට වැද ගැනීමට අවස්ථාවක් නොදීම අනුව එම කෙලෙස් පහළ නොවීම, නොපැමිණීම අවීතික්කම ශීලය යැයි කියනු ලැබේ. මේවා වනාහි මෙහි වෙනස බව සලකා ගත යුතු වේ.

**"යො තත්‍ථ සංවරටෙඨා"** යනාදියෙහි අර්ථය මතුකර ගැනීමේදී වනාහිඃ පහාන, වෙරමණී, චේතනා, අවීතික්කම සීලයන් හතර වර්ගය ශීල සංවර යැයි සලකා ගත යුතු වන්නේය. මනසිකාරය පැවැත්විය යුතු නාම -රූප අරමුණ දෙසට දිවගෙන ගොස් වැද ගත්තා සේ වැටහෙන සතිය ඤාණ සංවර නම් වේ. දැනගන්නා ඤාණය ද ඤාණ සංවර නම් වේ. අමනාප අරමුණක් හමුවේ දුශ්චරිතයන්ගෙන් වැළැක්විය හැකි වූ හෝ දුශ්චරිතයන්ට ප්‍රතිපක්ෂ වන්නාවූ අදෝෂය ඛන්ති සංවරය නම් වේ. භාවනා කිරීමේ විරිය, විරිය සංවරයයි. මේ සංවරයන් පහ හෙවත් විරමණයන් (වැළකීම්) වනාහි මෙනෙහි කරන වාරයක් පාසා විපස්සනා චිත්තුප්පාදයන්හි සම්පූර්ණව උපදී. මේ වැළකීම්, හෙවත් සංවර පහ විපස්සනා සිත් එකක් එකක් හි අධි ශීල ශික්ෂා නම් වේ.

මෙලෙස දැක්වීමේදී ඤාණය, සතිය, විරිය යන මේවා ශීලය යැයි කීම පරියායෙන් කීමකි. මුඛ්‍ය වශයෙන් කිවහොත් ඤාණය වනාහි නියම පඤ්ඤාන්ඛන්ධ යයි, සතිය, හා විරිය යන මේවා සමාධික් ඛන්ධයෙහි ලා ගැනේ.

තවදුරටත් විපස්සනා චිත්තුප්පාදයෙහි ශීල හතර වර්ගය සම්පූර්ණ වීම මෙලෙස දත යුතු වේ. ශීල සංවරයෙහි ලා දැක්වූ පහාන, වෙරමණී, චේතනා, අවීතික්කම ශීලයන් මඟින් පාතිමොකඛ සංවර ශීලය හා ආජීව පාරිශුද්ධි

ශීලය සම්පූර්ණ වේ. කෙසේද යත්, පහාන ශීලාදීයෙන් අනුසය - පරියුට්ඨාන - වීතික්කම කෙලෙස් සියල්ලම පහළ වීමට අවස්ථාවක් නොලැබීම හෙවත් කය-වචන-සිත මඟින් වීතික්කම කෙලෙස් සිදුවීමට කිසිත් ඉඩක් නොලැබීම සිදු වේ.

සති, ඤාණ, ඛන්ති, විරිය, සංවරාදිය ඉන්ද්‍රිය සංවර ශීලයන් වේ. මෙම සංවර සතර මගින් ප්‍රත්‍යයන් පරිභෝග කරන අවස්ථාවේ මෙනෙහි කොට දැන ගන්නා ඤාණ සංවරය ප්‍රත්‍ය සන්නිශ්‍රිත ශීලය සම්පූර්ණ කරයි. කෙසේද යත්; ප්‍රත්‍යවේක්ෂා කොට පරිභෝග කළ යුතු යැයි කියැවෙන බුදුරජාණන් වහන්සේගේ අනුශාසනාව ප්‍රත්‍යය හා බැඳී කෙලෙස් පහළ නොවීම සඳහා පමණි. විරුද්ධව ක්‍රියාත්මක වීමෙන් පරියුට්ඨාන - වීතික්කම යන කෙලෙස් වර්ග දෙක පමණක් දුරු කළ හැක්කේය. අනුසය කෙලෙස් වනාහි දුරු කළ නොහැක්කේය. විපස්සනා ඤාණයන්ට වනාහි එම ප්‍රත්‍යය මඟින් පහළ විය හැකි අනුසය කෙලෙස් පවා දුරු කළ හැක්කේය. එම නිසා ඤාණ සංවරය මඟින් ප්‍රත්‍යය සන්නිශ්‍රිත ශීලය සම්පූර්ණ ලෙස පිරිසිදු වීම පිළිබඳව හොඳින් තහවුරු ලෙස සිතට ගතයුතු වේ.

## භාවනාවෙන් සම්පූර්ණ වීම

නියම භාවනා වැඩ පිළිවෙල ඉතිහාසයේ කලින් කළ දුර්වලව ගිය නිසා ප්‍රත්‍යවේක්ෂාව "භාවනාවට වඩා උසස් යැ, උතුම් යැ"යි සැලකීමට පුරුදු වීම නිසා, භාවනාවෙන් ප්‍රත්‍යවේක්ෂාව සම්පූර්ණ වන බවට ඉහත දක්වූ කරුණු ගැන්වීම සමහරෙක් තවමත් පිළිනොගන්නාහ. ඇත්ත වශයෙන් ශමථ-විදර්ශනා භාවනාවෝ ප්‍රත්‍යවේක්ෂා කෘත්‍යය හා සන්සන්දනය කළ නොහැකි තරම් උතුම්ය. පුළුල්ය. මේ නිසා අසුරු සැණක් ගසන තරම් කාලයක් භාවනා මනසිකාරය යෙදවීම මගින්ද ප්‍රත්‍යය සන්නිශ්‍රිත ශීලය සම්පූර්ණ වන බව බුදුරජාණන් වහන්සේ දේශනා කළ සේක. අංගුත්තර නිකාය පාළි පාඨ උපුටා දක්වන්නෙමු. මෙය භික්ෂූන් වහන්සේලාට පමණක් අදාළ වූවකි.

**අච්ඡරා සංඝාතමත්තම්පි චෙ භික්ඛවෙ භික්ඛු මෙත්තා චිත්තං ආසෙවති, භාවෙති, මනසිකරොති, අයං වුච්චති භික්ඛවෙ භික්ඛු අරිත්තජ්ඣානො විහරති, සත්ථු සාසනකරො, ඔවාද පතිකරො, අමොඝං රට්ඨ පිණ්ඩං භුඤ්ජති කො පන වාදො යෙ නං බහුලීකරොන්ති.** [අං. නි. 1/80]

**අච්ඡරා සංඝාතමත්තම්පි චෙ භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති, වෙදනාසු වෙදනානුපස්සී, චිත්තෙ චිත්තානුපස්සී, ධම්මෙසු ධම්මානුපස්සී විහරති, ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣා දොමනස්සං, අයං වුච්චති භික්ඛවෙ භික්ඛු අරිත්තජ්ඣානො විහරති, සත්ථු සාසනකරො, ඔවාද පතිකරො, අමොඝං රට්ඨපිණ්ඩං භුඤ්ජති, කො පන වාදො යෙ නං බහුලීකරොන්ති.** [අං. නි. 1/80]

ප්‍රථම සූත්‍රයේ අර්ථය

| | | |
|---|---|---|
| **භික්ඛවෙ** | = | මහණෙනි, |
| **භික්ඛු** | = | භික්ෂුව |
| **මෙත්තා චිත්තං** | = | සත්ත්වයන්ගේ සුව කැමති සිත |
| **ආච්ඡරා සංඝාත මත්තං** | = | අසුරු සැණක් පමණ කාලයකුදු |
| **චෙ ආසෙවති** | = | ඉදින් පවත්වන්නේ නම් |
| **චෙ භාවෙති** | = | ඉදින් භාවිතා කරන්නේ නම් |
| **චෙ මනසිකරොති** | = | ඉදින් මනසිකාරය පවත්නේ නම් |
| **භික්ඛවෙ** | = | මහණෙනි, |
| **අයං භික්ඛු** | = | මෙවැනි භික්ෂුව |
| **අරිත්තජ්ඣානො විහරති** | = | ධ්‍යානයන්ගෙන් තොර නොවී වාසය කරයි යැයි |
| **සත්ථු සාසනකරො** | = | බුද්ධානුශාසනය කරන්නකු යැයි |
| **වුච්චති** | = | කියනු ලැබේ. |
| **රට්ඨපිණ්ඩං** | = | රට වැසියන් ශ්‍රද්ධාවෙන් පිළිගන්වන ලද පිණ්ඩපාතය |
| **අමොඝං භුඤ්ජති** | = | නොසිස්ව සිට පරිභෝග කරයි. |
| **යෙ** | = | එම භික්ෂූන් |
| **නං** | = | එම මෛත්‍රී සිත් |
| **බහුලී කරොන්ති** | = | බහුල කරත්, වැඩි දියුණු කරත් නම් |
| **තෙසු** | = | එම භික්ෂූන් ගැන |
| **වාදො** | = | භාවනාවෙන් තොර නොවූ බුද්ධානුශාසනය පිළිපදින්නවුන් විසින් දන් දෙන්නන්හට මහත් ඵල ලබාදෙමින් පිඬු වළඳන්නෝ යැයි කියනු ලැබීම. |

**කො පන** = කවර නම් වැරැද්දක් ඇත්ද?

**වා** = නැත්තේමයැ.

දෙවැනි සූත්‍රයේ අර්ථය සුගමය. එහි ප්‍රථම සූත්‍රයෙහි මෛත්‍රී සිත යන්න **"මෙතතාය සබබ පුබබ භාගො නාම නෙව අපපනා, න උපචාරො, සතතානං, හිත ඵරණමතත මෙව"** යනාදි ලෙසටද **"ඉධ පන මෙතතා පුබබභාගෙන හිත ඵරණපවතතන මතෙතනෙව ආසෙවතීති වෙදිතබබො"** යන්නද දක්වන අර්ථය කථාවට අනුව උපචාර - අප්පණා සමාධිය අදහස් නොකර සියලුම සත්ත්වයන් වෙත පතළ මෛත්‍රී සිතම, සාමාන්‍ය මෛත්‍රී සිතම අදහස් කරන බව දතයුතු.

එබැවින් මෙම සූත්‍රයන්ගේ සාරයට අනුව, මෙලෙස මෛත්‍රී භාවනාව වේවා, එයට අමතර වූ සමථ භාවනාවක් වේවා, කායානුපස්සනා ආදී විපස්සනාවක් වේවා අසුරු සැණක් පමණ වුවද භාවනා කරන්නේ නම් එවන් භික්ෂුව, බුදුරජාණන් වහන්සේගේ අනුශාසනා පිළිපදිමින් සංවර වන්නන් වන බැවින් සෙඛ පුද්ගලයන්ගේ ගණයට වැටෙන බැවින් දායකයන්ගේ පිණ්ඩපාතය පරිභෝග කිරීමෙන් එම භික්ෂුව විසින් දායකයනට බොහෝ ආනිසංස දායක වේ යැයි ද *අනණ්‍ය* පරිභෝගය, *දායජ්ජ* පරිභෝගය, *සාමි* පරිභෝගය ගණයට හෝ වැටේ යැයි සලකනු වටී. අඛණ්ඩව දිගට භාවනා කරන්නෙකු ගැන විශේෂයෙන් කිව යුත්තක් නැතැයි අර්ථය දක්වනු ලැබේ. එම නිසා අර්ථය කථාහි මෙලෙස විස්තර කෙරේ.

**භුඤජතීති චතතාරො පරිභොගා, ථෙයය පරිභොගො, ඉණ, දායජජ, සාමි පරිභොගො (-පෙ-විතථාර), තතථ ඉමසස භිකඛුනො අයං රටඨපිණඩ පරිභොගො දවීහි කාරණෙහි අමොඝො හොති. අචජරාසංඝාත මතතමපි මෙතතා චිතතං ආසෙවනෙතා භිකඛු රටඨපිණඩසස සාමිකො හුතවා අනණො හුතවා දායාදො හුතවා පරිභුඤජතීතිපිසස අමොඝො රටඨපිණඩ පරිභොගො, අචජරා සංඝාත මතතමපි මෙතතං ආසෙවනතසස භිකඛුනො දිනනදානං මහතථියං හොති මහපඵලං මහානි-සංසං මහා ජුතිකං මහා විපඵාරනතිපිසස අමොඝො රටඨපිණඩ පරිභොගො. යෙ පන ඉමං මෙතතා චිතතං බහුලං ආසෙවනති, භාවෙනති පුනපපුනං කරොනති, තෙ අමොඝං රටඨපිණඩං පරිභුඤජනතීති එතථ වතතබබ මෙව කිං, එව රූපාති හි භිකඛු රටඨපිණඩසස සාමිනො අනණා දායාදා හුතවා පරිභුඤජනති.** [අං. අ. 1/41]

අර්ථය කෙටියෙන්

අසුරු සැණක් පමණ කාලයක් නමුත් මෛත්‍රීය පතුරුවන භික්ෂුව ගේ පිණ්ඩපාත පරිභෝජනය මගින් තමා වශයෙන් ලබන ඵල, පිණ්ඩ දායකයන්ට ලැබෙන ඵල යන කරුණු දෙක නිසා අමෝඝ පරිභෝග= හිස් නොවන පරිභෝගයක් නම් වේ. නොසිස් වූ පිණ්ඩපාත පරිභෝගයක් නම් වේ. තමාට ලැබෙන ආනිසංසය ඵලයත් වනාහිඃ මෛත්‍රීය පතුරුවමින් පරිභෝග කරන නිසා සාමි පරිභෝගය = පිණ්ඩපාතයේ ස්වාමිත්වය ඇතිව පරිභෝග කිරීම. අනණ්‍ය පරිභෝගය = ණය නැතිව පරිභෝග කිරීම, දායජ්ජ පරිභෝග= දායාද වශයෙන් පරිභෝග කිරීම වන්නේය. ප්‍රත්‍යවේක්ෂා නොකරන්නේ නමුදු ඉණ පරිභෝගයට නොවැටේ. (අනණො භුත්වා යන වචනයම විශේෂ අවධානයට ලක් කරන්න) තව දුරටත් පරිභෝගය සම්බන්ධයෙන් මෛත්‍රී භාවනා කුසල් සිත ද වැඩේ. මේ වනාහි තමාට ලැබෙන ආනිසංසයෝය. දායකයාට ලැබෙන ආනිසංසයෝ වනාහිඃ භාවනාව වඩන භික්ෂුව සෝතාපත්ති ඵලයට පත්වනු පිණිස භාවනා කරන අට්ඨමක දක්ඛිණෙය්‍ය පුද්ගලයන් අතර මධ්‍යස්ථ තත්වයට අයත් වේ. එම නිසා එවැනි පුද්ගලයෙකුට පිණ්ඩපාතය දෙන දායකයා මහා අර්ථ මහත්ඵල මහානිසංසයන් ලබන්නේය. මේ වනාහි දායකයනට ලැබෙන ආනිසංසයෝය. මෙලෙස දෙපැත්තටම-දෙදෙනාටම ආනිසංස ගෙන දෙනබැවින් අමෝඝ පරිභෝග නම් වේ. මෛත්‍රී භාවනාව අඛණ්ඩව කරන භික්ෂූන් සම්බන්ධයෙන් වනාහි ආනිසංස ගැන කිව යුත්තක් නැත. එවැනි භික්ෂූන් වහන්සේලා වනාහි පිණ්ඩපාතයේ නියම ස්වාමි, නියම ණය නැති පුද්ගලයකු, නියම දායාද ලද්දන් ලෙස ද පරිභෝග කරන්නන් වේ යැයි කියනු ලැබේ.

අට්ඨ කථාවන්හි මෛත්‍රීය යැයි කෙළින්ම දක්වන ලද බැවින් මෛත්‍රීයෙන් පමණක්ම මෙසේ ආනිසංස රාශියක් ලැබෙන්නේ යැයි සැලකිය යුතු නොවේ. පෙළෙහි සමථ භාවනා සියල්ලද, ධ්‍යාන සමාපත්ති සියල්ල ද, කායානුපස්සනා ආදී විපස්සනා සියල්ලම ද මේ යටතේම දේශනා කොට ඇත්තේය. එම නිසා භාවනා ක්‍රම සියල්ලම මෙලෙස මහානිසංස ලබාදෙන්නේ යැයි සැලකිය යුතුවේ. අට්ඨකථාහි අනෙකුත් භාවනා ක්‍රම නොදක්වීමට හේතුව මේ මුලින්ම දක්වන මෛත්‍රී සූත්‍රයෙහි දැක්වූ ක්‍රමය හා සෙස්සද සමාන බැවින්ය. එම නිසා විපස්සනා ඥාණයෙන් ප්‍රත්‍ය සන්නිශ්‍රිත ශීලය සම්පූර්ණ වීම නිසැක බව සිතට ගන්න.

මේතාක් කථා ප්‍රවෘත්ති මගින් ගිහියන් විසින් බොහෝ කාලයකට පෙරාතුවම ශීලය ආරක්‍ෂා කළා හෝ වේවා නොකළා හෝ වේවා විපස්සනා චිත්තුප්පාද මගින් ශීල මාර්‍ග හතරම සම්පූර්‍ණ ලෙස පිරිසිදුවී විශුද්ධිය සිද්ධ වීම ප්‍රකටව පැනේ. නමුදු භාවනාව මාර්‍ගයෙන් පමණක් ශීල විශුද්ධිය සම්පූර්‍ණ වන ඇත්තාගේ සමාධි ප්‍රඥා වැඩීම,

**"සීලෙ පතිට්ඨාය නරො සපඤ්ඤො-චිත්තං පඤ්ඤඤ්ච භාවයං"**

යන දේශනාව අනුව කුමන සීලයක් කොතෙක් දුරට රැකිය යුතු දැයි ප්‍රශ්නයක් වන්නේ නම්,

## ශීලයේ පිහිටා වැඩීම

සියලු යෝගීන්ගේ සමාධි ප්‍රඥා වැඩීම වනාහි, උපනිස්සය ප්‍රත්‍යය වන්නා වූ පුබ්බභාග ශීලය හා නිස්සය ප්‍රත්‍යය වන්නා වූ සහජාත ශීලයේ (උපනිස්සය හා නිස්සය ප්‍රත්‍ය වශයෙන්) පිහිටා, ඒවා පිහිටාධාර කරගෙන වැඩීම යැයි පිළිතුරු දිය යුතුවේ. විස්තරය මෙලෙසය.

### උපනිස්සය පතිට්ඨා

පෙරාතුව බොහෝ කාලයක් තිස්සේ වේවා, භාවනාවට ආසන්නයේ වේවා, රැකගත් ශීලයක් ඇත්තාට එම ශීලය මතු පහළ වන්නා වූ විපස්සනා සමාධි - පඤ්ඤා හා මාර්‍ග සමාධි - පඤ්ඤාවන්ට උපනිස්සය පච්චය වශයෙන් ප්‍රතිෂ්ඨාව වේ. සමාදන්ව රැකගත් ශීලයත් ඇත්තේ වේවා, නැත්තේ වේවා, පෙර-පෙර විපස්සනා චිත්තුප්පාද මාර්‍ග, ඵල චිත්තුප්පාදයන්හී යෙදෙන ශීලයද පසු - පසු විපස්සනා සමාධි - පඤ්ඤාවන්ට, මග්ග සමාධි පඤ්ඤාවන්ට උපනිස්සය පච්චය වශයෙන් ප්‍රතිෂ්ඨාව සපයයි.

### නිස්සය පතිට්ඨා

එක එකක් විපස්සනා චිත්තුප්පාද හා මාර්‍ග චිත්තුප්පාදයන්හි යෙදෙන ශීලය, එම චිත්තුප්පාදයන් එක එකක යෙදෙන සමාධි - පඤ්ඤාවන්ට සහජාත-නිස්සය පච්චය වශයෙන් ප්‍රතිෂ්ඨාව වේ. එම නිසා පෙරාතුවම ශීල විශුද්ධිය ඇති තැනැත්තා උපනිස්සය ශීලය හා නිස්සය ශීලය යන දෙකම පදනම් කරගෙන සමාධි පඤ්ඤාවන් වඩනවා වන්නේය.

විපස්සනා මඟින්ම ශීල විශුද්ධිය සම්පූර්ණ කරන පුද්ගලයා ප්‍රථමයෙන් මෙනෙහි කරන චිත්තුපාදයෙහි සහජාත නිස්සය වන්නා වූ ශීලය මතම පිහිටා සමාධි පඤ්ඤාවන් වඩනවා වන්නේය. දෙවන වතාවට මෙනෙහි කරන චිත්තුප්පාද ආදියෙහිදී වනාහි උපනිස්සය පතිට්ඨා, නිස්සය පතිට්ඨා යන ශීල දෙවර්ගයම පිහිටාධාර කරගෙන විපස්සනා සමාධි - පඤ්ඤා වඩනවා වන්නේය. එම නිසා මහා ටීකාහී පහත දක්වෙන ලෙසට විස්තර කරයි.

**පතිට්ඨායා' ති දුවිධා පතිට්ඨා නිස්සයූපනිස්සය භෙදතො. තත්ථ උපනිස්සය පතිට්ඨා ලෞකියා, ඉතරා ලොකුත්තරා අභින්දිත්වා ගහණෙ. භින්දිත්වා පන ගහණෙ යථා ලෞකීය චිත්තුප්පාදෙසු සහජාතානං පුරිම පච්ඡිමානඤ්ච වසෙන නිස්සයූපනිස්සය පතිට්ඨා සම්භවති" එවං ලොකුත්තරෙසු හෙට්ඨිම මග්ගඵල සීල වසෙන උපනිස්සය පතිට්ඨාපි සම්භවති. "පතිට්ඨායා" ති ච පදස්ස යදා උපනිස්සය පතිට්ඨා අධිප්පෙතා. තදා "සද්ධං උපනිස්සාය"ති ආදීසු විය පුරිමකාල කිරියාවසෙන අත්ථො වෙදිතබ්බො. තෙනාහං "පුබ්බෙව ඛො පනස්ස කායකම්මං වචීකම්මං ආජීවො සුපරිසුද්ධො හොති"ති. යදා පන නිස්සය පතිට්ඨා අධිප්පෙතා, තදා චක්ඛුඤ්ච පටිච්චා"ති ආදීසු විය සමාන කාලකිරියා වසෙන අත්ථො වෙදිතබ්බො** [මහා ටී. (සි.) 1/11]

## සිංහල පරිවර්තනය

**"පතිට්ඨාය"** කියන තැන උපනිස්සය හා නිස්සය වශයෙන් ප්‍රතිෂ්ඨා දෙකකි. එම දෙක තුළ, අර්ය මග්ග හතරෙහි සමාධි-පඤ්ඤා නොබෙදා ගතහොත් ලෞකීක ශීලය උපනිස්සය පතිට්ඨාවයි. ලෝකුත්තර ශීලය නිස්සය පතිට්ඨාවයි. මාර්ග හතර උක්තාකාරයෙන් බෙදා දක්වූ කළ වනාහි "ලෞකීක විපස්සනා චිත්තුප්පාදයන්හි යෙදෙන ශීලය හා සමාධි - පඤ්ඤා වශයෙන් ද නිස්සයය පතිට්ඨා, උපනිස්සය පතිට්ඨා යන ලෙසට දෙකම විය යුතු වන්නේ යම්සේද" එසේම ලෝකුත්තර ශීලයන්ට වනාහි යට යට මාර්ග සීලයන් උපනිස්ස පතිට්ඨාව වන්නේය. (යට යට මාර්ග ඵල ශීලයන් උඩ උඩ මාර්ග සමාධි - පඤ්ඤාවන්ට උපනිස්සය වශයෙන් පතිට්ඨාව විය හැක්කේය යනු අර්ථයයි) මෙපමණක්ම නොව උපනිස්ස පතිට්ඨා යන්නෙන් "සද්ධං උපනිස්සාය" යනාදි තැන්වල මෙන් පතිට්ඨාය පදයේ අර්ථය පුබ්බකාල කිරියා වශයෙන්ද දතයුතු වේ. (**"සීලෙ පතිට්ඨාය"** = ශීලයෙහි පිහිටා යැයි යන ලෙසට අර්ථය ගත යුතුයි ගැනේ) එම නිසා "මේ භික්ෂුවගේ කාය කර්ම, වචී

කම්, ආජීවය පෙරාතුවම පිරිසිදු" යැයි දේශනා කළ සේක. නිස්සය පතිට්ඨාව යන්නෙහි අර්ථය "**චක්ඛුඤ්ච පටිච්ච**" ආදියෙහි මෙන් සමාන කාලකිරියා වශයෙන් අර්ථය දතයුතු. (සීලෙ පතිට්ඨාය ශීලයෙහි "පිහිටමින්" හෝ "පිහිටා" යැයි අර්ථය ගත යුතු යැයි කියවේ)

## විශේෂයෙන් සැලකිය යුතු

භාවනාව මඟින් ශීල විශුද්ධිය සම්පූර්ණ විය හැකි බව සවිස්තරව විග්‍රහ කිරීම වනාහි "භාවනාව වැඩීමට කැමති නම් ශීලය පිරිසිදුව කාලයක් ආරක්ෂා කළ යුතුය. ඊට පසුවම භාවනා වැඩිය යුතුවේ. දැන් වනාහි ශීලය සමාදන්ව රකින්න. වහාම භාවනා කිරීම හොඳ නැත"ය කියා වරදවා කියන පුද්ගලයන්ගේ ද එම කථාව අසා පිළිගන්නා පුද්ගලයන්ගේ ද භාවනා කටයුත්තට එම කථා බාධා නොවීම සඳහා ද, නිවැරැද්දට වැරැද්ද යැයි දෝෂාරෝපනය කොට අකුසල් සිදුකර ගැනීම වැළැක්වීම ද යන කරුණු ගැන්වීම සිත්හි දරාගෙන කරන ලියා දැක්වීමකි. ශීලයට ගරු නොකිරීමක් අදහස් කොට ලියනවා නොවේ.

## ඇත්ත වශයෙන් වනාහි

ශීලය ඉතාමත් ගරුකටයුතු ශික්ෂාවකි. සතර අපායෙහි ඇති දුකට පත්වී සිටින සත්ත්වයන් අතුරෙහි ශීලය අතින් පිරිහී ගිය බැවින් අපාගත වූ ඇත්තන් සියයට අනූනවයක්ම වේ. මනුෂ්‍ය භවයෙහි, දේව ලෝකයෙහි සුඛිත, මුදිත පුද්ගලයන් අතර ශීලය අතින් පිරිසිදු බැවින් උසස් දෙව්, මිනිස් බවට පත්වූවන් සියයට පණහට වඩා ඇත්තාහ. මාර්ග - ඵල ලද පුද්ගලයන් අතරින් ද ශීලය අතින් පෙරාතුවම පිවිතුරු වී මාර්ග ඵලයන්ට පත්වූවන් බහුල වේ. සන්තති මහා ඇමති වැනි පුද්ගලයන් පෙරාතුවම ශීලය පිරිසිදු නොකර මාර්ග-ඵලයන්ට පත්වූවන් විරලය.

එම නිසා ශීලය කවුරු නමුත් තම ජීවිතය සේ ගෞරවයෙන් සලකා ආරක්ෂා කළ යුතුවේමය. ආරක්ෂා කරනු වටී. පසුව ආරක්ෂා කරන්නේ යැයි සැහැල්ලු කොට නොසැලකිය යුතුය. හේතුව වනාහි එලෙස සැහැල්ලු කොට සලකා ශීලය, අතින් පිරිහී හදිසියේ මිය පරලොව ගියහොත් ඇසි පිය ගසන කාල පමාවකින් අපාගත වේ යැයි දැක්වෙන බැවින්, භාවනා වඩන්නට කැමැති පුද්ගලයන් සම්බන්ධයෙන් කුමන කථාද? මෙලෙස

පුද්ගලයන් ශීලය ජීවිතයට වඩා ගරු කොට සම්පූර්ණයෙන් පිවිතුරු ලෙස ආරක්ෂා කළ යුතුවේ. ආරක්ෂා කිරීම වටී.

එම නිසා භාවනා වඩන පුද්ගලයන් තමා නිරන්තරයෙන් ශීල සහිතව පිරිසිදුව සිටින්නේ නමුත් සමාධි ප්‍රඥාවන්ට උපකාරක බව සලකා පඤ්ච ශීලය වේවා, ආජීව අට්ඨමක ශීලයන් හෝ වේවා, භාවනාවට ප්‍රථමයෙන් සමාදන්ව ආරක්ෂා කළ යුතුවේ. ආරක්ෂා වීම වටී. පළිබෝධ සියල්ල දුරුකොට දින හතක් වේවා, ඊට වඩා වේවා දිවා රාත්‍රි නොබලා භාවනා වඩන්නේ නම් අටසිල් හෝ දසසිල් ආරක්ෂා කිරීම සුදුසුය.

ආනිශංසයන්

පිවිතුරුව ආරක්ෂා කළ යුතු ශීලය තමා භාවනා වඩන කාලයේ සිහිපත් වන වාරයක් පාසා මාගේ ශීලය පිවිතුරු යැයි තම සිත අවිප්පටිසාර බව පිණිස වන්නේ යැයි දත යුතුය. ප්‍රමෝදය පිණිස වන්නේය. ප්‍රීතිය පිණිස වන්නේය. කය - සිත පස්සද්ධිය පිණිස වන්නේය. සුඛය පිණිස වන්නේය. සිත සමාධිමත් භාවයට පිණිස වන්නේය. ප්‍රකටව ආ රූප-නාමයන් මෙනෙහි කොට භාවනා කළ හැකි වී, ඇති සැටිය දන්නා යථා භූත ඥාණය පිණිස ද වන්නේය.

මේ වනාහී ගිහියන් ශීල විශුද්ධිය ලබන ආකාරයයි.

***ගිහි ශීල විශුද්ධිය නිමියේ යැ.***

## ප්‍රථම පරිච්ඡේදය නිමියේ යැ.





## දෙවන පරිච්ඡේදය

# චිත්ත විශුද්ධිය

## සිතෙහි පිරිසිදු බව = නිර්මල සිත

චිත්ත විශුද්ධිය නම් වූ නම චිත්ත ශීර්ෂයෙන් දක්වන නමකි. ඇත්ත වශයෙන් ඒ ඒ බලවත් සමථ සමාධි, විපස්සනා සමාධි පහළ වීම නිසා විවිධ අරමුණු ගැන සිතීම නම් වූ නීවරණයන් බොහෝ කාලයකට වැද ගැනීමට ඉඩ නොතැබීමයි. සමථ අරමුණු විපස්සනා අරමුණු මත පිහිටි, එකඟ වූ සමාධියම දිගින් දිගට නිර්මල ලෙස පහළ වෙයි. එවැනි සමාධිය මුඛ්‍ය ලෙස චිත්ත විශුද්ධිය නම් වේ. මේ සමාධි ශක්තිය නිසා සම්ප්‍රයුක්ත සිත ද නීවරණයන්ගෙන් පිරිසිදු වේ.

## සමාධි වර්ග තුන

චිත්ත විශුද්ධිය නම් වූ සමාධිය **උපචාර සමාධි, අප්පණා සමාධි, ඛණික සමාධි,** වශයෙන් තුන් වර්ගයක් වෙත්. එම සමාධි තුන තුළ ශමථ භාවනාව වඩන්නාට මනසිකාරය පවත්වන අතර වාරයේ පහළ විය හැකි සිතිවිලි නම් වූ නීවරණ ධර්ම දුරුව ගිය විට පෙනෙනා පටිභාග නිමිත්ත වේවා, පිරිසිදු බුදුගුණ හෝ අරමුණු කොට අඛණ්ඩව පහළ වන කාමාවචර සමාධිය වේවා. එය උපචාර සමාධිය නම් වේ. අර්පණා ධ්‍යාන ආසන්නයේ පහළ වන සමාධිය යැයි අදහස් කෙරේ. එම සමාධීන් තුළ කසිණ, අසුභ, කායගතා යානය මගින් මාර්ග - ඵල - නිවනට ගමන් කරන පුද්ගලයා යැයි කියනු ලැබේ. එම නිසා ඛණික සමාධියම මේ ශුද්ධ විපස්සනායානික පුද්ගලයා නිශ්‍රය ලබන චිත්ත විශුද්ධිය වේ. යට සඳහන් කරුණු මතු දැක්වෙන අට්ඨ කථා, ටීකා, පාළි අනුවයත්.

**චිත්ත විසුද්ධි නාම සඋපචාර අට්ඨ සමාපත්තියො** = උපචාර සමාධිය ද සහිත වූ සමාපත්තීන් අට චිත්ත විශුද්ධිය නම් වේ. [වි. ම. 441]

මේ අට්ඨ කථාවෙහි ඛණික සමාධිය නොදක්වුව ද මතු දැක්වෙන ටීකා අට්ඨ කථා පාළි විවරණයන්හී එම සමාධිය ප්‍රකටව දක්වේ. එම නිසා මෙහිලා මෙසේ සලකා ගතයුතු වේ. සමථ යානිකයන්ගේ භාවනා වඩන පිළිවෙල ප්‍රධාන කොට දක්වීමක් බැවින්ද, කලින් වෙනමම (සමථ වශයෙන්) භාවනා කළ යුතු චිත්ත විශුද්ධිය පමණක් දක්වීමක් අවශ්‍ය නිසා ද, ඛණික සමාධිය වනාහි කලින් නොවඩන අතර විපස්සනා චිත්තුප්පාදයන්හීම යෙදී පහළ වන්නක් නිසාද, නීවරණයන් දුරුකිරීම් වශයෙන් උපචාර සමාධිය සමාන මේ විපස්සනා ඛණික සමාධිය **"සෙසානි ද්වාදසපි උපචාර කම්මට්ඨානා නෙව"** යන සතිපට්ඨාන සූත්‍ර අට්ඨ කථාව මෙන් උපචාර සමාධියෙහි ඇතුළත් කොට දක්වන බැවින්ද, යන මේ කරුණු නිසා ඛණික සමාධිය මෙහිලා වෙනම නොදක්වා අතහැර ඇතැයි සිතට ගතයුතු වේ. මෙලෙස පිළිගතහොත් පමණක් සියලු පොත පත හා ගැළපීම සිදු වේ. පහත දැක්වෙන සාධක සැලකිල්ලෙන් පරීක්ෂාකර බලන්න.

... **සමථොව යානං සමථයානං, තං එතස්ස අත්ථීති සමථයානිකො, ඣානෙ ඣානූපචාරෙවා පතිට්ඨාය විපස්සනං අනුයුඤ්ජනතසෙසතං නාමං. සමථයානිකස්ස සමථ මුඛෙන විපස්සනාභිනිවෙසො. විපස්සනා යානිකස්ස පන සමථ අනිස්සායාති ආහ සුද්ධ විපස්සනායානිකොති. සමථ භාවනාය අමිස්සිත විපස්සනායානවාති අත්ථො**

[මහා ටී. (බු.) 2/350-351]

| | |
|---|---|
| **සමථොවා** | = සමථයම |
| **යානං** | = යානයයි. |
| **සමථයානං** | = සමථයානයයි. |
| **එතස්ස** | = ඒ පුද්ගලයාට |
| **තං** | = එම සමථයානය |
| **අත්ථි** | = ඇත්තේය |
| **ඉති** | = මෙසේ |
| **සො** | = එම පුද්ගලයා |
| **සමථයානිකො** | = සමථයානිකයා නම් වේ. |
| **එතං** | = සමථයානිකයා යන නම |
| **ඣානෙ වා** | |
| **ඣානූපචාරෙ වා පතිට්ඨාය** | = ධ්‍යානය වේවා, ධ්‍යානයේ ආසන්න වූ උපචාර සමාධිය හෝ පිහිට කොට ගෙන |

| | | |
|---|---|---|
| **විපසසනං අනුයුඤජනතසස** | = | විපස්සනා භාවනා වඩන්නාට |
| **නාම** | = | නම වේ |
| **සමථයානිකසස** | = | සමථයානික පුද්ගලයාට |
| **සමථ මුඛෙන** | = | සමථය පෙරටු කරගෙන |
| **විපසසනාභිනිවෙසො** | = | විපස්සනාවට බැස ගැනීම |
| **හොති** | = | වන්නේය. |
| **විපසසනායානිකසස පන** | = | විපස්සනායානික පුද්ගලයාට වනාහි |
| **සමථං අනිසසාය** | = | සමථය පිහිට කරනොගෙන |
| **විපසසනාභිනිවෙසො** | = | විපස්සනාවට බැසගැනීම |
| **හොති** | = | වන්නේය. |
| **ඉති** | = | මෙසේ නිසා |
| **සුද්ධ විපසසනායානිකොති** | = | ශුද්ධ විපස්සනායානිකයා යැයි |
| **ආහ** | = | අට්ඨ කථාචාර්යයන් වහන්සේ කියයි. |
| **සමථ භාවනාය** | = | සමථ භාවනාව හා |
| **අමිසසිත විපසසනා යාන වා** | = | මිශ්‍ර නොවුනු විපස්සනායානික පුද්ගලයා |
| **ඉති** | = | මෙසේ |
| **අත්‍ථො** | = | ශුද්ධ විපස්සනායානිකයා යන්නෙහි අර්ථයයි. |

උපචාර සමාධිය හෝ අප්පනා සමාධිය මත පිහිටා හෝ එම සමාධීන් පදනම් කොට ගෙන විපස්සනා භාවනා වඩන පුද්ගලයා **සමථයානික** නම් වන්නේය. එම සමාධි දෙක පිහිට නොකරගෙන හෝ එම සමාධි දෙක නම් වූ පදනම නැතිවම විපස්සනාවෙන්ම පටන්ගෙන භාවනා වඩන පුද්ගලයා **සුද්ධ විපසසනායානික** නම් වේ. මේ අර්ථය ඉහත ටීකා පාඨයෙහි කෙළින්ම ප්‍රකට කරයි. "දේව දත්තයන් දිවා ආහාරය නොවළඳන්නේ නමුදු තරබාරු වී යැ"යි කියන තැන "රාත්‍රියේ වළඳන්නේ යැයි" ගම්‍ය වන්නාසේ සමාධී තුන් ආකාරයක් ඇති තැන උපචාර අප්පනා සමාධි පිහිට නොකොට විපස්සනාවද වඩන්නේ යැයි කියන විට "ඛණික සමාධිය පිහිට කොට යැ"යි යන්න වැටහෙන නිසා විපස්සනායානිකයා ඛණික සමාධිය පමණක්

පිහිට කොට විපස්සනා භාවනා කරන්නේ යැයි යන අර්ථය "අප්පාපන්න" නය ක්‍රමයට ඉහත සඳහන් මහා ටීකාහි කෙළින්ම දක්වයි.

**සමථ යානිකසස හි උපචාරපපනාභෙදං සමාධිං, ඉතරසස ඛණික සමාධිං, උභයෙසමපි විමොකඛ මුඛතතයං, විනා න කදාචිපි ලොකුතතරාධිගමො සමභවති. තෙනාහ *සමාධිඤෙචව විපසසනඤච භාවයමානොති.*** [මහා ටී. (සී.) 1/13]

| | | |
|---|---|---|
| **සමථයානිකසස** | = | සමථයානිකයාට |
| **උපචාරපපනා භෙදං සමාධිං** | = | උපචාර අර්පණා වශයෙන් බෙදෙන සමාධි දෙවර්ගය |
| **විනා** | = | හැර |
| **කදාචිපි** | = | කිසිවිටකත් |
| **ලොකුතතරාධිගමො** | = | ලෝකුත්තර ධර්මයන් ලැබීම |
| **න සමභවති** | = | සිදු නොවේ. |
| **ඉතරසස** | = | විපස්සනා යානිකයාට |
| **ඛණික සමාධි** | = | ඛණික සමාධිය |
| **විනා** | = | හැර |
| **කදාචිපි** | = | කිසිවිටකත් |
| **ලොකුතතරාධිගමො** | = | ලොකුත්තර ධර්ම අධිගමය |
| **න සමභවති** | = | සිදු නොවේ. |
| **උභයෙසමපි** | = | සමථයානික, විපස්සනායානික යන දෙදෙනාටමද |
| **විමොකඛ මුඛතතයං** | = | අනිච්චානුපස්සනා, දුක්ඛානුපස්සනා, අනත්තානුපස්සනා, යන විමෝක්ෂ මුඛ තුන් වර්ගය |
| **විනා** | = | හැර |
| **කදාචිපි** | = | කිසිවිටකත් |
| **ලොකුතතරාධිගමො** | = | ලොකුත්තර ධර්මය ලැබීම. |
| **න සමභවති** | = | සිදු නොවේ. |

**තෙන** = එම නිසා

**සමාධිඤ්චව විපසසනඤ්ච**

**භාවයමානොති** = සමාධිඤ්චව විපස්සනාඤ්ච භාවය-මනො යැයි.

**ආහ** = අට්ඨ කථාවෙහි දක්වේ.

මේ ටීකාවේ අර්ථය පදනමත් සමඟ නිරවුල්ව වටහා ගැනීම සඳහා අට්ඨකථා විවරණය ප්‍රථමයෙන් දක්වන්නෙමු.

**සීලෙ පතිට්ඨාය නරො සපඤ්ඤො - චිත්තං පඤ්ඤඤ්ච භාවයං,**

**ආතාපි නිපකො භික්ඛු - සො ඉමං විජටයෙ ජටං,** [සං. නි. 1/24]

මේ ගාථාවෙහි **චිත්තං පඤ්ඤඤ්ච භාවයං, සො ඉමං විජටයෙ ජටං** යන පද දෙක පමණක් සම්බන්ධ කොට බලන්න. එහි පසු පදයේ අර්ථය පළමුවෙන් ගෙන බලන්න.

**සො** = හෙතෙම

**ඉමං ජටං** = මේ තණ්හා ගැටය

**විජටයෙ** = ලිහා දමන්නේය

මෙවැනි පුද්ගලයනට මේ තණ්හා ගැටය ලිහා දැමිය හැක්කේ යැයි යන්න දක්වීමෙන් කුමන ආකාරයකට භාවනා කළ යුතු දැයි යන්න දැන ගත නොහැක්කේය. එම නිසා "මෙලෙස භාවනා වැඩීමෙන් එම ගැටය ලිහා දැමිය හැක්කේ යැයි" භාවනා ක්‍රමය දක්වීමේ අපේක්ෂාවෙන් "**චිත්තං පඤ්ඤඤ්ච භාවයං**" යන පදයද දේශනා කළ සේක. එම පදයෙහි අර්ථය දක්වුව හොත්

**චිත්තඤ්ච** = සිත ද,

**පඤ්ඤඤ්ච** = ප්‍රඥාව ද,

**භාවයං** = වැඩිය යුතු වේ

"සිත හා ප්‍රඥාව වැඩීමෙන් ගැටය ලිහා දැමිය හැක්කේ යැ"යි අර්ථය ගෙන දේ, මෙම පාළියෙහි "චිත්තං" යන තැන සිත යන අර්ථය කියයි. එම පදයෙන් සමාධිය ගැනෙන බවද "පඤ්ඤඤ්ච" යන පදයෙන් බාහිර ප්‍රඥාවන් නොගෙන විපස්සනා ප්‍රඥාව පමණක් ගත යුතු යැයි ද දක්වීමේ අදහසින්

අට්ඨ කථාහි **සමාධිඤ්චව විපස්සනඤ්ච භාවයමානො** යි විස්තර කෙරේ. "සමාධිය හා විපස්සනාව වැඩීමෙන් තණ්හා ගැටය ලිහා දැමිය හැක්කේය. තණ්හාව දුරු කොට රහතන් වහන්සේ නමක් විය හැක්කේයැයි" කියවේ. ඉහත සඳහන් අට්ඨකථාහි කවරෙක් කුමන සමාධියක් වැඩිය යුතුදැයි ප්‍රකට නැත. මේ සමාධි-විපස්සනා යන දෙකම කුමක් නිසා වැඩිය යුතු දැයි ප්‍රකට නැත. එම නිසා මෙම කරුණු පැහැදිලි කිරීමට ටීකාහි "**සමථයානිකස්සහි**" ආදී වශයෙන් කීහ.

## ටීකාවේ අදහස

මෙම ටීකාවේ අදහසට අනුව වනාහි සමථයානිකයකු වන්නේ නම් උපචාර සමාධි-අර්පණා සමාධි යන දෙකින් එකක් වැඩීමෙන් මාර්ග-ඵලයන්ට ළඟා විය හැක්කේය. නැත්නම් කෙසේවත් ළඟා විය නොහැක්කේය. විපස්සනා යානිකයකු වන්නේ නම් ඛණික සමාධියම වැඩීමෙන් මාර්ග ඵලයන්ට ළඟා විය හැක්කේය. නැතිනම් කෙසේවත් ළඟා විය නොහැක්කේය. මෙලෙස සමාධි වර්ග තුන මගින් විමොක්ඛ මුඛ වන්නාවූ විපස්සනා තුන් වර්ගයන් සුදුසු පරිදි වඩන්නාට පමණක් මාර්ග ඵලයන්ට ළඟා විය හැකි වන්නේය. තණ්හා ගැටය ලිහා දැමීම ද වන්නේය. සමාධි-විපස්සනා නොවඩන්නේ නම් කුමන කාලයක දී වත් මාර්ග ඵලයන්ට ළඟාවිය නොහැක්කේය. තණ්හා ගැටය මෙසේ නොලිහා ලිය හැකි හේතුවෙන් ද "**සමාධිඤ්චව විපස්සනඤ්ච භාවයමනො**" සමාධි සහ විපස්සනා භාවනා වඩන්නේ නම් තණ්හා ගැටය ලිහා දැමිය හැක්කේ යයි (වි. ම. 3 හි) අට්ඨ කථාචාර්යයන් වහන්සේ දක්වන්නේ යැයි අර්ථයි.

දක්වූ මහා ටීකා කථාවෙහි විපස්සනායානික පුද්ගලයාට "උපචාර සමාධි හා අර්පණා සමාධි වැඩීමක් අවශ්‍ය නැත. ඛණික සමාධිය පමණක් වැඩිය යුතු වේ. එම ඛණික සමාධිය වැඩීම පමණින් චිත්ත විශුද්ධිය සිද්ධ වී මාර්ග -ඵලයන්ට පත්විය හැක්කේය" යන මේ අර්ථය ප්‍රකටය. එහෙත් අට්ඨකථාව හා ගැළපෙන්නේ නම් පමණක් පිළිගත යුතු බැවින් සංවාද පිණිස මජ්ඣිම නිකාය, මූල පණ්ණාස ධම්මදායාද සූත්‍ර අටුවා විවරණයෙහි එන භාවනා ක්‍රම දෙක දක්වන්නෙමු.

## මාර්ගීය වඩන ක්‍රම දෙක

**භාවනා නයොති කොචි සමථ පුබ්බංගමං විපස්සනං භාවෙති, කොචි විපස්සනා පුබ්බංගමං සමථං, කථං, ඉධෙකච්චො පඨමං උපචාර සමාධිං වා අප්පනා සමාධිං වා උප්පාදෙති. අයං සමථො. සො තඤ්ච තං සම්පයුත්තෙ ච ධම්මෙ අනිච්චාදිහි විපස්සති. අයං විපස්සනා. ඉති පඨමං සමථො, පච්ඡා විපස්සනා. තෙන වුච්චති සමථ පුබ්බංගමං විපස්සනං භාවෙතී'ති. තස්ස සමථ පුබ්බංගමං විපස්සනං භාවයතො මග්ගො සඤ්ජායති.**

| | | |
|---|---|---|
| **භාවනා නයොති** | = | ආර්ය මාර්ගයන් වැඩීම යනු |
| **කොචි** | = | සමහර පුද්ගලයෙක් |
| **සමථ පුබ්බංගමං** | = | සමථ පූර්වාංගම කොට ඇති |
| **විපස්සනා** | = | විපස්සනාව වඩයි |
| **කොචි** | = | සමහර පුද්ගලයෙක් |
| **විපස්සනා පුබ්බංගමං** | = | විපස්සනාව පූර්වාංගම කොට ඇති. |
| **සමථං** | = | සමථය |
| **භාවෙති** | = | වඩයි |
| **කථං** | = | කෙසේ වඩයිද යත් |
| **ඉධ** | = | මේ ශාසනයෙහි |
| **එකච්චො** | = | එක්තරා පුද්ගලයෙක් |
| **උපචාර සමාධිං වා** | = | උපචාර සමාධිය හෝ |
| **අප්පනා සමාධිං වා** | = | අප්පනා සමාධිය හෝ |
| **පඨමං** | = | විපස්සනා වැඩීමට කලින් |
| **උප්පාදෙති** | = | උපදවයි |
| **අයං** | = | මේ උපචාර අප්පනා සමාධීන් |
| **සමථො** | = | සමථයයි. |
| **යො** | = | සමථය වැඩූ එම පුද්ගලයා |
| **තඤ්ච** | = | එම සමාධියද |
| **තං සම්පතෙත ධම්මෙච** | = | එම සමාධිය හා යෙදෙන චිත්ත චෛතසිකයන්ද |
| **අනිච්චාදිහි** | = | අනිත්‍යතාව මුල්කොට ඇති ස්වභාවයන් ලෙස |
| **විපස්සති** | = | විපස්සනා කරයි. |
| **අයං** | = | භාවනා කරන මේ ප්‍රඥාව |
| **විපස්සනා** | = | විපස්සනාවයි. |

| | | |
|---|---|---|
| **ඉති** | = | මෙසේ |
| **පඨමං සමථො** | = | ප්‍රථමයෙන් සමථය ඇත්තේය. |
| **පච්ඡා විපස්සනා** | = | පසුව විපස්සනාව වන්නේය. |
| **තෙන** | = | එම නිසා |
| **සො** | = | එසේ වූ සමථයානික පුද්ගලයා |
| **සමථ පුබ්බංගමං** | | |
| **විපස්සනං භාවෙතී'ති** | = | සමථ පූර්වාංගම විපස්සනාව වඩන්නේ යැයි |
| **වුච්චති** | = | කියනු ලැබේ. |
| **සමථ පුබ්බංගමං** | = | සමථය පූර්වාංගම වූ |
| **විපස්සනං** | = | විපස්සනාව |
| **භාවයතො** | = | වඩන්නාවූ |
| **තස්ස** | = | එම සමථ පුද්ගලයාට |
| **මග්ගො** | = | ආර්ය මාර්ගය |
| **සඤ්ජායති** | = | සිද්ධ වන්නේය. |

මේ සමථ පුබ්බංගම භාවනා ක්‍රමය **"පඨමො සමථයානිකස්ස වසෙන වුත්තො"** යන මෙහි ටීකා දැක්වීමට අනුව සමථයානික පුද්ගලයාගේ ආර්ය මාර්ග භාවනා ක්‍රමයයි. මේ අටඨකථා විස්තරයෙහි "සමාධිය හා යෙදෙන සම්ප්‍රයුක්ත ධර්මයන් මත විපස්සනා වැඩීම" යන්න හොඳින් සිත තබා ගන්න. සමථයානිකයකු වන්නේ නම් වැඩි වශයෙන් මෙලෙස මනසිකාරය පවත්වයි යන්න අදහසයි. තවදුරටත් පහත දැක්වෙන කථාවේ විශේෂ අර්ථය සැලකිල්ලට ගන්න. අට්ඨකථාහි" සමථය වැඩූ පසු අනිච්චාදිය වශයෙන් භාවනා කරයි " යැයි කියනු ලැබේ. නාම-රූප පරිච්ඡේද ඥාණය - පච්චය පරිග්ගහ ඥාණය යන ඥාණ දෙක වඩන්නේ යැයි නොකියැ වේ. එම නිසා "එම ඥාණ දෙක සමථ භාවනාවට කලින් වැඩුවා යැයි"ද පිළිගැනීම නොගැළපේ. එම ඥාණ දෙක නොමැතිව අනිච්චානුපස්සනා යනාදිය පහළ වේ යැයිද පිළිගත නොහැක්කේය. එම නිසා සමථය වැඩූ පසු එම ඥාණ දෙක ද වැඩිය යුතුය. අනතුරුව අනිච්චාදී වශයෙන් භාවනා කරන්නේය. යන අර්ථයම පිළිගත යුතුය. මෙලෙස පිළිගැනීමට හේතුව " අනිච්චාදීහි විපස්සති" යන කථාව ප්‍රධාන නය ක්‍රමයට කියන කථාවක් නිසා වේ. ප්‍රධාන කරුණ පමණක් කෙළින්ම කියන තැන අප්‍රධාන දේද දැනගන්නා ක්‍රමය ප්‍රධාන නය ක්‍රමයයි. එම නිසා ප්‍රධාන වූ අනිච්චාදී විප්සනාව

කෙළින්ම කියන නිසා අප්‍රකට වූ එම ඥාණ දෙකද අටඨ කථාචාය්‍ර්‍යයන් වහන්සේ දක්වන්නේ යැයි සැලකිය යුතු. උපමාවක් ලෙසः - රජතුමා නික්මුනා යැයි දක්වතොත් පරිවාර පිරිස ද නික්මුනා යැයි දත යුතුවූවාක් සේය. එලෙස නොගෙන අනිච්චාදී විපස්සනාවෙන් පටන්ගෙන වඩන්නේ යැයි පිළිගත හොත් විපස්සනා පිළිවෙත දක්වන පොත්පත් බොහෝමයක් සමඟ නොගැළපෙන්නේය. මෙය සතිමත් විය යුතු විශේෂ අර්ථයයි.

**ඉධ පනෙකචෙචා වුත්ථප්පකාරං සමථං අනුපපාදෙත්වා ච පඤ්චුපාදනකඛනෙධ අනිචචාදිහි විපසසති, අයං විපසසනා. තසස විපසසනා පාරිපූරියා තත්ථ ජාතානං ධමමානං වොසසගගාරමමණතො උපපජ්ජති චිතතසස එකගගතා, අයං සමථො. ඉති පඨමං විපසසනා පචඡා සමථො. තෙන වුචචති "විපසසනා පුබබංගමං සමථං භාවෙතී"ති. තසස විපසසනා පුබබංගමං සමථං භාවයතො මගෙගා සඤ්ජායති. සමථං සො තං මගගං ආසෙවති භාවෙති බහුලීකරොති. තසස තං මගගං ආසෙවතො භාවයතො බහුලීකරොතො සංයොජනානි පහීයනති. අනුසයා බ්‍යනතී හොනති.**

[ම. අ. 1/99]

| | | |
|---|---|---|
| **පන** | = | විපස්සනා පුබ්බංගම භාවනා ක්‍රම වනාහි |
| **ඉධ** | = | මේ ශාසනයෙහි |
| **එකචෙචා** | = | එක්තරා පුද්ගලයෙක් |
| **වුතතපපකාරං** | = | සමථ පුබ්බංගම ක්‍රමයෙහි කියන ලද උපචාර අප්පනා යැයි බෙදෙන |
| **සමථං** | = | දෙයාකාර සමථ සමාධිය |
| **අනුපපාදෙතවා එව** | = | නොඋපදවාම |
| **පඤච උපාදානකඛනෙධ** | = | පස් ආකාර උපාදානස්කන්ධයන් කෙරෙහි |
| **අනිචචාදිහි** | = | අනිච්චා ආදී කොට ඇති විපස්සනා ආකාරයෙන් |
| **විපසසති** | = | භාවනා කරයි. |
| **අයං** | = | භාවනා කරන මේ ප්‍රඥාව |
| **විපසසනා** | = | විපස්සනාවයි |
| **තසස** | = | එසේ භාවනා කරන්නාට |
| **විපසසනා පාරිපූරියා** | = | විපස්සනා ඥාණ බලවත්ව සම්පූර්ණ වන්නේ නම් |

| | | |
|---|---|---|
| **තත්ථ ජාතානං ධම්මානං** | = | එම විපස්සනා චිත්තුප්පාදයන්හි යෙදුණු චිත්ත චෛතසිකයන් |
| **වොස්සග්ගාරම්මණතො** | = | බාහිර අරමුණු බැහැර කරන බැවින් |
| **වා** | = | ගෝචරජ්ඣත්ත සංඛ්‍යාත වූ හෝ විපස්සනා අරමුණෙහි ම පමණක් බැසගන්නා බැවින් |
| **චිත්තස්ස එකග්ගතා** | = | සිත එකම අරමුණක් මත එකඟ වන, පිහිටන බව |
| **උප්පජ්ජති** | = | පහළ වන්නේය |
| **අයං** | = | මේ විපස්සනා සිතෙහි තැන්පත් බව |
| **සමථො** | = | සමථයම වේ |
| **ඉති** | = | මෙලෙස වැඩූ |
| **පඨමං විපස්සනා** | = | ප්‍රථමයෙන් විපස්සනාව වේ |
| **පච්ඡා සමථො** | = | පසුව සමථය වේ |
| **තෙන** | = | එමනිසා |
| **සො** | = | එම විපස්සනායානික පුද්ගලයාට |
| **විපස්සනං පුබ්බංගමං සමථං භාවෙතී'ති** | = | විපස්සනා පූර්වාංගම වූ සමථය වඩන්නේ යැයි |
| **වුච්චති** | = | කියනු ලැබේ. |
| **විපස්සනා පුබ්බංගමං** | = | විපස්සනාව පූර්වාංගම වූ |
| **සමථං** | = | විපස්සනා සිතෙහි තැන්පත් බව යන සමථය (ටීකාහි මාර්ග සමාධිය යැයි පැහැදිලි කරයි) |
| **භාවයතො** | = | වඩන්නා වූ |
| **තස්ස** | = | එම විපස්සනායානික පුද්ගලයාට |
| **මග්ගො** | = | ප්‍රථම ආර්ය මාර්ගය |
| **සඤ්ජායති** | = | මනාකොට සිද්ධ වන්නේය. |

(**මග්ගො සඤ්ජායතීති පඨමො ලොකුත්තර මග්ගො නිබ්බත්තති** යන්න (අං. අ. 4/542) අනුව යන ටීකාවන්හී වනාහි විපස්සනා මාර්ග යැයි ද දක්වේ)

| | | |
|---|---|---|
| **සො** | = | එම සෝතාපත්ති මාර්ගයට පත් වූ පුද්ගලයා |
| **තං මග්ගං** | = | එම සෝතාපත්ති මාර්ගය |

**ආසෙවති භාවෙති**
**බහුලීකරොති** = සකෘදාගාමී මාර්ග ආදිය පහළ වීම පිණිස ඇසුරු කරයි. වඩයි. බහුලීකෘත කරයි.

***(සො තං මගගනති එක චිතතකඛණික මගගසස ආසෙවනාදිනි නාම නතථි දුතිය මගගාදයො පන උපපාදෙනෙතා තමෙව ආසෙවති භාවෙති බහුලීකරොතිති වුචචති*** යන අංගුතතර අට්ඨකථාවට අනුව) [අං. අ. 4/542]

**තං මගගං** = එම සෝතාපත්ති මාර්ගය

**අසෙවතො භාවයතො,**
**බහුලීකරොතො** = ඇසුරු කරන භාවිතා කරන බහුලීකෘත කරන,

**තසස** = එම පුද්ගලයාට

**සංයොජනානි** = සංයෝජන ධර්මයන්

**පහීයනති** = ප්‍රහාණය වෙත්

**අනුසය** = අනුසය ධර්මයෝ

**බයනති** = සහමුලින්ම නැති

**හොනති** = වෙත්

මෙම විපස්සනා පුබ්බංගම භාවනා ක්‍රමය **"දුතියො විපසසනා යානිකසස (වසෙන වුතෙතා)"** යන මෙම ටීකා දැක්වීමට අනුව විපස්සනායානික පුද්ගලයාගේ ආර්ය මාර්ග භාවනා ක්‍රමයයි. මේ ක්‍රමයෙහි **වුතතපපකාර සමථං අනුපපදෙතවා"** යන කථාවට අනුව පෙරාතුවම උපචාර- අප්පනා යන සමාධීන් නොවඩනා විපස්සනාවෙන්ම පටන්ගෙන කරන්නේ යැයි ප්‍රකටව දක්වයි. **"අනිචචාදීහි විපසසති"** යන ප්‍රධාන කථාව මඟින්ද අප්‍රධාන නාම -රූප පරිච්ඡේද ඥාණය, පචචය පරිගගහ ඥාණය යන දෙක ප්‍රථමයෙන්ම පහළ කරගෙන **අනිචචාදි** වශයෙන් භාවනා කරන්නේ යැයි අර්ථ දක්වයි. **"තසස විපසසනා පාරිපූරියා - පෙ- චිතතසස එකගගතා"** යන පාඨයෙන් විපස්සනාව මනාව සම්පූර්ණ කළ විටදී සමාධිය පහළ වීම මෙයින් දක්වයි. සම්පූර්ණ වූ විපස්සනාව යන තැන **වුට්ඨාන ගාමිණි විපස්සනා** යැයි ද සමථය යන තැන **මගග සමාධිය** යැයි ද ටීකාහි දැක්වේ. එසේ දැක්වූ නමුදු **"විපසසනාං පුබබංගමං පුරෙචාරිකං කතවා සමථං භාවෙති, පකතියා විපසසනා ලාභි විපසසනාය ඨතවා සමාධිං උපපාදෙතීති අතෙථා"** යන අංගුත්තර අට්ඨකථාහි "විපස්සනාව මත පිහිටා සමාධිය පහළ

කරයි" යැයි පමණක් කියයි. මග්ග සමාධිය යැයි ද නොකියයි. එම මග්ග සමාධිය එහිලා අදහස් කරන්නේ ද නැත. තවදුරටත් "එම සමාධිය වඩන්නා වූ පුද්ගලයාට ප්‍රථමයෙන් ලෝකොත්තර මාර්ගය පහළ වේ" යැයි එම අට්ඨකථාහීම දැක්වේ. එලෙස දැක්වීමේදී ද මාර්ග සමාධිය වඩන්නාට මාර්ගය පහළ වේ යැයි ගන්නේ නම් "රත්තරන් තැලීමෙන් (රන්කරුවා රත්‍රනට ගිනි පිඹීමෙන්) රත්‍රන් උපදවන්නේය." යන කථාවට සමාන වන්නේය. මක්නිසා ද යත් මාර්ග සමාධිය මාර්ගාංගයක්ම වන අතර මාර්ගයෙන්ම පහළ වූ එකක් නිසාය. තවදුරටත් **සමථ පුබ්බංගම** ක්‍රමයෙහි පෙර දියුණු කළ සමථය හා පසුව යන විපස්සනාව යන මේ දෙකම ලෞකික ධර්මයන්ම වන්නා සේ මෙම **විපස්සනා පුබ්බංගම** ක්‍රමයෙහිද පෙරටුව යන විපස්සනාවත් පසුව යන සමථයත් යන දෙකම ලෞකික ධර්ම විය යුත්තාහ. මේ කාරණය නිසා සමථය යන තැන "විපස්සනාව හා යෙදෙන ඛණික සමාධිය" යැයි ගැනීමම ගැළපේ. එම සමාධියේ යෙදෙන ථාමගත වූ විපස්සනාවද උත්කෘෂ්ඨ, මජ්ඣිම, හීන වශයෙන් වර්ග තුනකට බෙදෙන බව දත යුතුවේ. එලෙස බෙදෙන ආකාරයඃ

## උත්කෘෂ්ඨ විපස්සනා හා සමාධිය

විපස්සනා ඥාණයන් "භංග ඥාණයේ පටන් උත්කෘෂ්ඨව ද සම්පූර්ණවද බලවත්වද" යැයි සලකාගත යුතුය. එතැන් පටන් උත්කෘෂ්ඨ වර්ගයේ **ඛණික සමාධිය** පහළ වේ. මේ කථාව **"වය ලක්ඛණූපට්ඨානෙකත්ත"** හා **"භංග ඥාණය"** දක්වන පටිසම්භිදා මග්ග හා විශුද්ධි මාර්ග විවරණ ආදිය හා ගැළපේ. මේ පරිච්ඡේදයේ අගදී ද, භංග ඥාණය සම්බන්ධයෙන් විස්තර දක්වන අවස්ථාවෙහි තවදුරටත් මෙය පැහැදිලි කරන්නෙමු.

## මධ්‍යම විපස්සනා හා සමාධි

මධ්‍යස්ථ වශයෙන් උදයබ්බය ඥාණයේ පටන් විපස්සනාව සම්පූර්ණ වේ යැයි සැලකිය යුතුවේ. එතැන් පටන් **මජ්ඣත්ථ** (මධ්‍යස්ථ) **ඛණික සමාධිය** වේ. මේ කථාව ද උදයබ්බය ඥාණය මුල් තරුණ විපස්සනාව යැයි ද එම ඥාණය අතින් සම්පූර්ණ වූ තැනැත්තා **"ආරබ්ධ විපස්සක"** යැයි ද කියන විශුද්ධි මාර්ගය හා සැසඳේ මේ ඥාණය "මාර්ග-ඵල සඳහාම ඒකාන්තයෙන් භාවනා කරන නිසා පධානියංග යැයි දේශනා කරන පාළි **"උදයබ්බයානුපස්සී"** ආදිකොට

ඇති පාළිය සමඟ සැසඳේ. මක්නිසාදයත්: මෙම **උදයබ්බය ඤාණය** "ථාමගත වූ විපස්සනාවන් අතර ප්‍රථම විපස්සනාව" යැයි ඒ ඒ පාළි අට්ඨකථාවන් මගින් දතයුතු බැවිනි.

## ලාමක විපසසනා හා සමාධි

ලාමක වශයෙන්, නැත්නම් හීන වශයෙන් නාම - රූප පරිච්ඡේද ඤාණය ප්‍රගුණ වූ කාලයේ පටන්, විපස්සනාව සම්පූර්ණ වේ යැයි දත යුතු. එම අවස්ථාවේ පටන් හීන වූ ඛණික සමාධිය පහළ වේ. එම සමාධිය නිසා නීවරණ අනුව යන කල්පනාවන් මෙනෙහි කරන සිත් අතරට වැදගෙන පහළ නොවේ. මෙනෙහි කරන සිත නීවරණයන්ගෙන් පිරිසිදු වේ. එම නිසා රූප - නාමයන්ගේ ස්වභාව ලක්‍ෂණයන් ආදී වශයෙන් දන්නා නාම - රූප පරිච්ඡේද ඤාණය ආදිය පහළ වන්නාහ. නීවරණයන්ගෙන් පිරිසිදු වීම් වශයෙන් උපචාර සමාධිය හා සමාන වූ මේ ඛණික සමාධිය එම අවස්ථාවේ පටන් නියම ලෙසට පහළ විය යුත්තේය. පහල නොවී නම් රූප - නාමයන්ද නියම ස්වභාව වශයෙන් නොදනෙන්නාහ. දැන් කාලයේ භාවනා කරන පුද්ගලයන්ටද එම අවස්ථාවේ පටන් එවැනි සමාධිය පහළ වේ. මෙවැනි ඛණික සමාධිය වනාහි නාම -රූප පරිච්ඡේද ඤාණ ආදියට ආධාර කරන චිත්ත විශුද්ධිය යැයි නම් කෙරේ.

මේ උත්කෘෂ්ඨ වශයෙන් ථාමගත සමාධිය දක්වීමේදී ද **"යො තත්ථ අවික්ඛෙපපට්ඨො, අයං අධිචිත්ත සික්ඛා"** යන පටිසම්භිදා මග්ග පාළිය හා ගැළපේ. **ඤාණෙන අවිජ්ජාය පහායං සීලං** - ආදිය හා ගළපා දක්වන විට, මේ පාළිය පහත සදහන් ලෙසට අර්ථ දැක්විය යුත්තේය.

| | | |
|---|---|---|
| **තත්ථ** | = | එම නාම-රූප පරිච්ඡේද ඤාණය, පච්චය පරිග්ගහ ඤාණය හා යෙදෙන විපස්සනා චිත්තුප්පාදයෙහි |
| **යො අවික්ඛෙපපට්ඨො** | = | යම් ඒ අවික්ෂේප ස්වභාවයක් |
| **අත්ථි** | = | ඇත්තේ ද |
| **අයං** | = | මේ අවික්ෂේප ස්වභාවය |
| **අධිචිත්ත සික්ඛා** | = | අධි චිත්ත ශික්‍ෂාව නම් වේ. |

නාම - රූප පරිච්ඡේද ඤාණය, පච්චය පරිග්ගහ ඤාණය යන මේවා විපස්සනාව යැයි කිවයුතු බවට හේතු වනාහි:

**යං නාම රූප පරිච්ඡෙදාදීසු විපස්සනා ඤාණෙසු පටිපක්ඛ භාවතො දීපාලොකනෙව තමසස තෙන තෙන විපස්සනා ඤාණෙන තස්ස තස්ස අනත්තස්ස පහානං සෙය්‍යථීදං, නාම - රූප වවත්ථානෙන සක්කාය දිට්ඨියා පච්චය පරිග්ගහෙන අහෙතු විසම හෙතු දිට්ඨීනං -පෙ- ගොත්‍රභුනා සංඛාර නිමිත්තග්ගාහස්ස පහානං. එතං තදංගප්පහානං නාම** යනාදිය වේ. [විභ. අ. 299, සං. අ. 2/184]

මේ ඛණික සමාධිය ප්‍රගුණ වූ අවස්ථාවේ පටන් මනසිකාරය පැවැත්විය යුතු රූප - නාම අරමුණු වහා - වහා වෙනස් වුව ද මෙනෙහි කරන සිතේ එල්ලය=චිත්තාග්‍රතාවය අඛණ්ඩව මෙන් නොසැලී පවතී. ප්‍රථම මෙනෙහි කරන සිත එල්ල වූ ආකාරයටම ඒකාග්‍ර වූ ආකාරයටම මෙනෙහි කරන ද්විතීය, තෘතීය සිත් ද එල්ල වූ භාවයට, එකාග්‍ර භාවයට යයි. එම අවස්ථාවේ පටන් සමථ ධ්‍යානයන්හි මෙන් සමාධිය බලවත්ව පැවතිය හැක්කේය. වෙනස නම්, සමථ ධ්‍යානයේ අරමුණු වෙනස් වීමකින් තොරව ඒකාකාර ලෙස පවතී. නාම - රූප වශයෙන් බෙදීමක් නොකරයි. ඇතිවීම - නැතිවීමද ප්‍රකට නැත. විපස්සනා සමාධියේ අරමුණු වනාහි අලුතින් අලුතින් වෙනස් වෙමින් පවතී. නාම-රූප වශයෙන් දැනීම ඇත්තේය. ඤාණය මුහුකුරා ගිය කල ඇතිවීම - නැතිවීම වශයෙන්ද ප්‍රකට වේ. මෙපමණකි වෙනස. එල්ල කිරීම් වශයෙන් ඒකාග්‍රතාව වශයෙන් වෙනසක් නැත. එම නිසා මහා ටීකාහි මෙලෙස දක්වේ.

***ඛණික චිත්තෙකග්ගතාති ඛණමත්ත ඨිතිකො සමාධි, සො පි හි ආරම්මණෙ නිරන්තරං එකාකාරෙන පවත්තමානො පටිපක්ඛෙන අනභිභූතො අප්පිතො විය චිත්තං නිච්චලං ඨපෙති*** [මහා. ටී. (සි.) 1/278]

| | | |
|---|---|---|
| **ඛණ මත්ත ඨිතිකො** | = | විපස්සනා සිතෙහි ක්ෂණ මාත්‍රව පිහිටා ඇති. |
| **සමාධි** | = | සමාධියයි |
| **හි සච්චං** | = | ඇත්තය |
| **සොපි** | = | එම විපස්සනා ඛණික සමාධිය ද |
| **ආරම්මණෙ** | = | මනසිකාරය පවත්වන රූප -නාම අරමුණු මත |
| **එකාකාරෙන** | = | ඒකාකාර ලෙසට, නොපෙරෙළෙමින් |
| **නිරන්තරං** | = | අතරක් නොතබා, දිගටම |
| **පවත්තමානො** | = | පවත්වන්නේ |

**පටිපක්ඛෙන අනභිභූතො** = විරුද්ධ පක්‍ෂයේ වන නීවරණ වලට යට නොවී

**අප්පිතො විය** = අරමුණට බැසගත් ධ්‍යාන සමාධිය ලෙස

**චිත්තං** = විපස්සනා සිත

**නිච්චලං** = නිශ්චලව - නොසැලී

**ඨපෙති** = තබන්නේය.

මේ ටීකාව සමාදහං චිත්තං යන ආනාපාන කථාහි "විපස්සනා සිත ඛණික සමාධිය මඟින් දෘඪ ලෙස නිශ්චලව තැබිය හැක්කේය" යි දක්වෙන අට්ඨ කථාව පදනම් කරගත් කථාවකි. අර්ථය වනාහි, උපචාර - අර්පණා සමාධීන් පමණක් සිත ඒකාකාරව පවත්වනවා නොවේ. විපස්සනා ඛණික සමාධියට ද සිත ඒකාකාරව පැවැත්වීමට හැක්කේය යන අර්ථයයි. කොපමණ ශක්තියක් ඇත්නම් මෙසේ පැවැත්විය හැක්කේ දැයි ප්‍රශ්ණයක් නම් "**ආරම්මණෙ නිරන්තරං එකාකාරෙන පවත්තමානො**" යන්න උත්තරයයි. උපචාර සමාධිය මට්ටමට සමානව පැමිණි කල මෙනෙහි කරන සිත් අතර වාරයේ සිතේ නීවරණ ධර්මයන් පැන නොනගිත්. මෙනෙහි කිරීම ඒකාකාරීව අඛණ්ඩවම පවතී නම් එවන් අවස්ථාවල ඛණික සමාධිය ඒකාකාරීව පැවැත්විය හැක්කේය යන්න දක්වේ. තවදුරටත් "**පටිපක්ඛ අනභිභූතො අප්පිතො විය**" යන පාඨයෙන් උදයබ්බය ඤාණය, භංග ඤාණය ආදිය හා යෙදෙන ඛණික සමාධිය එසේ ථාමගත භාවයට පත්වී අර්පණා සමාධිය මෙන් ශක්තිමත් වන බව දක්වේ. එවන් සමාධියට වනාහි ප්‍රතිපක්‍ෂ ධර්මයන් මඟින් බාධා නොවී අප්පනා සමාධිය මෙන් සිත එකාකාරව පැවැත්විය හැකිවේය යන අර්ථයි. මේ වනාහි විපස්සනා සමාධි තුන බෙදා දක්වන ආකාරයයි.

**වොස්සග්ගාරම්මණතො** යන පදයෙහි **වොස්සග්ග** ශබ්දය **වොස්සග්ග පරිණාමිං** යන පදය මෙන් පරිච්චාග අර්ථය, පක්ඛන්දන අර්ථය යන අර්ථ දෙකටම ගැළපේ. මේ අර්ථ දෙක තුළින් පරිච්චාග අර්ථ යැයි කියන්නේ නම් **ආරම්මණානං වොස්සග්ගො පරිච්චාගො** යැයි වචනාර්ථය සලසයි. මෙහි **ආරම්මණ** යන තැන බහිද්ධා අරමුණ ගත යුතු. විපස්සනා, භාවනාව සම්බන්ධයෙන් කියන තැන මූල කර්මස්ථානය මෙනෙහි නොකර, කල්පනා කරවන සිත පිටතට යවන සුළු වෙනත් අරමුණු ඇතිතාක්, "**බහිද්ධා වා චිත්තං වික්ඛිපති** - යන සතිපට්ඨාන සංයුක්ත පාළි ආදියෙහි මෙන්, බාහිර අරමුණු නම් වේ.

විපස්සනාවෙහි ලා ගැනෙන අරමුණු වලින් බාහිර අනෙකුත් අරමුණු මෙයින් කියවේ. පක්ඛන්දනත්ථ යැයි ගන්නේ නම් **ආරම්මණෙ වොසසගො පකඛනදනං** යැයි ගත යුතුවේ. මෙහි **ආරම්මණ** යන තැන ගොචර අජ්ඣත්ත අරමුණ ගත යුතුවේ. මනසිකාරය පවත්වන නාම-රූප ඇතිතාක් **"අජඣතතං සතිමා සුඛමසමීති"** [සං. නි. 5-1 284] යන සතිපට්ඨාන සංයුක්ත පාළියෙහි මෙන් අජ්ඣත්ත අරමුණ නම් වේ. විපස්සනාවෙහි ලා ගැනෙන අරමුණු ගණයෙහිලා ඇතුළත් වේ. **ගොචර අජඣතත** යැයි ද කියනු ලැබේ.

මෙහිලා මෙම අර්ථ දෙක ව්‍යාකරණාර්ථ වශයෙන් පමණක් වෙනස් වේ. අර්ථ වශයෙන් වනාහි සමානය. සමාන වන ආකාරය; බාහිර අරමුණු බැහැර කිරීමයි. මෙනෙහි නොකර බාහිර අරමුණු කල්පනා කිරීම්, සිතීම්. සලකා බැලීම්, සිතා බැලීම් ද නැත්තේ" යයි කියන්නේ නම් "බහිද්ධා අරමුණ බැහැර කරයි. කමටහන මෙනෙහි නොකර, කල්පනා කරන, සිතන, සලකා බලන, සිතා බලන, සිත පිටයන බවක් නැතැයි" යන මේ අර්ථයටද ළඟා වේ. එම නිසා අර්ථ වශයෙන් සමානය.

### සැලකිය යුත්ත කෙටියෙන්

විපස්සනායානික පුද්ගලයා උපචාර සමාධි අර්පණා සමාධීන් කැලම නොවඩා විපස්සනාවෙන්ම පටන්ගෙන භාවනා කරයි. එම පුද්ගලයාට උපචාර අර්පණා සමාධී වලින් තොරව විපස්සනා ඥාණ මුලින් පහළ වේ. විපස්සනා සම්පූර්ණ වූ විටම සමාධිය පහළ වන්නේ යැයි යන මේ අර්ථය විපස්සනා පුබ්බංගම ක්‍රමය දක්වන අට්ඨකථාවන්ගෙන් උධෘත කොටගෙන සිත්හි හොඳින් තහවුරු කරගැනීම ප්‍රධාන කාරණයයි. කෙටි අර්ථය එයයි.

භාවනා ක්‍රම දෙක බෙදා දක්වන මේ අට්ඨකථාව වනාහි පාළියෙන් ගත් කථාවක්ම වේ. අදාළ කොටසක පමණක් අර්ථය පැහැදිලි කිරීමට ඇතුළත් කොට ඇත්තේය. බොහෝ සේ පාළිය හා සමාන නිසා පාළිය අනුකරණය කොට ලියන ලද්දක් යැයි පමණක් කිය හැක්කේය. එම නිසා මෙම අට්ඨකථා දැක්වීම දේශනා පාළියට සමාන නොවන්නේ දැයි යන ප්‍රශ්ණයක්, සැකයක් නැත්තේය. අවශ්‍ය නම් චතුක්ක අංගුත්තර පටිපදා වග්ගය හා පටිසම්භිදා මග්ග යුගනද්ධ කථාවන් කියවා බලන්න. පහසුවෙන් දැකගැනීමට පටිසම්භිදා මග්ග පාලි පදයක් උපුටා දක්වන්නෙමු.

**රූපං අනිච්චතො අනුපසසනටෙඨන විපසසනා, රූපං දුකඛතො, අනතතතො අනුපසසනටෙඨන විපසසනා. තතථ ජාතානං ධමමානං ච වොසසගගාරාමමණතා**

**චිත්තසස එකගගතා, අවිකෙඛපො සමාධි. ඉති පඨමං විපසසනා, පචඡා සමථො, තෙන වුචචති විපසසනා පුබබංගමං සමථං භාවෙතීති**

| | | |
|---|---|---|
| **රූපං** | = | රූපය |
| **අනිචචතො** | = | නිත්‍ය නැතැයි |
| **අනුපසසනටෙඨන** | = | භාවනා කරන අර්ථය |
| **වා** | = | භාවනා කරන ස්වභාවය |
| **විපසසනා** | = | විපස්සනාව නම් වේ. |
| **රූපං** | = | රූපය |
| **දුකඛතො** | = | දුක් යැයි |
| **අනතතතො** | = | පාලනයක් කළ හැකි ආත්මයක්, මමෙක් නැතැයි |
| **අනුපසසනටෙඨන** | = | භාවනා කරන අර්ථය |
| **වා** | = | භාවනා කරන ස්වභාවය |
| **විපසසනා** | = | විපස්සනාව වේ |
| **ච** | = | විපස්සනාවත් ම පමණක් පහළ වනවා නොවේ (වාක්‍ය සමුච්චයකි) |
| **තතථ** | = | එම විපස්සනා අවස්ථාවේ |
| **වා** | = | එම විපස්සනා චිත්තුප්පාදයෙහි |
| **ජාතානං ධමමානං** | = | පහළ වූ චිත්ත චෛතසික ධර්මයන්හි |
| **වොසගගාරමමණතා** | = | අත්හල යුතු බාහිර අරමුණු ඇති බව |
| **වා** | = | වැදගත යුතු ගෝචරජ්ඣත්ත අරමුණු ඇති බව යන |
| **චිත්තසස එකගගතා** | = | විපස්සනා සිතෙහි එකක්ම වූ අරමුණක්ම ඇති බව නම් වූ |
| **අවිකෙඛපො** | = | වික්ෂිප්ත නැති බව |
| **සමාධි** | = | සමාධිය නම් වේ |

(ඉති ආදියෙහි පටන් අර්ථය සමානය. පසුගිය කොටස නැවත කියවා බලා අර්ථ ගන්න)

**තත්ථ ජාතානන්ති තස්මිං අරිය මග්ගක්ඛණෙ ජාතානං සම්මා දිට්ඨි ආදීනං ධම්මානං නිද්ධාරනෙචෙතං සාමිවචනං. *වොස්සග්ගාරම්මණතාති* වොස්සග්ගස්ස ආරම්මණත්තාය -පෙ- නිබ්බානස්ස ආරම්මණ කරණෙනාති අත්ථො. *චිත්තස්ස එකග්ගතාති* ඉමිනා මග්ග සමාධිං ආහ.**

යන මූල පණ්ණාස ටීකාවට අනුව **"තත්ථ"** ආදියෙහි අර්ථය වනාහි **තත්ථ** = එම ආර්ය මාර්ග ක්ෂණයෙහි (**පක්කන්තවිත්තස්ස, පසිද්ධ, අනුභූත** සංඛ්‍යාත වූ අර්ථ තුනෙන් නිදහස්ව සිටි මේ සර්වනාම **"ත"** ශබ්දයේ යථාර්ථය ඉතා දුෂ්කරය වටහා ගැනීමට මෙතැනදී පහසු නොවේ.

**ජාතානං ධම්මානං** = පහළ වූ සම්මා දිට්ඨි ආදී ධර්මයන්

**වොස්සග්ගාරම්මණතා** = නිවන අරමුණු වශයෙන් ගෙන ඇති බව,

**චිත්තස්ස එකග්ගතා** = මාර්ග සිතෙහි එකම අරමුණක් ඇතිබව යන

**අවික්ඛෙපො** = වික්ෂිප්ත නැති බව

**සමාධි** = සමාධිය නම් වේ (සෙස්ස සමානය)

පාළියෙහි යුගනද්ධ ක්‍රමය හා ධම්මුද්ධච්ච පහාන ක්‍රමය ද ඇතුළුව භාවනා ක්‍රම හතරක් වන්නේය. නමුදු මෙම අට්ඨකථාවෙහි ක්‍රම දෙකක් පමණක් දක්වන බැවින් ඉතිරි ක්‍රම දෙක ද මෙම ක්‍රම දෙකට ඇතුළත් වන නිසා ඒවා සංක්ෂේප වශයෙන්, පිඬු කොට දැක්වීම යුතුයැ. එසේ ඇතුළත් වන ආකාරයඃ-

ධ්‍යාන ලාභි යෝගි තෙම ප්‍රථම ධ්‍යානයට සමවැදී එම ධ්‍යානය විපස්සනා කරයි. නැවතත් දෙවැනි ධ්‍යානයට සමවැදී එම ධ්‍යානයද විපස්සනා කරයි. මේ ක්‍රමයට ධ්‍යානයන්ට ක්‍රමානුකූලව එකින් එකට සමවැදී විපස්සනා කොට සමථ - විපස්සනා යන යුගලය ඇඳමින් මාර්ගය පහළ වන තෙක් වඩන ක්‍රමය යුගනද්ධ භාවනා ක්‍රමයයි. මේ ක්‍රමයට අනුව සමථය පෙරටු කරගෙන ගමන් කරමින් විපස්සනා වඩන බැවින් සමථ පුබ්බංගම ක්‍රමයට ම ඇතුළත් වේ.

## ධම්මුද්ධච්ච පහාන ක්‍රමය

සමථයානික වශයෙන් වේවා, විපස්සනායානික වශයෙන් වේවා, උදයබ්බය ඥාණය ආරම්භ අවස්ථාවේ ඕභාස, ඥාණ, පීති, පස්සද්ධි ආදී විපස්සනා උපක්ලේශයන් පහළ වන්නාහ. එම අවස්ථාවේ එම ඕභාසාදිය

විශේෂ ධර්ම යැයි කියා හෝ විශේෂ ධර්ම ලැබීමෙන් මෙසේ වන්නේ යැයි කියා හෝ පිළිගෙන, සලකා ගෙන කල්පනා කිරීම විය හැක්කේය. මේ ලෙසට සිතාගෙන කටයුතු කිරීම ධර්මය හා සම්බන්ධ වූ උද්ධච්ච භාවයේ පහළ වීමක් නිසා **ධම්මුද්ධච්ච** නම් වේ. මෙම ධම්මුද්ධච්චය පහළ වූ පුද්ගලයාට මනසිකාරය පවත්වන රූප - නාමයෝ ද හොඳින් ප්‍රකට නොවී යන්නාහ. මෙනෙහි කිරීමද ඉදිරියට නොගොස් නතර විය හැක්කේය. ආපස්සට යෑමද විසිරී, බිඳී යෑමද විය හැක්කේය. එම නිසා එම ධම්මුද්ධච්චය දුරු කළ යුතු වේ. ඕභාසාදිය ගරු නොකොට, මෙනෙහි කිරීම ම ගරු කොට භාවනා කළ යුතු වේ. මෙලෙස මෙනෙහි කළහොත් ධම්මුද්ධච්චය ඉබේම මෙන් දුරුව යන්නේය. එම අවස්ථාවේ මෙනෙහි කරන නාම - රූපයන් විශේෂයෙන් ප්‍රකටව එන්නාහ. භාවනාව ද මෙනෙහි කිරීමද *ගෝචරජ්ඣත්ත* නම් වූ රූප - නාම අරමුණ මතම තහවුරු වේ. එතැන් පටන් විපස්සනා ඥාණ පරම්පරාව ක්‍රමයෙන් දියුණු වී මාර්ග ඥාණයට පත්වන්නේය. මෙලෙස ධම්මුද්ධච්චය දුරු කොට මාර්ග ඵල පහළ වන ක්‍රමය **ධම්මුද්ධච්ච පහාන** ක්‍රමය යැයි කියනු ලැබේ. මේ ක්‍රමය සමථයානික - විපස්සනායානික යන දෙයාකාරයටම අදාළ නිසා සමථ පුබ්බංගම හා විපස්සනා පුබ්බංගම යන ක්‍රම දෙකටම ඇතුළත් වේ. එම නිසා විශේෂයෙන් මේ අට්ඨකථාවෙහිලා භාවනා ක්‍රම දෙකක් ලෙසට පමණක් දක්වනවා වන්නේය.

විපස්සනායානික පුද්ගලයා වනාහි චිත්ත විශුද්ධිය සඳහා සමථය පෙරාතුව නොවැඩුවේය. විපස්සනාවෙන්ම පටන්ගෙන භාවනාව වඩන්නේය. විපස්සනාව ප්‍රගුණව වූ විට පහළ වන්නාවූ ඛණික සමාධියම අදාළ පුද්ගලයාගේ චිත්ත විශුද්ධිය වන්නේ යයි යන මේ අර්ථය දක්වන පාළි, අට්ඨකථා, ටීකා යට දැක්විය. මේ ග්‍රන්ථය ද එම විපස්සනායානිකයාගේ භාවනා ක්‍රමයට ප්‍රමුඛ තැන දී ලියන ලද ග්‍රන්ථයකි. එම නිසා චිත්ත විශුද්ධිය සඳහා භාවනා කරන ක්‍රම විශේෂයෙන් වෙනම දැක්වීමක් අවශ්‍ය නැත. නමුදු විපස්සනාව හා යෙදී පහළ වූ මේ ඛණික සමාධිය වඩන්නා නියයාන අට, නියයාවරණ අට සමාධියට අන්තරායන් පහ, එම අන්තරායන්ගෙන් නිදහස් වීමේ ප්‍රතිකර්ම කිරීමට ක්‍රම පහ සහ විපස්සනා සිත ඒකත්තයෙහි පිහිටන ආකාරය දත්තේ නම් ආනිශංස බොහෝ වන බැවින් එම නියයාන ආදිය ප. ම. (1/310) ආනාපාන කථාවෙන් ගෙන හැර දක්වන්නෙමු.

## ප්‍රථම නියයානය හා ආවරණය

**නෙක්ඛම්මං අරියානං නියයානං, තෙනච නෙක්ඛම්මෙන අරියා නියයනති. කාම ච්ඡන්දො නියයානාවරණං, තෙන ච කාමච්ඡන්දෙන නිවුතතතා නෙක්ඛම්මං අරියානං නියයානං නප්පජානාතී'ති කාමච්ඡන්දො නියයානාවරණං**

| | | |
|---|---|---|
| **නෙක්ඛම්මං** | = | විපස්සනා කුසලය |
| **අරියානං නියයානං** | = | ආර්ය පුද්ගලයන්ට සසරින් නික්මීම සඳහා වේ |
| **ච** | = | නික්මීම යැයි කීමට හේතුව වනාහි |
| **තෙන නෙක්ඛම්මෙන** | = | එම විපස්සනා කුසලය මගින් |
| **අරියා** | = | ආර්යන් වහන්සේලා |
| **නියයනති** | = | සංසාර වට්ට දුකින් ගැලවී නික්ම යත් |
| **කාමච්ඡන්දෙ** | = | කාමයන් කෙරෙහි කැමැත්ත, රාගය |
| **නියයානාවරණං** | = | නික්ම යෑම පිණිස වන නියයානය ආවරණය කරයි වළක්වයි |
| **ච** | = | නියයානාවරණ නම් වීමට හේතුව වනාහි |
| **තෙන කාමච්ඡන්දෙන** | = | එම කාමච්ඡන්දයෙන් |
| **නිවුතතතා** | = | ආවරණය කරන, වැළැක්වීම කරන නිසා |
| **නෙක්ඛම්මං අරියානං නියයානං** | = | ආර්යන්ගේ නික්මීම පිණිස වන්නාවූ විපස්සනා කුසලය |
| **නප්පජානාති** | = | නොදැනගන්නේය. නොහඳුනන්නේය. |
| **කාමච්ඡන්දෙ** | = | කාම ආශ්වාදය සඳහා කැමැත්ත |
| **නියයානාවරණං** | = | නික්මීමේ ආවරණය හෙවත් වැළැක්වීම නම් වේ. |

**පබ්බජ්ජා පඨමං ඣානං, නිබ්බානඤ්ච විපස්සනා**

**සබ්බෙපි කුසලා ධම්මා නෙක්ඛම්මන්ති පවුච්චරෙ**

යන ගාථාවට අනුව පැවිද්ද, ප්‍රථම ධ්‍යානය, නිර්වාණය, විපස්සනාව හා සියලු කුසල ධර්මයන්ද නෙක්ඛම්ම නම් වේ. මහා ටීකාහි අලෝභය ප්‍රධාන කුසල් නෙක්ඛම්ම වශයෙන් විස්තර වේ. ස්ථානයට උචිත ලෙස කරන විවරණයකි. මේ වනාහී විපස්සනා සමාධිය පිළිබඳව කරන විස්තරයක්

නිසා විපස්සනා කුසලයම නෙක්ඛම්මයන්ට අර්ථය කොට දක්වන්නෙමු, පසු පසු නියyානයෝද මෙලෙස මේ ක්‍රමයටම විපස්සනා සමාධිය හා සම්බන්ධ කොට අර්ථ දක්වන්නෙමු.

ද්වාර හයෙහි පහළ වන, ප්‍රකට වන රූප-නාම මෙනෙහි කරන විට රූප-නාම ලෙසටද නොදනී නම්, හේතු-ඵල වශයෙන්ද නොදනී නම්, අනිච්ච, දුක්ඛ, අනත්ත යැයිද නොදනී නම්, එලෙස නොදන්නා නිසා නොදන්නා එම අරමුණු මතද ප්‍රිය-මනාප - කැමැති බව පහළ වන්නේය. ප්‍රකටව පහළ වන තාක් රූප - නාම අරමුණු අනුව මනසිකාරය පවත්වන්නේ නම් රූප - නාම වශයෙන්ද දනී. එලෙස දැනගන්නා නිසා දැනගත යුතු එම අරමුණද එසේම වූ අනෙකුත් අරමුණු සම්බන්ධවද ආශාව, ප්‍රිය-මනාප භාවය දුරු වේ. මෙලෙස ප්‍රිය මනාප භාවයන්. ආශාවන් දුරුව යන නිසා විපස්සනා කුසලයට නෙක්ඛම්ම නම් වේ. නෙක්ඛම්ම නම් වූ මේ විපස්සනාවෙන් ආර්යයන් වහන්සේලා සසරින් නික්මීම කරත්. විපස්සනාව අනුපිළිවෙලින් වඩා මාර්ග ඥාණයෙන් නිවනට ඇස්පනා පිටම ළගාවී සංසාර වට්ට දුකින් නික්මයත් යැයි අර්ථයි. මෙලෙස නික්ම යාමට හේතුවන නිසා විපස්සනා කුසලය ආර්යන් වහන්සේලාට නියyානය නම් වේ. ආර්යයන් වහන්සේලා සංසාර වට්ට දුකින් නික්ම යවන ධර්මය යැයි අදහස් කෙරේ.

ප්‍රිය මනාප දේවලට කැමති බව නම් වූ කාමච්ඡන්දය වනාහි මෙම විපස්සනාවට බාධා කොට ආවරණය කළ හැකි නිසා නියyානාවරණ නම් වේ. බාධා කරන ආවරණය කරන ආකාරය; මේ භවයේ උන්නතිය සඳහා ඒ කටයුත්ත- මේ කටයුත්ත, ස්වාමියාගේ වැඩ- භාර්යාවගේ වැඩ- දරුවන්ගේ වැඩ- යහළු මිත්‍රාදීන්ගේ වැඩ- ශිෂ්‍ය- දායක ප්‍රශ්ණ- ගරු ආචාර්ය කටයුතු ආදී වශයෙන් නොගිණිය හැකි තරම් විශාල ප්‍රමාණ වූ කළයුතු වැඩ සෑම පුද්ගලයෙකුටම ඇත්තේමය. එම කෘත්‍යයන් පිළිබඳව විවිධ ආකාරයෙන් සිත යෙදිය යුතු වේ. වෙර දැරිය යුතු වේ. නොලද දෙය සඳහා උත්සාහ කළයුතු වේ. ලද දෙය මනාකොට නඩත්තු කිරීම සඳහා දුක් දැරිය යුතු වේ. එම නිසා විවේකයක් ලද නොහැක්කේමය. විපස්සනා භාවනාවන් සම්බන්ධව සිතා ගැනීමටවත් ඉඩ නැත. සිත ඇතත් ඇත්තටම භාවනා කළ නොහැක්කේය. අඩු තරමින් සිත සංවරයක් හෝ නොමැතිව සිතට කැමති පරිදි අයාලේ යන්නට හැර සතුටු වන්නාහ. කැමති පරිදි කථා කරයි. ගමන් කරයි. හිඳියි, නිදයි. මේ අනුව සතුටු වන්නාහ. මේ සතුටු වීම නිසා "භාවනාවට සිත

යෙදුවත් කය - සිත සුවය නොලැබීයාවි දැයි, ඇති වස්තු, භව, භෝග සම්පත්ති විනාශයට යා දැයි" සිතමින් සිත් වෙහෙසට පත් වේ. එම නිසා භාවනා නොකිරීම ම සිදු වෙයි. භාවනා නොකරන නිසා තම සන්තානයේ විපස්සනාව නොපිහිටයි. එම නිසා විපස්සනාව යනු කුමක් දැයි තමාගේ ඥාණයෙන් නොදනිත්, විපස්සනා යන නියයාන ධර්ම නොලබන තාක් පුද්ගලයන් තම සංසාර වට්ට දුකින් නොමිදෙන්නාහ.

මෙලෙසට නොමිදීම සඳහා හේතුව කල්පනා කළහොත් "උන්නතිය අපේක්ෂා කිරීම, සුඛෝපභෝගී ජීවිතයක් සඳහා කැමැත්ත, ආශාව නම් වූ කාමච්ඡන්දය නිසා බව යන්න ප්‍රකටය. එම නිසා කාමච්ඡන්දය විපස්සනා භාවනාව සඳහා ඉඩ ප්‍රස්ථාව නොදීම මඟින් ආවරණය කරයි. බාධා කරයි. දුකින් නොමිදිය හැකි ලෙසට බාධා කරයි. මීළඟ භවයේදී සංසාර සැප කැමැති කාමච්ඡන්දය නිසා ද විපස්සනා භාවනා කළ නොහැකි බවක් ඇත්තේය. මේ වනාහි විපස්සනා නියයානය සම්පූර්ණයෙන්ම සිදු නොවීම සඳහා පූර්ණ ලෙස බාධා කරන, ආවරණ කරන ආකාරයයි.

භාවනා කරන කාලයේදීද මෙනෙහි කරන අතර වාරයේ පවා මෙම කාමච්ඡන්ද නීවරණය පහළ වී විපස්සනාවට බාධා කළ හැක්කේය. බාධා කරන ආකාරය වනාහි; කාම අරමුණු අපේක්ෂා කරමින් සිතමින් සිටීම අනුව භාවනා කිරීමට කලින් ගත කළා සේ භාවනා කරද්දීද කාමච්ඡන්දය ඝන බහුලව පහළ විය හැක්කේය. භාවනා සම්බන්ධයෙන්ද සියුම් ලෙසට මේ කාමච්ඡන්දය පහළ විය හැක්කේය. ඒ කෙසේ ද යත්: මෙනෙහි කිරීම හොඳින් සිදු වනු විට සතුටු වේ. විශේෂ අරමුණු දකින විටද සතුටු වේ. සතුටු වී නැවත නැවතත් කල්පනා කරමින්, සිහිකරමින් සිටී. සතුටු කරුණු අනුනට කියා පෑමටද කැමති වේ. කිට්ටු ඥාතීන්ට භාවනා කියා දීමට කැමැත්ත පහළ විය හැක්කේය. හොඳින් භාවනා කිරීමට අපේක්ෂා කරයි. මෙහිලා මාර්ග-ඵල-නිර්වාණය කැමැති වීම තණ්හාව නොවන්නේය. කුසලච්ඡන්දයම වේ. තණ්හාවට වනාහි ලෝකෝත්තර ධර්ම අරමුණු කළ නොහැක්කේ යැයි කියනු ලැබේ. මෙලෙස කීම අනුව පුථුජ්ජනයන්ගේ කුසලච්ඡන්දය නියම මාර්ග - ඵල - නිර්වාන අරමුණු කළ හැකිද නොහැකිදැයි සිතා බැලීම වටී. පුථුජ්ජනයන්ගේ සිත්වලින් සෝතාපත්ති මග්ගයට පෙරාතුව ඇති ගෝත්‍රභූ සිතට පමණක් නියම නිවන අරමුණු කළ හැක්කේය. ඉතිරි කිසිම සිතකට නිවන අරමුණු කළ නොහැක්කේය. මාර්ග- ඵල සිත් පුථුජ්ජනයන්ට

කිසිකලෙකත් තත්වකාරයෙන් අරමුණු කළ නොහැකි යැයි පොත්- පත් වල දක්වෙන නිසා ගෝත්‍රභූ සිත හැර ඉතිරි කිසිම සිතකට මාර්ග- ඵල නිවන අරමුණු කළ නොහැක්කේය. එම නිසා පුථුජ්ජනයන්ට තමා අපේක්ෂා කරන මාර්ග- ඵල- නිවන අරමුණු කළ නොහැක්කේය. එම නිසා පුථුජ්ජනයන් අපේක්ෂා කරන මාර්ග- ඵල- නිවන් වනාහි නියම පරමාර්ථ නොවන්නේය. අනියමින්, අනුමාන වශයෙන් ආදියෙන් ලැබිය යුතු **නාම ප්‍රඥප්ති, ආකාර ප්‍රඥප්ති, සණ්ඨාන ප්‍රඥප්තීන්** පමණක් බව දත යුත්තේය. එම ප්‍රඥප්තීන් වන මාර්ග- ඵල- නිවන් කුසලච්ඡන්දය මඟින් අරමුණු කරන්නාක් සේ තණ්හා වශයෙන්ද අරමුණු කළ හැක්කේය. කැමැති විය හැක්කේය. එම නිසාම ම. නි. උපරි පණ්ණාස සළායතන විභංග සූත්‍රයෙහි "**අනුතතරෙසු විමොකෙඛසු පිහං උපටඨපෙති** = ශ්‍රේෂ්ඨ වූ උත්තරීතර වූ අර්හත් ඵලධර්මය කෙරෙහි ප්‍රාර්ථනා උපදවයි"යි දේශිතය. **අනුසසුති ලදදං පන පරිකපප සිදධං අරහතතං උදදිසස පතතනං ඨපෙති** = අනුශ්‍රැතියෙන් (= අසා දැනගත් දෙයින් ) ලද, පරිකල්පනා සිද්ධ වූ අර්හත් ඵල ධර්මය උදෙසා ප්‍රාර්ථනා උපදවයි"යි අදාළ ටීකාව විවරණය සපයයි සක්ක පඤ්හා සූත්‍රයට ලියන ලද ටීකාවෙහිද " **අනුසසවූපලදෙධ පන අනුතතර විමොකෙඛ උදදිසස පිහං... උපපාදෙනෙතා තතථ පිහං උපටඨාපෙතිති වුතෙතා** = නියම ලෝකෝත්තර ධර්මය අරමුණු කොට තණ්හාව පහළ විය නොහැකි නමුදු අනුස්සුතියෙන් ගන්නා ලද අරහත්ත ඵල ධර්මය උදෙසා ප්‍රාර්ථනා පහළ කිරීම සලකා "එම ආර්ය ඵලයන් ප්‍රාර්ථනා කිරීම විය හැක්කේ යැයි දේශනා කළේ යැයි" දැක්වේ.

මෙලෙස කාම ආශාවන් පහළ නොවන්නේ නම් එම අවස්ථාවේ විපස්සනාවම දිගින් දිගට පහළ වන්නාහ. එම නිසා කාමච්ඡන්දය පහළ වීම "අප වනාහි පහළ වන්නෙමු. තොප වනාහි විපස්සනා ඥාණයන් පහළ නොවවූ හුයි" නතර කිරීම හා සමානය. මෙපමණක් නොව සමහර ඇත්තන්ට සමාධි ප්‍රඥා මෝරමින් පවතින අවස්ථාවේ මෙලෙස කාම ආශාවන් පහළ වීමක් සමඟම භාවනා මනසිකාරය ප්‍රකටවම මෙන්ම නිසැකවම විනාශ වේ. එවැනි අවස්ථාවේ කණගාටුදායක පශ්චාත්තාපයන් පමණක්ම පහළ විය හැක්කේය. මෙය වනාහී භාවනා කරමින් සිටින විට බාධා කරන ආකාරයයි.

"මෙලෙස බාධා කිරීම, වළකාලීම සලකා" කාමච්ඡන්දය වනාහි බාධා කරන නිසා ආර්යයන්ගේ විමුක්තිය සඳහා වූ විපස්සනා කුසලයන් දත නොහැක්කේ යැ"යි කියනු ලැබේ. "දත නොහැක්කේ යැ"යි කියන තැන

සූතමය ඤාණ වශයෙන් නොදන්නේ යැයි අදහස් නොකෙරේ. භාවනාමය වශයෙන් තම සන්තානයේ ඤාණය පහළ නොවීම-නොවැටහීම අදහස් කෙරේ. එම නිසා ආර්යයන්ගේ විමුක්තිය සඳහා වූ විපස්සනාව පහළ නොවීම සඳහා ක්‍රියා කරන නිසා, බාධා කරන නිසා කාමච්ඡන්දය නියයානාවරණ නම් වේ. නීවරණ යැයිද කියනු ලැබේ. එම නිසා පටිසම්භිදා මාර්ගයෙහි **"කෙනට්ඨෙන නීවරණං නියයානාවරණට්ඨෙන නීවරණා"** යැයි දක්වේ.

## සම්පිණ්ඩනය

නෙක්ඛම්ම සංඛ්‍යාත වූ විපස්සනා කුසල ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස පිහිටන නියයානය නම් වේ. සංසාර වට්ට දුකින් විමුක්තිය කැමැති තැනැත්තා ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වන එම විපස්සනාව වැඩිය යුතුවේ. කාම ආශාව නම් වූ කාමච්ඡන්දය, විමුක්තිය සඳහා වූ එම විපස්සනාවට බාධා කරන නිසා, ආවරණය කරන නිසා නියයානාවරණ නම් වේ. එම කාමච්ඡන්දයෙන් වෙන්විය යුතු වේ. ඉදින් පහළ වූයේ නම් මෙනෙහි කොට දුරු කළ යුතු වේ.

# ද්‍රුතිය නියයානය හා ආවරණය

**අබ්‍යාපාදො අරියානං නියයානං, තෙනච අබ්‍යාපාදෙන අරියා නියයන්ති, බ්‍යාපාදො නියයානාවරණං, තෙන ච බ්‍යාපාදෙන නිවුතතා අබ්‍යාපාදං අරියානං නියයානං නපපජානාතීති බ්‍යාපාදො නියයානාවරණං**

| | | |
|---|---|---|
| **අබ්‍යාපාදො** | = | ක්‍රෝධ-නපුරු සිතුවිලි නැති බව |
| **අරියානං නියයානං** | = | ආර්යයන් වහන්සේලාගේ නික්මීම වේ |
| **බ්‍යාපාදො** | = | ක්‍රෝධ-නපුරු සිතුවිලි |
| **නියයානාවරණං** | = | විමුක්තිය සඳහා වූ නියයානය ආවරණය කරයි එයට බාධා කරයි. (ඉතිරි කොටස සඳහා ප්‍රථම නියයාන විස්තරයෙන් ගෙන අර්ථ කියවන්න) |

මෙනෙහි කරන විපස්සනා සිතෙහි යෙදෙන ක්‍රෝධය නැතිකම, අව්‍යාපාදය නම් වේ. නරක අරමුණක් හමුවූ විට අමිහිරි වේදනා පහළ වී මෙනෙහි කිරීම කරයි. සාර්ථක නොවුන විට තම බලාපොරොත්තු සිඳ නොගෙන, ක්‍රෝධ නොකර මෙනෙහි කිරීම මගින්ම ආර්යයන් වහන්සේලා නිවන අරමුණු කොට සංසාර වට්ට දුකින් මිදුණු සේක. එම නිසා මෙලෙස ක්‍රෝධ නැති බව ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වූ නියයානය

නම් වේ. මෙනෙහි කිරීමේ බලාපොරොත්තු සුන්කර නොගැනීම නම් වූ මේ නියයානය මත පිහිටා භාවනාව වැඩිය යුතුවේ.

පුද්ගලයෙකු මත හෝ අරමුණු වස්තුවක් මත මෙනෙහි කිරීම සාර්ථක නොවුණා වේවා, ඒ මත ක්‍රෝධය, නපුරු සිතිවිලි පහළ කිරීම බ්‍යාපාදයයි. මේ බ්‍යාපාදය පහළ වන්නේ නම් සිත නරක් කර නොගෙන මෙනෙහි කිරීම නම් වූ විමුක්තිය සඳහා වූ ධර්මය දැනගත නොහැක්කේය. එම නිසා ක්‍රෝධය, නපුරු සිතිවිලි යන්න විමුක්තිය වළකාලන, ආවරණය කරන නියයානාවරණයක් වේ. මෙයින් වැළකිය යුතුයි. මනුෂ්‍යයෙකුට ක්‍රෝධ කිරීම, සිතින් කෙනෙකු හමුවී එම පුද්ගලයා සමඟ වාද කිරීම, ගැටීම, දුක්ඛ වේදනාව, සිත නරක් කරගැනීම, දකින දේ- අසන දේ ආදිය අනුව සිත නරක් කර ගැනීම, මෙනෙහි කිරීම හරි නොයෑම නිසා බලාපොරොත්තු සුන්වීම, යන මේ ආකාර වලින් ව්‍යාපාදය පහළ වී නම් එය මෙනෙහි කොට දුරු කළයුතු වේ. ව්‍යාපාදය මෙනෙහි කොට සාර්ථකව දුරු කළේ නම් යළිත් මෙනෙහි කරමින් සිටි මූල අරමුණම තදින් මෙනෙහි කරන්න. මෙලෙස වරක් දෙකක් මෙනෙහි කිරීමෙන් ව්‍යාපාදය සහමුලින්ම දුරු නොවී නම් පහළ වන වාරයක් පාසා නැවත නැවත මෙනෙහි කරන්න. අවසානයේ ව්‍යාපාදය සම්පූර්ණයෙන් දුරුවනු ඇත.

## තෘතිය නියයානය හා ආවරණය

**ආලොක සඤ්ඤා අරියානං නියයානං, තායච ආලොක සඤ්ඤාය අරියා නියයන්ති, ථීනමිද්ධං නියයානාවරණං, තෙනච ථීනමිද්ධෙන නිවුතත්තා ආලොක සඤ්ඤං අරියානං නියයානං නපපජානාතීති ථීනමිද්ධං නියයානාවරණං**

| | | |
|---|---|---|
| **ආලොක සඤ්ඤා** | = | ආලෝක සඤ්ඤාව |
| **වා** | = | පැහැදිලිව, නිසැක මෙනෙහි කිරීම |
| **අරියානං නියයානං** | = | ආර්යයන්ගේ නික්මීම පිණිස හේතුවයි. |
| **ථීනමිද්ධං** | = | සිතේ හැකිලීම, මැලි බව |
| **නියයනාවරණං** | = | විමුක්තිය සඳහා වූ නියයානයට බාධාවයි, ආවරණයයි. (ඉතිරිය සඳහා යට දැක්වූ ක්‍රමයට අනුව අර්ථ ගන්න) |

ඉර එළිය, සඳ එළිය, තරු එළිය, භාවනා ආලෝකය යන මේවාට සිත යොදා බැලීම **ආලෝක සඤ්ඤාව** නම් වේ. එම ආලෝකයට සිත යෙදීම

මගින් නින්ද කැමති වන, නිදිකිරන ගතියට හේතුව වන **ථිනමිද්ධය** දුරු කළ හැක්කේය. සිත හැකිළී ගොස් නිදිමත වූ විට එම ආලෝක සඤ්ඤාවෙන් එය දුරු කොට විපස්සනා භාවනා වැඩිය හැක්කේය. මෙලෙස වැඩීමෙන් නිවන වර්තමානව අත්දැක සංසාර වට්ට දුකින් අතමිදිය හැකි බැවින් ආලෝක සඤ්ඤාව ආර්යන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වන නියයාන නම් වේ. තව දුරටත් රූප - නාම ප්‍රකට වනු පිණිස මනසිකාරය පැවැත්වීම, මෙනෙහි කිරීමද විපස්සනා ක්ෂේත්‍රයෙහි ආලෝක සඤ්ඤාව හා සමාන යැයි කීමම සුදුසු වේ. ප්‍රකටවම පැහැදිලිව මෙනෙහි කළ හැකි වූ විට නිදිමත, නිදි කිරන ගතිය දුරුවී සිත ප්‍රභාෂ්වරව පැවතිය හැක්කේය. දිවා- රාත්‍රී දෙක්හිම දිගටම නිදිමත ගති, හිස බර ගති නැතිව සිත පිරිසිදුව පැහැදිලිව පැවැතිය හැක්කේය. මෙනෙහි කිරීම අතහැර හාන්සි වී නිදිගත්තද නිදි නොලබා ප්‍රකට රූප- නාම ධර්ම මත ඉබේම මනසිකාරය පැවැත්වෙමින්, දැනගනිමින් පැවැතිය හැක්කේය. එම නිසා රූප- නාමයන් ප්‍රකට ලෙස මනසිකාරය පැවැත්විය හැකි බව නම් වූ ආලෝක සඤ්ඤාව මගින්ද ථිනමිද්ධය දුරු කොට විපස්සනා මාර්ග ඥාණ අනුපූර්ව ලෙස වඩමින් සංසාර දුකින් අතමිදීම පහසු කරයි. එම නිසා ප්‍රකට ලෙස මෙනෙහි කිරීමට ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වන නියයානයක් යැයි කියනු වටී.

නිදිබර, නිදිකිරන ගතියට හේතු වන සිතේ හැකිලීම, මැලි බවද **ථීන මිද්ධය** නම් වේ. මනසිකාරය පැවැත්වීම මෙනෙහි කිරීම විෂයෙහි කම්මැලි බවද **ථිනමිද්ධය** නම් වේ. මේ ථිනමිද්ධය මගින් ආලෝක සඤ්ඤාව ආවරණය කළ හැකි නිසා බාධා කළ හැකි නිසා නියයානාවරණ නම් වේ. එය පහළ වන පහළවන අවස්ථාවේ විශේෂයෙන් පැහැදිලි බව පිණිස මෙනෙහි කිරීමෙන්, මනසිකාරය පැවැත්වීමෙන් දුරු කළයුතු වේ.

## චතුත්ථ නියයානය හා ආවරණය

**අවික්ඛෙපො අරියානං නියයානං, තෙනච අවික්ඛෙපෙන අරියා නියයනති උද්ධච්චං නියයානාවරණං තෙනච උද්ධච්චෙන නිවුතත්තා අවික්ඛෙපං අරියානං නියයානං නපපජානාතීති උද්ධච්චං නියයානාවරණං**

**අවික්ඛෙපො** = වික්ෂිප්ත බව නැතිකම, අවික්ෂිප්ත බව

**අරියානං නියයානං** = ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වේ.

**උද්ධච්චං** = නොසන්සුන් බව

**නියයානාවරණං** = විමුක්තිය පිණිස වූ නියයානය වළක්වයි. ආවරණ කරයි. (ඉතිරිය සඳහා යට දැක්වූ ක්‍රමයට අර්ථ ගන්න)

මෙනෙහි කළ යුතු නාම - රූපයන් මතටම අවධානය යොමු කොට සිටින ඛණික සමාධිය වනාහි **අවික්ඛෙප** නම් වේ. වික්ඛෙප භාවයේ ප්‍රතිවිරුද්ධ ධර්මයට **අවික්ඛෙප** යැයි කියනු ලැබේ. මේ **අවික්ඛෙප** බව නම් වූ සමාධිය බලවත් වූ කළ සිත මෙනෙහි කරන අරමුණට වැදගන්නා සේ, බැස ගන්නා සේ පිහිටයි. සිත හා අරමුණු ඔවුනොවුන් බැඳෙමින් ගමන් කරන්නාසේ පවතී. උපමාවක්; බර හාල් ගෝනියක් බිම අතහැරිය හොත් වැටුණු තැනම තැන්පත් වී සිටින්නා සේද, ඉතා තියුණු හෙල්ලකින් බුරුල් පොළවකට පහර දුන හොත් එතැනම බැසගෙන සිටින්නා සේද, ඉතා ඇලෙන සුළු මැටි වැනි දෙයක් බිත්තියට දමා ගැසුව හොත් වදින වදින තැන ඇලී සිටින්නා සේද රූප- නාම අරමුණු වේගයෙන් වෙනස් වුවද මෙනෙහි කරන මෙනෙහි කරන අරමුණු මත සිත ඛණික සමාධිය මගින් යොමු වී තැන්පත් වන්නා සේ පවතී. එම ඛණික සමාධිය විපස්සනා මාර්ග ඵලයන් පහළ කරවන සුළු, සංසාර වට්ටයන්ගෙන් මුදා ආර්ය භාවයට පත් කරවන සුළු වන්නේය. එම නිසා මෙනෙහි කරන කරන වාරයේ වික්ෂේප නොවී එල්ල වී පවතින මේ ඛණික සමාධිය ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වන නියයාන නම් වේ. මේ සමාධිය මත පිහිටා භාවනාව වැඩිය යුතු වේ.

එක් අරමුණක් මත මනසිකාරය පවත්වන විට එයින් වෙනස් අරමුණකට පෙරළී යන්නා සේ සිත එල්ලව නොපිහිටීම, තැන්පත්ව නොපිහිටීම **උද්ධච්චය** නම් වේ. එන එන අරමුණෙහි සිත විසිරී යෑම ස්වභාවය යැයි කියනු ලැබේ. මේ **උද්ධච්චය** භාවය නිසා සිත එකම අරමුණක් මත පිහිටිය නොහැකිව විවිධ අරමුණු අනුව දිව යයි. උද්ධච්ච ශක්තිය අඩු නම් ටිකක් දුවයි. වැඩි නම් වහ වහා දුවයි. මෙනෙහි කිරීම සම්බන්ධයෙන්ද සිත විසිරී යා හැකිය. සිත විසිර යන ආකාරය වනාහි; මෙනෙහි කළ ද නොකළ ද සිතිවිලිවල පටලැවේ. පිළිවෙළකට මෙනෙහි කළ ද. නොකළ ද සිතිවිලිවල පටලැවේ පිළිවෙලකට මෙනෙහි කළා ද නැත්ද කියා සලකන ස්වරූපයෙන් සිත සිතිවිලිවල පටලැවේ. අරමුණු හොඳින් ප්‍රකටද නැද්දැයි සිත සිතිවිලි පහළ කරයි. කෙසේ මෙනෙහි කළ යුතු දැයි සිත වික්ෂිප්ත වේ. මෙලෙස වික්ෂිප්ත වන කාලයේ විපස්සනා සමාධිය පහළ නොවේ. පහළ වූ සමාධිය

ද විසිරී යෑම නිසා අරමුණ මත සිත හොඳින් තහවුරු නොවේ. එම නිසා සිත විසිරි යෑම නම් වූ **උද්ධච්චය** නික්ම යෑමේ ක්‍රමය වළක්වාලන, ආවරණය කරන බැවින් නියයානාවරණ නම් වේ. මෙම සිත විසිරී යෑම පහළ වී නම් මෙනෙහි කොට දුරු කළ යුතුවේ. එම අවස්ථාවේහි දිගට මෙනෙහි කරන මූල අරමුණ මතටම අවධානය යොමු කොට මෙනෙහි කරන්න.

## පඤ්චම නියයානය හා ආවරණය

**ධම්මවවත්ථානං අරියානං නියයානං, තෙන ච ධම්ම වවත්ථානෙන අරියා නියයන ති. විචිකිච්ඡා නියයානාවරණං තාය ච විචිකිච්ඡාය නිවුතත්තා ධම්මවවත්ථානං අරියානං නියයානං නප්පජානාතීති විචිකිච්ඡා නියයානාවරණං**

**ධම්ම වවත්ථානං** = කුසල් - අකුසල් ධර්මයන් පිරිසිඳ දැන ගන්නා ඤාණය

**අරියානං නියයානං** = ආර්යයන්ගේ විමුක්තිය පිණිස වේ.

**විචිකිච්ඡා** = කුසල් යනු ඇත්තද, බොරු ද ආදීවූ මිත්‍යා විශ්වාසය සැක.

**නියයානාවරණං** = විමුක්තිය බාධා කරන ආවරණ ගතියයි. (ඉතිරිය සඳහා යට දැක්වූ ක්‍රමයට අනුව අර්ථ ගන්න)

මේ අනවද්‍ය වූ කුසල ධර්මයකි. මේ දොස් සහිත වූ අකුසල ධර්මයයි වෙන වෙනම දැනගත හැකි ඤාණය *ධර්ම වවත්ථාන ඤාණයයි.* ආර්යයන් වහන්සේලා මේ ඤාණයන් නිවැරදි ක්‍රමයට දැනගෙන අකුසල හැකිතාක් දුරුකර, කුසලයන් හැකි තාක් වඩා, නිවන මෙලොව වශයෙන් සාක්ෂාත් කරගෙන සංසාර වට්ට දුකින් අත්මිදෙති. එම නිසා කුසල්- අකුසල් වෙන් කොට දැන ගත හැකි ඤාණය ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වන නියයාන නම් වේ. මේ ධර්මය කුසල් ද නැත්ද යන ලෙස උපද්දවා ගත් සැකය ඒවා තේරුම් ගන්නා ඤාණය වසාලන බැවින්, ආවරණය කරන බැවින් නියයානාවරණය නම් වේ. සැක දුරු නොකළ තැනැත්තා අකුසල් ද දුරු නොකරයි. කුසල් ද නොවඩයි. එම නිසා සංසාර වට්ට දුකින් නම් අත්නොමිදෙන්නේ මැයි.

විපස්සනා අවස්ථාවේ විපස්සනා කුසල්වල ඇත්ත - නැත්ත පිරිසිඳ වටහා ගන්නා ඤාණය හා විපස්සනාවට උපකාර කළහැකි කුසලයන්හි ඇති නැති බව පැහැදිලිව පිරිසිඳ ගත හැකි ඤාණය යන මේ ඤාණයන්

දෙක පමණක් අත්‍යවශ්‍යවෙත්. එම නිසා එම ඤාණ දෙක පමණක් විපස්සනා ක්ෂේත්‍රයෙහි නියයාන ධර්ම යැයි සැලකිය යුතු. විපස්සනාව හරි වැරදි බව තීරණය කිරීමට මෙම පොතෙහි පරිච්ඡේද අංක තුන හා හතරෙහි ලා වැඩි දුර විස්තර සපයන්නෙමු. කෙටියෙන් වනාහි සන්තති, ඛණ පච්චුප්පන්න වන රූප - නාම පහළ වන පහළ වන වාරයේ මෙනෙහි කිරීම, ප්‍රත්‍යක්ෂ වශයෙන් දැන ගැනීම විපස්සනා නම් වේ. ප්‍රත්‍යක්ෂ ඤාණය මුහුකුරා ගියවිට ඇස්පනාපිට නොදක්නා අතීත - අනාගත - බහිද්ධා ආදී ධර්ම සියල්ලන්මද අනුමාන වශයෙන්, තීරණය කළ හැකි වන්නේය. මේ පච්චක්ඛ හා අනුමාන යන විපස්සනා ක්‍රම දෙක පමණක් විපස්සනා කුසල නම් වේ. එයින් පිට කල්පනා කිරීම්, සිතා ගැනීම් විපස්සනා කුසල් නොවන්නේ යැයි විශේෂයෙන් දතයුතු වේ. මෙලෙස දැන ගන්නා ඤාණය මගින් ආර්යයන් වහන්සේලා නියම විපස්සනාව වඩා නිර්වාණය වර්තමාන වශයෙන් සාක්ෂාත් කොට සංසාර වට්ට දුකින් අත්මිදෙන්නාහ. තව දුරටත් සීල - ධුතාංග-සමථය හා නුවණින් සලකා මනසිකාරය පැවැත්වීම ආදිය විපස්සනාවට උපකාර කළ හැකි කුසල යැයි තීරණය කරන ඤාණයද ආර්යයන් වහන්සේලාගේ නියයානය නම් වේ. එම නිසා මේ නියයාන දෙවර්ගයම උගෙනීම, අසා දැනගැනීම, ප්‍රශ්ණ කිරීම, කළයුතු වේ. මතුවී එන රූප - නාමයන් මෙනෙහි කිරීම් මගින් විපස්සනා කුසල පහළ වේද නොවේ දැයි සැක කිරීම, අවිශ්වාස කිරීම **විචිකිච්ඡා** නම් වේ. විචිකිච්ඡාව සියල්ල අතරින් ඉතාමත් නරක ධර්මයකි. විචිකිච්ඡාව මතුවී ආ කල එය විචිකිච්ඡාව යැයි නොදත හැකි වීම මෙලෙස අනතුරුදායක වීමට හේතුවයි. "දෙපැත්තම මධ්‍යස්ථ ලෙස සලකා බලමින් සිටීමේ ඤාණයක් යැ"යි වරදවා වටහා ගත හැක්කේය. මෙලෙස වරදවා වටහා ගැනීමම ඤාණය ලෙසට පෙනී සිටීම වඤ්චනික ස්වභාවයකි. මේ නිසා ප්‍රඥාව ඇති පුද්ගලයා සතිමත් විය යුතු බවට නෙත්ති අට්ඨකථා යුත්තිහාර විවරණය (76 ) හි **"උභයපක්ඛ සන්තීරණ මුඛෙන විචිකිච්ඡා වඤ්චෙති"** යැයි දක්වයි.

| | | |
|---|---|---|
| **උභය පක්ඛ සන්තීරණ මුඛෙන** | = | දෙපැත්තම විනිශ්චයකර බලන්නා සේ |
| **විචිකිච්ඡා** | = | විචිකිච්ඡාව |
| **වඤ්චෙති** | = | වඤ්චා කරයි. |

මේ විචිකිච්ඡාව සුතය හෙවත් බහුශ්‍රැතභාවය අඩු පුද්ගලයාට පහළ විය නොහැක්කේය. ගුරුවරයා අදහාගෙන විශ්වාසයෙන් භාවනා කරන්නේ

නම් අනුශාසනා කරන ලෙසට අවංකව භාවනා කරයි. එසේ කළ හැකි ද වන්නේය. නමුදු ඔවුනට ගුරුවරයකු නොමැති නම් භාවනා කිරීමට නොහැක්කේය. බහුශ්‍රැත පුද්ගලයන් සඳහා නම් නියම ක්‍රමය ලැබුනේ නම් ගුරුවරයෙකු නොමැති වුවද භාවනා කළ හැක්කේය. නමුදු නොගිය පාරක ගමන් කරන්නාට මේ පාර නිවැරදි ද? අර පාර නිවැරදි දැයි පැහැදිලි නොමැති දෙගිඩියාව නිසා ගමන නොකෙරෙන්නා සේ, බොහෝ ක්‍රම අසා දැන ඇති නිසා සැක සංකා බහුල වී ගමන නිම නොවීම වන්නේය. එම නිසාම විචිකිච්ඡාව දෙමංසන්ධියක් හා සමාන යැයි වම්මික සූත්‍රයෙහි ලා දේශනා කළ සේක. උපමා උපමේය සැසඳීමේදී වස්තු සම්පත්ද සමඟ ගමනක් යන්නා දෙමං සන්ධියකට පත් වූ විට කුමන මග ගතයුතු දැයි තීරණය කරගත නොහී නතර වී සිටින්නේය. එම අවස්ථාවේ පසුව පසුපස ලුහුබැඳ ආ මං පහරන්නකු ළංවී එම මගියා අල්ලාගෙන මරා දමන්නේය. මේ උපමාවෙහි දෙමං සන්ධියෙහි තීරණයක් නැතිව නතර වී සිටින්නා සේ විපස්සනා භාවනා වඩන්නාද සැක-සංකාවල පටලැවී සිටින්නේ නම් දිගට මෙනෙහි කිරීම කළ නොහැකි වන්නේය. එම අවස්ථාවේ මං පහරන්නෙකුගේ අතට පත්වී වස්තු විනාශයට පත්වන්නාසේ කෙලෙස් සතුරාගේ අතට පත්වී සංසාර වට්ට දුකින් අතමිදීමට අවස්ථාව නොලැබී යන්නේය. මෙලෙස වන සැක - සංකා - විචිකිච්ඡා මෙනෙහි කොට දුරුකර දමා දිගින් දිගට වෙහෙස නොබලා භාවනා කිරීමෙන් පමණක් සංසාර වට්ට දුකින් අත් මිදීමට හැකි වන්නේය. එම නිසා විචිකිච්ඡාව දෙමං සන්ධියකට සමාන වේ. මේ විචිකිච්ඡාව බුද්ධ, ධම්ම, සංඝ, ත්‍රිශික්ෂා, අතීත, අනාගත, ප්‍රත්‍යුත්පන්න ස්කන්ධ, පටිච්චසමුප්පාද යන මේ අටතැන්හී සැක ඉපදවීමයි. අද කාලයෙහි වනාහි බණ කියන, කමටහන් දෙන ආචාර්‍යයන් වහන්සේ භාවනා ක්‍රමය ලෙස උගන්වන මේ ක්‍රමයට භාවනා කොට ධර්මාධිගමය ලැබිය හැකි දැයි සැක කරත්. තමාගේ භාවනාව සම්බන්ධයෙන්ද සැක කරත්. විශේෂයෙන් මේ දෙතැන්හි සැක කරත්. එම නිසා මෙලෙස වන සැක දුරුකොට විපස්සනා භාවනාව සම්පූර්ණ ලෙස බාධාවකින් තොරව භාවනා කොට මග-ඵල නිවන් කරා වහා වහා ළඟා වීම පහසුකරලීම අපේක්ෂා කරමින් මේ පොතෙහි ශීල විශුද්ධිය තැන් පටන් විස්තරව දක්වන්නට යෙදුණි. පසුවද විස්තර කළ යුතු

පැති රාශියකි. විශේෂයෙන් පරිච්ඡේද අංක තුන හා හතරෙහි විස්තර කිරීම් බොහෝ සේ හමු වනු ඇත. පරිච්ඡේද අංක පහෙහි ලා දක්වන ක්‍රමයට අනුව යෑම්, සිටීම, හිඳීම්, හොවීම්, දිග හැරීම්, නැවීම් ආදිය මෙනෙහි කිරීම, කුසල්ම යැයි තීරණය කළ යුතු. ඒවා කුසල් ද අකුසල් ද යැයි සැක නොකළ යුතු හේතුව වනාහි; යෑම්, ඊම් ආදිය මෙනෙහි කරන විට යන අවස්ථාවේ ආදී වශයෙන් පහළ වන රූප - නාමයන් ඇති සැටියෙන් දැනගන්නා ඤාණය පහළ වන්නේය. සතිමත් වීමද සිදුවේ. ප්‍රසාදජනක වූ ශ්‍රද්ධාවද පහළ වේ. ලෝභය නොමැති බව නම් වූ අලෝභය පහළ වේ. ද්වේශය නොමැති බව නම් වූ අද්වේශය පහළ වේ. මේ ඤාණ, සති, සද්ධා, අලෝභ, අද්වේශ, ආදී කොට ඇති ධර්මයන් සියල්ල සම්‍යක් ධර්මයෝය. මෙලෙසට සම්‍යක් ධර්මයන් වනාහී මෙනෙහි කිරීමක් පාසා පහළ වන නිසා "මෙනෙහි කිරීමෙන් විපස්සනා කුසල් පහළ වෙත්. මෙනෙහි නොකරන්නේ පහළ නොවේ යැ"යි නිසැකවම තීරණය කළ හැක්කේය. උපමාවක් ලෙස පඨවි කසිණය වඩන්නා "පඨවි - පඨවි" හෝ වේවා "පොළව-පොළව" යයි වේවා මෙනෙහි කිරීම නිදොස් ධර්මයන් වන නිසා, සම්‍යක් ධර්මයක් නිසා මෙනෙහි කිරීමක් පාසා සමථ කුසලය පහළ වන්නාසේය. මෙය වනාහි තමාගේ භාවනාව මත සැක, සංකා පහළ නොවීම සඳහා හේතු ගෙනහැර දැක්වීමයි. විස්තර හතර වන පරිච්ඡේදයේ තවත් පැහැදිලිව ලියා දක්වන්නෙමු.

විස්තර කරන ලද ලෙසට සැක-සංකා පහළ වී නම් පහළ වන එම අවස්ථාවේ, රූප - නාම මෙනෙහි කිරීම වනාහී විපස්සනා කුසල් යැයි තීරණය කිරීමේ ඤාණය පහළ විය නොහැක්කේය. එසේ එම ඤාණය නම් වූ නියයානයෙන් බැහැර වීමෙන්, විපස්සනා වැඩීමෙන්ම අත්මිදිය හැකි සංසාර වට්ට දුකින් අත්මිදී ගත නොහැකි වන්නේය. එම නිසා විචිකිච්ඡාව නියයානාවරණය නම් වේ. එමගින් බුදුරජාණන් වහන්සේ මත ඇති සැක-සංකා ආදී කොට පවතින කුසල් සියල්ල සම්බන්ධව ඇති සැක-සංකා පිළිබඳව විනිශ්චය කළ හැකි ඤාණය ආවරණය කරන්නේය. එයට බාධා කරන්නේය. එම නිසා එම සැකයන්ද නියයාවරණ නම් වේ. එම නිසා මෙවන් විචිකිච්ඡා වනාහී විමසුම් නුවණ යැයි වරදවා වටහා නොගෙන දුරු කළයුතු වේ. මතුවන මතුවන අවස්ථාවෙහි මෙනෙහි කිරීමෙන් මෙය

බැහැර කරන්න. බැහැර නොකළොත් සංසාර වට්ට දුකින් අත්මිදී ගත නොහැකි වන ලෙසට ආවරණය කරනු ඇත. බාධා කරනු ඇත. මෙය විශේෂයෙන් කල්පනාවට ගත යුක්තකි.

## ප්‍රථම නියයානය හා ආවරණය

**ඤාණං අරියානං නියයානං, තෙන ච ඤාණෙන අරියා නියයන්ති. අවිජ්ජා නියයානාවරණං, තාය ච අවිජ්ජාය නිවුතතා ඤාණං අරියානං නියයානං නපපජානාති අවිජ්ජා නියයානාවරණං**

| | | |
|---|---|---|
| **ඤාණං** | = | හුදු රූප-නාම පමණක් යැයි වෙන් කොට දැනගන්නා ඤාණය හා හේතු ප්‍රත්‍යය නිසා පහළ වන ඵල නාම-රූප පමණක් යැයි වෙන්කොට දැනගන්නා ඤාණය |
| **අරියානං නියයානං** | = | ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වේ. |
| **ච** | = | නියයාන වීමට හේතුව වනාහි; |
| **තෙන ඤාණෙන** | = | එම නාම - රූප පරිච්ඡේද, පච්චය පරිග්ගහ යන ඤාණයන් මඟින් |
| **අරියා** | = | ආර්යයන් වහන්සේලා |
| **නියයන්ති** | = | සංසාර වට්ට දුකින් අත්මිදෙත් - නික්මෙත්. |
| **අවිජ්ජා** | = | පුද්ගලයා. සත්ත්වයා, ආත්මය යැයි වරදවා ගන්නා මෝහය හා සදාකාලික-සර්වබලධාරී දෙවියන් වහන්සේ, ශක්‍රයා, බ්‍රහ්මයා විසින් මවන ලදුව සත්ත්වයා වන්නේය යැයි ද, ඉබේ පහළ වේ යැයිද මේ ආදී ක්‍රම වලට වරදවා වටහා ගන්නා මෝහය. |
| **නියයානාවරණං** | = | විමුක්තිය සඳහා වූ නියයානය ආවරණය කරන්නේය. බාධා කරන්නේය |
| **ච** | = | නියයානාවරණයක් වීමට හේතු වශයෙන් |
| **තාය අවිජ්ජාය** | = | එම වරදවා වටහා ගන්නා මෝහය මඟින් |
| **නිවුතතතා** | = | වසාලන බාධා කරන නිසා |
| **ඤාණං අරියානං නියයානං** | = | ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිසම වන නාම-රූප පරිච්ඡේද, පච්චය පරිග්ගහ යන ඤාණයන් |
| **නපපජානාති** | = | නොදනී |

**ඉති** = මේ හේතුව නිසා

**අවිජ්ජා** = වරදවා වටහා ගැනීම නම් වූ මෝහය

**නියයානාවරණං** = විමුක්තිය ආවරණය කරයි, බාධා කරයි

යන පදයන් මහා ටීකාව උපකාරයෙන් මෙහිලා අර්ථ සපයන ලදී, නමුදු ඤාණය යන තැන විපස්සනා ඤාණ සියල්ලද මාර්ග ඤාණයද ගැනීම සුදුසුය. අවිජ්ජා යන තැනද එම ඤාණයන්ගේ විරුද්ධ පැත්ත වන සියලු මෝහයන් ගැනීමම සුදුසුය. මෙය වනාහි විපස්සනාව වශයෙන් සලකන තැනක් වන නිසා විපස්සනා ඤාණ සියල්ලමද එහි විරුද්ධ පැත්ත වන මෝහයන් සියල්ලමද ගත යුතු.

පහළ වන තාක් රූප - නාමයන් මෙනෙහි කරන්නා, මෙනෙහි කරන කරන වාරයේ අරමුණු වෙතට යා හැකි, අරමුණ දැනගත හැකි නාම ධර්ම ස්වභාවයක් පමණක් හා අරමුණ වෙතට නොයාහැකි, එය දැනගත නොහැකි රූප ධර්ම ස්වභාවයක් පමණක් ඇතැයිද, භාවනා කරන විට තත්ත්වාකාරයෙන් දැනගනී. තවදුරටත් මුහුකුරා ගියවිට "මේ මේ හේතුව නිසා මේ මේ නාම-රූප පහළ වේ. මේ හේතුව ඇති නිසා මේ නාම මේ රූප පහළ වේ. හේතු නිසාම පහළ වන ඵල ධර්මයන්ය" ආදී වශයෙන් හේතුවත් සමඟම රූප - නාම ධර්මයන් තත්වාකාරයෙන් දනී. තවදුරටත් දියුණු වූ විට අනිත්‍ය යැයිද, දුක්ඛ යැයිද, පාලනය කළ හැකි තත්ත්වයක්, ආත්මයක් නැත යැයි ද දැන ගනී. තව දුරටත් මෝරා ගිය කළ පහළ වී ක්ෂණයකින් බිඳි - බිඳි යන්නේ යැයි දැන ගනී. තවත් මෝරා ගිය විට දිගටම බිඳී- බිඳි යන්නේ යැයි මෙනෙහි කිරීමක් පාසා දැනගනී. මෙනෙහි කිරීමක් පාසා පහළ වන මේ දැනීමට ඤාණය යැයි කියනු ලැබේ. මෙවැනිම වූ විපස්සනා ඤාණයන් සියල්ල පහළ වී නිවන වර්තමානව සාක්ෂාත් කරගන්නා ආර්යයන් වහන්සේලා සංසාර වට්ට දුකින් අත්මිදෙන්නාහ. එම නිසා මෙලෙස දැනගන්නා විපස්සනා ඤාණ සියල්ලම ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය සඳහා වන නියයාන නම් වේ. විපස්සනා ඤාණ නම් වූ මේ නියයානය මෙනෙහි කොට වැඩිය යුතුවේ.

පහළ වන්නා වූ රූප - නාමයන් මෙනෙහි නොකර ප්‍රමාදයට වැටී සිටින පුද්ගලයා එම රූප-නාමයන්, රූප-නාමයන් ලෙසටද නොදනී. හේතු ධර්ම නිසා පහළ වන ඵල රූප-නාම ධර්මයන් යැයිද නොදනී. අනිච්ච, දුක්ඛ, අනත්ත යැයිද නොදනී. පහළ වී සැණෙන් බිඳි යන්නේ යැයිද නොදනී.

දිගින් දිගට බිඳෙමින් පවතින්නේ යැයිද නොදනී. මෙලෙස නොදන්නා නිසා ප්‍රකටවම ඇති නමුත් මනසිකාරය නොපවත්වන බැවින් එම රූප-නාමයන් මත පුද්ගලයා, සත්ත්වයා, ආත්මය යැයිද. කෙනෙක් විසින් මවන ලද සත්ත්වයෙක් යැයිද, වරදවා ගනී. නිත්‍යය, සුඛය, ආත්මයය, යැයිද වරදවා ගනී. පහළ වීමක් බිඳී යෑමක් නැත. එක්කෙනෙක් එක ඝනයක් යැයිද, එකක් යැයිද, වරදවා ගනී. විනාශ වීමක්, වෙනස් වීමක් නැතිව සදාකාලික යැයි වැදරවා වටහා ගනී. මෙලෙස එම මොහොතෙහි නැවතී එම මොහොත පිළිබඳව මෙලෙස සලකා නොබැලුවත්, පසුව කල්පනා කොට එම වරදවා ගත් ස්වභාවය වශයෙන් වරදෙහි බැසගැනීම ඒකාන්ත නිසා. මනසිකාරය නොපවත්වන එම රූප - නාම මත එසේ වරදවා ගැනීම වන්නේ යැයි සලකා ගතයුතු වේ. දැනීම යනු ඤාණයයි. විද්‍යාවයි. එහි විරුද්ධ භාවය නම් වූ නොදැනීම යනු මෝහයයි. අවිද්‍යාවයි. දැනීමේ විරුද්ධ භාවය නොදැනීමයි. ඒ ලෙසම ඤාණය හා විද්‍යාව යන්නෙහි විරුද්ධ භාවය අඤ්ඤාණ හා අවිද්‍යාව වන්නේය. එම නිසා දක්වන ලද සියලුම නොදැනීම්ද, වරදවා වටහා ගැනීමද අවිද්‍යාව වන්නේය.

මේ අවිද්‍යාව වනාහි භාවනා නොකරන, මෙනෙහි නොකරන තැනැත්තන්ට අඛණ්ඩවම බාධාවක් නැතිව නිතර වැඩෙමින් පවතින්නේය. භාවනා වශයෙන් මෙනෙහි කරන්නාට ද එම ඤාණය ළාබාල තරුණ අවස්ථාවේදී නම් අවිද්‍යාව ටික ටික බලපාන්නේය. නැති නම් අවිද්‍යාව අනුවයමින් අවිද්‍යාව නියෝජනය කරමින්. සාමාන්‍ය (ලාමක) කුසල් සිත් වනාහි අවිද්‍යාව ලෙසට මුලින් මුලින් වරදවා වටහා ගැනීම් කරන්නේය. අවිද්‍යාවේ විරුද්ධ පැත්තේ ඇති දැනීම-ඤාණය වනාහි පමාවෙමින් පහළ වන්නේය. එබැවින් භාවනා ආරම්භයේදී මෙනෙහි කරන්නේ නමුදු රූප - නාම යැයි බෙදීමක් කළ නොහැකි සාමාන්‍ය දැක්මක් සේම-දැනීමක්සේම පෙනීයා හැක්කේය. ප්‍රඥප්ති අරමුණු වල සංඛාර - ඝන - නිමිති බිඳිය නොහැකිවම, පැවතිය හැක්කේය. ප්‍රඥප්ති අරමුණු සංඛාර - ඝන නිමිති බිඳිය නොහැකිවම ප්‍රකෘතියෙන්ම පැවතිය හැක්කේය. නිදසුන වශයෙන් දකින අවස්ථාවෙහි දැකීම වේවා රූපය වේවා මෙනෙහි කරනමුත් තත්ත්වාකාරයෙන් දැකීමට කලින් "මම දකින්නෙමි" යැයිද "අසවල්දේ දකින්නේ" යැයි ද වරදවා වටහා ගන්නා අවිද්‍යාව මුලින්ම පහළ විය

හැක්කේය. *අවිද්‍යාව මගින් දත නොහැකි ධර්ම යැයි කියන තැන නියම පරමාර්ථ ධර්මතාව දත නොහැකි වීම අදහස් කෙරේ.* සංඛාර-ඝන-නිමිත්ත යැයි කියන සාමාන්‍ය දැනීම අනුව යන ප්‍රඥප්ති වශයෙන් නම් වහා වහා දැනගත හැක්කේය. මෙලෙස අවිද්‍යාව හා එය අනුව යන සිත ප්‍රථමයෙන් පහළ වී වරදවා වටහා ගනිමින් ගනිමින්ම සිටින නිසා "අරමුණේ තත්ත්වාකාරය දැනගත නොහැකි වන ලෙසට අවිද්‍යාව වසාලමින් සිටින්නේ යැ"යි පොත්පත් වල දක්වේ. ද්වාර හය, අරමුණු හය, විඤ්ඤාණ හය ආදී කොට ඇති විපස්සනාවේ අරමුණු වන රූප - නාමයන් පහළ වන පහළ වන වාරයේ - ආරම්භයට අවිද්‍යාවම පහළ වී වරදවා වටහා ගැනීම දිගටම වන්නේ නම් තත්ත්වාකාරය දන්නා විපස්සනා ඤාණය නම් වූ නිය්‍යාන පහළ විය නොහැක්කේය. එම නිසා අවිද්‍යාව නිය්‍යානාවරණ නම් වේ.

## සම්පිණ්ඩනය

පහළ වන රූප-නාමයන්ට අනුව මෙනෙහි කිරීම **ඤාණ නිය්‍යාන** නම් වේ. මෙනෙහි කිරීමක් මෙනෙහි කිරීමක් පාසා එම නිය්‍යානයේ වැඩීමක් වන්නේය. මෙනෙහි නොකර ඒ වෙනුවට කල්පනා කිරීම **අවිද්‍යා නිය්‍යානාවරණ** නම් වේ. මෙනෙහි නොකිරීමක් පාසා "අමතක වීමක් ලෙසට හෝ සිතිවිල්ලක් ලෙසට හෝ මෙනෙහි කිරීමෙන් එම අවිද්‍යාව දුරු කළ යුතු වේ. අවිද්‍යාව අනුගමනය කරන සිතද මෙහිලා අවිද්‍යාව ලෙසටම සලකන්න.

# සත්තම නිය්‍යානය හා ආවරණය

**පාමොජ්ජං අරියානං නිය්‍යානං, තෙන ච පාමොජ්ජෙන අරියා නිය්‍යන්ති, අරති නිය්‍යානාවරණං, තාය ච අරතියා නිවුතත්තා පාමොජ්ජං අරියානං නිය්‍යානං නප්පජානාතීති අරති නිය්‍යානාවරණං**

**පාමොජ්ජං** = ප්‍රමෝදය, සතුට

**අරියානං නිය්‍යානං** = ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වූ ධර්මයයි.

**අරති** = භාවනා කටයුත්තෙහි නොඇලී, කලකිරී විසීම

**නිය්‍යානාවරණං** = විමුක්තිය පිණිස වූ නිය්‍යානය ආවරණය කරන්නේය. වසා දමන්නේය. (ඉතිරිය සඳහා යට දැක්වූ ක්‍රමයටම අර්ථ මතුකර ගන්න)

මහා ටීකාහි මෙම ප්‍රමෝද්‍යය ධ්‍යානය ලැබීම නිසා වූවකැයි දැක්වේ. අවස්ථාවට අනුව කරන දක්වීමකි. ඒ විපස්සනා සමාධිය ලැබීම සඳහා නොවී යැයි නොදක්වේ. මක්නිසාද යත් මෙම ප්‍රමෝදයෙන් පටන්ගෙන පීති- පස්සද්ධි -සුඛ-සමාධි- යථාභූත ඤාණයන් පහළ වීම සම්බන්ධව පාලියෙහිම කෙළින්ම දක්වන නිසාය. එම නිසා විපස්සනා සමාධියට සම්බන්ධ කොට ගැළපෙන ලෙසට මෙහිලා දක්වන්නෙමු.

මෙනෙහි කිරීමට පහසු, හොඳ අරමුණක් මත මෙනෙහි කරන කරන වාරයක් පාසා සතුට පහළ වේ. මේ සතුටට ප්‍රමෝදය යැයි කියනු ලැබේ. මේ ප්‍රමෝදයට අනුව මෙනෙහි කිරීම සතුටු දායක වේ. මේ සතුටු භාවය නම් වූ භාවනා රතිය නිසා ක්‍රමානුකූලව විපස්සනා ඤාණයන් වැඩීමෙන් ආර්යයන් වහන්සේලා සංසාර වට්ට දුකින් අත්මිදෙන්නාහ. එම නිසා ප්‍රමෝදය ආර්යයන් වහන්සේලාගේ නියාානය නම් වේ. මේ ප්‍රමෝදය මෘදු සිත් ඇත්තන්ට වනාහි පහළ වීම පහසුය. කල්පනා සිත බහුල වූද එසේම සිත රළු පුද්ගලයනටද පහළ වීම දුෂ්කරය. උපමාවක්:- ළමා ළපටියන් ශතයක් දෙකක් ලැබීමෙන් සතුටු වන නමුදු වැඩි හිටියන් එපමණකින් සතුටු නොවී රුපියල් දහයක්, සීයයක් ආදී ලෙසට ලැබීමෙන්ම සතුටට පත්වන්නාක් සේය. නමුදු කොතරම් දැඩි සිත් ඇත්තකුට වුවද උදයබ්බය ඤාණය පහළ වීමේ අවස්ථාවේ පටන් හොඳින් මෙනෙහි කරන අවස්ථාවේ මේ ප්‍රමෝදය පහළ විය හැක්කේය. එම නිසා ධම්මපදයෙහි මෙසේ දේශනා කරන ලදී.

**යතො යතො සමමසති - ඛන්ධානං උදයබබයං**
**ලභතෙ පීති පාමොජජං - අමතං තං විජානතං** [ඛු. නි. 1/116]

| | | |
|---|---|---|
| **යතො යතො** | = | ඒ ඒ රූප මත, නාම මත |
| **ඛන්ධානං උදයබබයං** | = | පඤ්චස්කන්ධයන්ගේ ඇතිවීම-නැතිවීම |
| **සමමසති** | = | සම්මර්ශනය කරයි |
| **තතො තතො** | = | ඒ ඒ සම්මර්ශනය කරන රූප - නාමයන් මත |
| **පීති පාමොජ්ජං** | = | ප්‍රීතිය ප්‍රමෝදය |
| **ලභතෙ** | = | ලබන්නේය |
| **තං** | = | ඒ ප්‍රීති, ප්‍රමෝදය |

**විජානතං** = උදයබ්බය දන්නා විපස්සනා යෝගීන්ගේ

**අමතං** = අමරණීය වූ නිවනට ඒකාන්තයෙන් යෑමට හේතු වන නිසා උතුම් නිවනම වන්නේය.

එම නිසා පස්වන පරිච්ඡේදයෙහි දක්වන ලෙසට මෙනෙහි කරන යෝගී හට සති-සමාධි-ප්‍රඥා මුහුකුරා ගිය විට මේ ප්‍රමෝදය ඉබේම ප්‍රකට වනු ඇත්තේය. එම නිසා එය සඳහාම කළයුතු වෙනම භාවනාවක් නැත්තේය. නමුදු මෙනෙහි කිරීම සාර්ථක නොවන අවස්ථාවේදී කුසීත බව පහළ වන්නේ නම් තිසරණ ගුණ, විපස්සනාවේ ආනිශංස, භාවනාරම්භයේ සිට සීලයේ විශේෂ පිරිසිදු බව, මෙනෙහි කරන සිතේ කෙලෙස් දුරුවී පිවිතුරු වන, උතුම් වන බව ආදියට සිත යොමා ප්‍රමෝදය පහළ කරගත යුතුවේ.

විපස්සනා කටයුත්තේ අලස බව අරති නම් වේ. මේ කුසීත බව ආවරණය කරන, බාධා කරන ධර්‍මයක් නිසා විපස්සනා භාවනාවේ උත්සාහ නොකරන්නවුන් බොහෝමය. භාවනා කරන්නට හැකි පුද්ගලයන් වනාහි ඉතා අඩු බව විශේෂයෙන් කිවයුතු නොවේ. දුකම වැළඳිම, දුකෙහි ගැලීම සම්බන්ධයෙන් ලෝක සත්ත්වයනට ආදීනව වැටහීමක් හෝ හැඟීමක් හෝ නැත්තේමය. එම නිසා ධම්මපදයෙහිලා මෙසේ දේශනා කළ සේක.

**අන්‍ධභූතො අයං ලොකො - තනුකෙත්ථ විපස්සති**

**සකුණො ජාල මුත්තොව - අප්පො සග්ගාය ගච්ඡති** [ඛු. නි. 1/68]

**අයං ලොකො** = මේ ලෝක සත්ත්වයා

**අන්‍ධ භූතො** = සංසාර භය පෙරාතුව දක්නා ඥාණය, විපස්සනා ඥාණය ආදී නුවණැස අන්‍ධ වීමෙන්, ප්‍රකෘති ඇස අන්‍ධ නැතත් අන්‍ධ වූ සේ වන්නේය.

**එත්ථ** = අන්‍ධයන්සේ වන්නා වූ මෙවැනි පුද්ගලයන්

**තනුකො** = ඉතා කුඩා ප්‍රමාණයකටම

**විපස්සති** = විපස්සනා වශයෙන් භාවනා කළ හැක්කේය.

**ජාලමුත්තො** = දැලෙන් මිදීයන

**සකුණො** = පක්ෂීන්

**අප්පො ඉව** = ප්‍රමාණයෙන් අල්ප වන්නා සේ

**අප්පො** = අල්ප වූ, කීමට තරම් නොවන්නා වූ ප්‍රමාණයකට පමණක්

**සගගාය** = සුගතියට, නිවනට

**ගචඡති** = යාගත හැක්කේය. (**සුගතිංවා නිබ්බානං වා පාපුණාති** අර්ථයයි)

කුඩා ප්‍රමාණයක් වූ භාවනා කරන්නන් අතර සමහර මෙනෙහි කිරීම සාර්ථක නොවන කාලයන්හී ද, විශේෂ ඥාණයන්ට පත් නොවන කාලයන්හී ද මේ කුසීත කම පහළ විය හැක්කේය. කුසීත වූ විට භාවනාවෙහි සතුට දුරුවී යා හැක්කේය. දිගට භාවනා කළ නොහැකි බවද විය හැක්කේය. භාවනා නොකළ හොත් සංසාර වට්ට දුකින් අත්මිදිය නොහැක්කේය. එම නිසා විපස්සනා වැඩිමෙහි කුසීත වීම නියයානාවරණ නම් වේ. මේ කුසීත බව පහළ වී නම් දක්වූ ලෙසට තෙරුවන් ගුණ ආදියට සිත යොදා එය බැහැර කළයුතු වේ. අෂ්ඨ සංවේග වස්තු සහිත ගාථා සලකා බලා හෝ බැහැර කළ යුතු වේ. පහළ වන පහළ වන අවස්ථාවේ එය මෙනෙහි කොට දුරු කළ යුතු වේ.

## අටඨමක නියයානය හා ආවරණය

**සබ්බපි කුසලා ධම්මා අරියානං නියයානං, තෙහි ච කුසලෙහි ධම්මෙහි අරියා නියයානති, සබ්බපි අකුසලා ධම්මා නියයානාවරණං තෙහිච අකුසලෙහි ධම්මෙහි නිවුතතතා කුසලෙ ධම්මෙ අරියානං නියයානං නපපජානාතීති සබ්බපි අකුසලා ධම්මා නියයානාවරණං**

**සබ්බපි කුසලා ධම්මා** = සියලු කුසල ධර්මයෝ ද

**අරියානං නියයානං** = ආර්යන් වහන්සේලාගේ විමුක්තිය පිණිස වන ධර්ම වෙත්

**ච** = නියයාන වීමට හේතු වනාහි

**තෙහි කුසලෙහි ධම්මෙහි** = එම කුසල ධර්මයන් මාර්ගයෙන්

**අරියා** = ආර්යන් වහන්සේලා

**නියයනති** = දුකින් අත්මිදෙත්. නික්මෙත්

**සබ්බපි අකුසලා ධම්මා** = සියලු අකුසල ධර්මයෝ ද

**නියයානාවරණං** = අත්මිදීම සඳහා වන නියයාන ආවරණය කරත් බාධා කරත්

| | | |
|---|---|---|
| **ච** | = | නියයානාවරණ වීමට හේතුව වනාහි |
| **තෙහි අකුසලෙහි ධමෙමහි** | = | එම අකුසල ධර්මයන්ගෙන් |
| **නිවුනතතා** | = | ආවරණය කරන, බාධා කරන නිසා |
| **කුසලෙ ධමෙම අරියානං නියයානං** | = | කුසල් නම් වූ ආර්යන් වහන්සේලාගේ අත්මිදීම පිණිස වන ධර්ම |
| **නපපජානාති** | = | නොදන්නේය |
| **ඉති** | = | මේ නිසා |
| **සබෙබපි අකුසලා ධමමා** | = | සියලු අකුසල් ධර්මයෝ ද |
| **නියයානාවරණං** | = | අත්මිදීම සඳහා වන නියයානය ආවරණය කරත් , බාධා කරත් නම් වේ |

දාන - සීල - භාවනා -වෙයයාවච්ච ආදීකොට ඇති සියලු කුසල ධර්ම වනාහි ආර්යන් වහන්සේලාට සසරින් අත්මිදීම පිණිස වන ධර්මයෝයි. **සබෙබපි** යන තැන "පි" ශබ්දය මගින් සියලුම වර්ගවල කුසල් ඇතුළත් කොට ඇත. කුමන කුසලයක් නමුත් අත්මිදීම සඳහා උපකාර නොවන්නේ නොවේ. **සමමා පණීහිතං චිතතං, සමමා පණිහිතාය දිටඨියා** යන දේශනාවට අනුව සංසාර වට්ට දුකින් අත්මිදීමේ අරමුණ කෙළින්ම ඉදිරිපත් කරගෙන කටයුතු කරන්නේ සියල්ල අත්මිදීම සඳහා වන්නේ යැයි අර්ථයයි. ඒ කෙසේද යත්; තමාගේ සන්තානයේ පහළ වූ , තමා සිද්ධ කළ මේ ආකාර සියලු කුසල් මගින් ආර්යන් වහන්සේලා නිවන ඇස්පනාපිට අත්දැක වට්ට දුකින් අත්මිදුන නිසාය. එම නිසා වට්ට දුකින් අත්මිදුන පුද්ගලයා අත්මිදීම ඉදිරිපත් කරගෙන දාන-සීල-භාවනා-වෙයයාවච්ච යනාදි සියලු කුසල කර්මයන් හැකිතාක් දුරට උත්සාහයෙන් සිද්ධ කළ යුතු, වැඩිය යුතු. නොකළ යුතු නොවැඩිය යුතු කුසල් යැයි කිව හැකි කිසිත් නැත්තේය.

නමුදු විපස්සනා කටයුත්ත දිවා රාත්‍රි අඛණ්ඩව භාවනා කරන කාල සීමාව තුළ වැඩෙන විපස්සනා කුසලය පමණක් අත්මිදීම පිණිස වන ධර්මය යැයි සලකා ගතයුතුය. එම නිසා විපස්සනාවටම ගරු කටයුතුය. විනාඩි තත්පර ගණිනිනුදු අතරක් නොතබා විපස්සනා වැඩිය යුතු වේ. මක්නිසාද

යත්; ලෞකික කුසල් අතරින් විපස්සනාව උතුම් ම කුසලය වේ. එම විපස්සනා ඥාණයන් අතින් සම්පූර්ණ වීමත් හා සමගම මාර්ග ඥාණය මගින් නිවන අරමුණු කොට අත්මිදීම සිදු කරන නිසායැ. එම නිසා මෙලෙස කෙළින්ම පූර්ණකාලීනව භාවනාවෙහි යෙදී ගතකරන කාලයෙහි විපස්සනා කටයුත්ත ඉවත ලා අනෙකුත් සාමාන්‍ය කුසල් කිරීම නොවටී. අඩුතරමින් සමථ කුසල් සඳහා හෝ උත්සාහ කිරීම අවශ්‍ය නැත. විපස්සනාවට බොහෝ සේ බාධා කරන, පළිබෝධ කරවූ කුසල් කටයුතු වල නියැලී ගත නොකළ යුතු බවට අමුතුවෙන් කිවයුත්තක් නැත. මේ අර්ථය ධම්මපදයෙහි ලා එන පහත සඳහන් අත්තදත්ථ මහා ථෙර වස්තුව ආශ්‍රයෙන් දත යුතුවේ.

## ස්වාර්ථය පමණක් බලන්න

බුදුරජාණන් වහන්සේගේ මහා පරිනිර්වාණය ආසන්නයේ භික්ෂූන් වහන්සේ නමක් මෙසේ "සිවු මසක් තුළ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පානු ඇත. මම ද වනාහි තවම ශ්‍රමණ කෘත්‍යය සම්පූර්ණ නොකළෙක්මි. බුදුරජානන් වහන්සේ ජීවමාන කාලයෙහිම ශ්‍රමණ කෘත්‍යය සම්පූර්ණ කරන්නේ නම් කොතරම් අගනේ ද"යි කල්පනා කොට ස්ව අර්ථ සිද්ධිය පිණිස වන භාවනා කටයුත්තේම නියැලී ගත කළේය. සංඝ සමාගමට නොවැඩම භාවනාව කරන්නේය. එම නිසා එම භික්ෂූවට අත්තදත්ථ නම් නමක් විය. එනම් ස්ව අර්ථ සිද්ධිය පමණක් සලකන්නා යනුයි. එම අවස්ථාවේ සමහර පෘථජ්ජන භික්ෂූන් වහන්සේලා මේ ගැන අමනාප වී බුදුරජාණන් වහන්සේට මෙසේ පැමිණිලි කළාහුය. "භාග්‍යවතුන් වහන්ස, අත්තදත්ථ භික්ෂුව ඔබ වහන්සේට ගෞරව නොකරයි. මෛත්‍රී-කරුණා නොමැත්තෙකි. ඔහු ඔබ වහන්සේගේ පරිනිර්වාණ කටයුත්ත සම්බන්ධ වූ සංඝ රැස්වීමටද නොවැඩියේය. ඉතාමත් නොසැලකිලිමත් ලෙස ගත කරයි." යනුයි. එම අවස්ථාවේ බුදුරාජණන් වහන්සේ එම අත්තදත්ථ භික්ෂුව ගෙන්වා ප්‍රශ්ණ කොට ඇත්ත ඇති සැටියෙන් අසා දැන, සාධුකාර දී භික්ෂූන් වහන්සේලාට අවවාද අනුශාසනා කළ ආකාරය ධම්මපදට්ඨ කථා (2/423) හි මෙලෙස දැක්වේ.

**සත්ථා තස්ස සාධුකාරං කත්වා භික්ඛවෙ යස්සමයි සිනෙහො අත්ථි, තෙන අත්තදත්ථ ථෙරෙන විය භවිතුං වට්ටති. නහි භික්ඛවෙ ගන්ධාදීහි පූජෙන්තා මං පූජෙන්ති, ධම්මානුධම්ම පටිපත්තියා පන මං පූජෙන්ති. තස්මා අඤ්ඤෙනපි අත්ත දත්ථ සදිසෙනෙව භවිතබ්බන්ති.**

## සිංහල අර්ථය

බුදුරජාණන් වහන්සේ එම අත්තදත්ථ ස්වාමීන් වහන්සේට සාධුකාර දී, මහණෙනි! නුඹලා මා කෙරෙහි සෙනේහසක් ඇත්තාහු නම් අත්තදත්ථ භික්ෂුව මෙන් කටයුතු කරනු වටී. මහණෙනි! ඇත්ත වශයෙන් කිවහොත් සුවඳ දුම් ආදියෙන් පූජා පවත්වන්නන් තමන් වහන්සේට පූජා පවත්වන්නන් නොවෙති. ලොකුත්තර ධර්මයන්ට ගැළපෙන පරිදි ප්‍රතිපත්ති පූජාවෙන් පූජාකිරීමම මා හට පූජා කිරීම නම් වේ. එම නිසා අනෙක් ඇත්තන්ද අත්තදත්ථ භික්ෂුව මෙන් කටයුතු කළයුතු වේ යැයි අවවාද කළ සේක. තවදුරටත් පහත සඳහන් ගාථාවද දේශනා කළ සේක.

**අතතදත්‍ථං පරත්‍ථෙන - බහුනාපි න හාපයෙ,**
**අතතදත්‍ථංමභිඤ්ඤාය - සදත්‍ථ පසුතො සියා,** [ඛු. නි. 66]

| | | |
|---|---|---|
| **අතත දත්‍ථ** | = | ස්ව අර්ථ සිද්ධිය |
| **පරත්‍ථෙන බහුනාපි** | = | අන්‍යයන්ට බොහෝ ප්‍රතිඵල ලබාදෙන කටයුතු හමුවෙහි වුව ද |
| **න හාපයෙ** | = | පිරිහීමට ඉඩ නොතැබිය යුතු |
| **අතත දත්‍ථං අභිඤ්ඤාය** | = | ස්ව අර්ථසිද්ධිය විශේෂ ඥාණයෙන් දැන |
| **සදත්‍ථ පසුතො** | = | ස්ව අර්ථය වැඩීමෙහි යෙදුනෙක් |
| **සියා** | = | විය යුත්තේය. (වන්නේය) |

## අර්ථය

ලෞකීය අර්ථයෙන් අනුනට රුපියල් සිය දහස් ගණනින් ප්‍රයෝජන ගෙන දිය හැකි කටයුත්තකින් වුව ද ස්ව අර්ථ සිද්ධියට සතයකුදු, රුපියලකුදු තරම් හෝ පිරිහීමක් සිදුකරයි නම් එය අනුව යා යුතු නොවේ. ධර්මය පැත්තෙන් දක්වතොත් අනුනට අර්හත් ඵලය දක්වා වුව ද ඵල ගෙනදිය හැකි කටයුත්තක් වෙනුවෙන් තම අත්‍ථ කුසලය අතින් සෝවාන් බවට පත්වීම තරම් වූ දෙයක් හෝ කැප නොකරන්නේය. තමාලත් කුඩා වුව ද ඵලයක් තරම් වෙන කිසිවක් තමා කැමැති පරිදි සුඛය සඳහා නොපවත්නේය. එම නිසා ස්ව අත්‍ථ කුසලය වටහා ගත්තේ නම් එම කටයුත්ත අතරක් නොතබා වැඩිය යුතු බව කියැවේ. තම කටයුතු අතර වුව ද උත්තම කටයුත්ත

වශයෙන් සලකා උත්සාහයෙන් භාවනා කරන විට එය බැහැර කොට ඊට වඩා ලාමක කටයුතු සඳහා උත්සාහ නොකළ යුතු. උපමාඃ- දිනකට රුපියල් 100ක් ලබන කටයුත්තක් කරන කෙනෙක් එම කටයුත්ත බහා තබා දිනකට රුපියලක් පමණක් ලැබිය හැකි කටයුත්තක් නොකළ යුතුවාක් මෙනි.

එම නිසා අට්ඨ කථාවෙහි මෙලෙස දැක්වේ.

**අත්තදත්ථං න භපයෙති භික්ඛුනා නාම සංඝස්ස උප්පන්නං චෙතියපප-විසංඛාරණාදි කිච්චං වා, උපජ්ඣායාදි වත්තං වා, න භජෙතබ්බං. ආභිසමාචාරික වත්තඤ්හි පූරෙනෙතා යෙව අරිය ඵලාදීනි සච්ඡිකරොති. තස්මා අයම්පි අත්ත දත්ථො යෙව. යො පන අච්චාරද්ධ විපස්සකො අජ්ජ වා, සුවෙ වා පටිවෙධං පත්ථයමානො විචරති. තෙන උපජ්ඣායාවත්තාදීනිපි භාපෙත්වා අත්තනො කිච්ච මෙව කාතබ්බං**

පරිවර්තනය

**"අත්තදත්ථං න භාපයෙ"** යැයි කියන තැන භික්ෂුව විනාහි සංඝයාට ඉදිරිපත් වන චෛත්‍ය ප්‍රතිසංස්කරණ ආදී කටයුතු ද, උපාධ්‍යායන් වහන්සේලා විෂයෙහි සැපයිය යුතු වත් පිළිවෙත්ද, නොමඳව සැලසිය යුත්තේමය. මක්නිසාදයත් අභිසමාචාරික වත සම්පූර්ණ කිරීමෙන් ආර්ය ඵල ආදිය මෙලොව වශයෙන්ම සාක්ෂාත් කරගත හැකි නිසාය. එම නිසා චෛත්‍යය ප්‍රතිසංස්කරණ ආදී සංඝ කටයුතු සහ උපාධ්‍යාය ආදීන්ට වත් සැපයීමේ ආදිය තමාගේම කටයුතුමය. නමුදු එම භික්ෂුව ඉතා දැඩි ලෙස විපස්සනා භාවනාවෙහි යෙදෙන්නේද "අද හෝ වේවා. හෙට හෝ වේවා මාර්ග ඵල - නිවන සාක්ෂාත් කරමි" යැයි අපේක්ෂා ඇත්තේද එවැනි භික්ෂුවක් උපාධ්‍යාය වත් ආදියද නොසපයා තමාගේ කටයුත්ත වන විපස්සනාවම වැඩිය යුතු වේ.

ඉහත දැක්වූ අට්ඨ කථාවෙහි **උපජ්ඣායාදීනිපි** යන තැන **සම්භාවනා-ජොතක** පි - ශබ්දය ව්‍යාකරණ වශයෙන් මෙවන් අර්ථයක් දක්වයි. උපාධ්‍යාය වත ආදිය සද්ධිවිහාරික ශිෂ්‍ය භික්ෂුව වෙතද, සද්ධිවිහාරිකයා විසින් දැක් විය යුතුවත් උපාධ්‍යායන් වහන්සේ වෙතද ආදී කොට ඇති සියලු භික්ෂූන් වෙත අත්නොහැර සැපයිය යුතුවත් නොසපයන්නේ නම් වත්තභෙද දුක්කට ආපත්තියට වැටේ. ප්‍රාතිමෝක්ෂ සීලය බිඳී යයි, ස්වර්ග හා මාර්ග යන සම්පත් දෙකම අතින් පිරිහේ. මෙතරම් වැදගත් වූ උපාධ්‍යාය වත ආදිය පවා නොසපයා විපස්සනාව පමණක් භාවනා කළයුතු වේ. එසේ ආපත්තින්ට

තරම්වත් වැදගත් නොවන චෛත්‍ය ප්‍රතිසංස්කරණ ආදී සංඝ කටයුතු නොසලකා විපස්සනාව පමණක් වැඩීම සම්බන්ධව අමුතුවෙන් කිව යුත්තක් නැත. මෙහිලා උපාධ්‍යාය වත ආදිය නොසපයා ආරද්ධ වීර්‍ය්‍යයෙන් දැඩි ලෙස විපස්සනා වඩන භික්‍ෂුව උපාධ්‍යායන් ආදීන්ගෙන් අවසර ලබා ගෙනම භාවනා කළයුතු වේ. එවිටම ආපත්තීන්ගෙන් ද නිදහස් වේ.

## පරිනිර්වාණයට ආසන්න අවවාද

බුදුරජාණන් වහන්සේ කුසිනාරා නුවර මල්ල රජදරුවන්ගේ (උපවත්තන නම්) සල් වනයෙහි පරිනිර්වාණයට ආසන්නව පරිනිර්වාන මංචකයෙහි වැතිරගෙන අවසාන වචනය දේශනා කිරීමට සූදානම් වන අවස්ථාවේ දස දහසක් සක්වළ දෙවියන් බ්‍රහ්මයන් රැස්වී මේ සක්වළ අතරක් නොතබා හාත්පස පිරිතිරී ගොස් අවසාන පූජාව ලෙස වන්දන මානන කළාහුය. බොහෝ සුවඳ, වර්ණ මල්, විවිධ තූර්‍ය්‍ය වාදන මඟින් පූජා පැවැත්වූහ. එම පූජා උත්සවය සම්බන්ධයෙන් මෙසේ අනුශාසනා කළ සේක.

## උතුම් පූජාව

**න බො ආනන්ද එත්තාවතා තථාගතො සක්කතො වා හොති ගරුකතො වා මානිතො වා පූජිතො වා අපචිතො වා, යො බො ආනන්ද භික්ඛු වා භික්ඛුණී වා උපාසකො වා උපාසිකාවා ධම්මානුධම්මපටිපන්නො විහරති සාමීචිපටිපන්නො අනුධම්මචාරී, සො තථාගතං සක්කරොති ගරුකරොති මානෙති පූජෙති අපචියති පරමාය පූජාය. තස්මාතිහානන්ද ධම්මානුධම්මපටිපන්නා විහරිස්සාම සාමීචිපටිපන්නා අනුධම්මචාරිනොති, එවඤ්හි වො ආනන්ද සික්ඛිතබ්බං** [දී. නි. 2/214]

## සිංහල තේරුම

ආනන්දයෙනි! සුවඳ- මල් -තූර්‍ය්‍ය නාද ආදී විවිධ පූජා උපහාර පැවැත්වීම් වශයෙන් මේ කරන දේවලින් දෙවි මිනිසුන් මා වෙත සත්කාර කිරීම නොවන්නේය. පූජා කිරීම්, ගරු කිරීම, උතුම් කොට සැලකීම නොවන්නේය. ආනන්දය, භික්‍ෂුවක් වේවා, භික්‍ෂුණියක් වේවා, උපාසකයකු වේවා, උපාසිකාවක වේවා මාර්ග - ඵල - නිවන් හා අනුයාත ප්‍රතිපදාවක පිළිවෙත් පුරමින් සිටීද එවැනි කෙනා මා වෙත සත්කාර කරනවා වන්නේය ගරුකිරීම, උතුම් කොට සැලකීම කරනවා වන්නේය. උතුම් පූජා මඟින් පූජා කරනවා වන්නේය. පරම පූජාවෙන් සලකනවා වන්නේය. ආනන්දය එම

නිසා මාර්ගඵල - නිවන් හා අනුයාත ප්‍රතිපදාව ම පිළිපදින්නෙමියි තොප විසින් හික්මිය යුත්තාහ.

බුදුරජාණන් වහන්සේට පූජා කිරීම්, වන්දනා කිරීම් විවිධ සුවඳ-මල් වලින් පූජා කිරීම කුසල ධර්මයන් වන්නේය. ආර්යයන් වහන්සේලාගේ විමුක්තිය පිණිස පවතී, නමුත් මෙවැනි පූජා වන්දනා මගින් බුද්ධ පූජාව නොවන්නේ යැයි අනුශාසනා කිරීම සම්බන්ධව අට්ඨ කථාහි මෙසේ විවරණය කරයි. සාරාසංඛ්‍ය කල්ප ලක්‍ෂ කාලයක් **පාරමී චරියා චාග** යන මේවා ඉතා දුෂ්කර ලෙස සම්පාදනය කොට බුදුවීම දෙව් මිනිසුන්ට මාර්ග-ඵල-නිවන් වහා වර්තමානව ලබාදීම සඳහාම වන්නේය. සුවඳ මල් ආදිය මඟින් පූජා සත්කාර ලබා ගැනීම පිණිස නොවේ. මෙවැනි පූජා සත්කාර මඟින් උසස් කුසලයක් කළේ යැයි සතුටු වී උතුම් වූ උසස් වූ සීල, සමථ, විපස්සනා කුසල් නම් වන නියාානයන් නොවඩා, භාවනා නොකර සිටින්නේ නම් මේ භවයේදී මාර්ග-ඵල-නිවන් ලැබිය නොහැක්කේය. සංසාර වට්ට දුකින්ද අත්මිදිය නොහැක්කේය. එපමණකුදු නොවේ මෙලෙස වූ පූජාවන් මඟින් දිනකට වරක් කෙරෙන කැඳ වළඳින තරම් වත් කාලයක් ශාසනය වැඩිපුර කල් නොපැවැත්විය හැක්කේය. විශාල විහාර දහසක්, චෛත්‍යය දහසක් ගොඩ නැගීම, පිහිටුවීමද දායකයනට මහත් ඵල මහානිශංස ගෙනදෙන කුසල්ම වේ. ශාසනය දිගු කල් පවත්වන ආකාරයේ පූජා උත්සව නොවේ. සීල - සමාධි - විපස්සනා යන ප්‍රතිපත්ති පිළිවෙත් පිරීම මඟින් පමණක් බුදුරජාණන් වහන්සේට ගැළපෙන බුද්ධ පූජාවන් කළා වන්නේය. ශාසනයේ තහවුරු බව කාලයක් පැවැතීමට හේතු විය හැක්කේය. එම නිසා පිළිවෙත් පිරීම මඟින් පූජා පැවැත්වීම ගරු කටයුතු පූජාවක් වන බව ඉහත සඳහන් අනුශාසනාවට අනුව දේශනා කළ සේක. මෙය වනාහි අට්ඨකථාහි දැක්වෙන පොදු අදහසයි. පදයෙන් පදය පරිවර්තනයක් නොවේ.

මජ්ඣිම නිකාය මූල පණ්ණාසයෙහි ධම්මදායාද සූත්‍රයෙහිද පහත සඳහන් ලෙසට අනුශාසනා කොට ඇත්තේය.

**ධම්ම දායාදා මෙ භික්ඛවෙ භවථ මා ආමිස දායාද, අත්ථි මෙ තුම්හෙසු අනුකම්පා "කින්ති මෙ සාවකා ධම්ම දායාදා භවෙය්‍යුං, නො ආමිස දායාදා"ති**

[ම. නි. 1/30]

භික්ෂූනි! තොප මගේ උතුම් ධම්ම දායාදය ලැබගන්නා පිරිස වහු.

ලාබාල වූ ලාමක ආමිස දායාදය ලබන පුද්ගලයන් නොවහු. "මාගේ ශ්‍රාවකයන් ධර්මයට දායාදයට වන්නාහුද ආමිසයට දායාද නොවන්නාහු දැයි" තොප කෙරෙහි මාගේ අනුකම්පාව ඇත්තේය.

තේරුම

බුදුරජාණන් වහන්සේ විසින් අනුදැන වදාරණ ලද චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලාන ප්‍රත්‍යය යන මේවා ලාමක වූ ආමිස දායාදය නම් වේ. මෙම ප්‍රත්‍යය ලබා පරිභෝග කොට සතුටට පත්වන්නා **ආමිස දායාදා** = ලාමක දායාදය ලබන්නෙකි. භව සම්පත්ති ආසාවෙන් යුක්තව සිදුකරන ලද කුසල් සියල්ලද ලාමක ආමිස දායාද ස්වරූපයෝය. මෙලෙස කුසල් සිදුකිරීමෙන් සතුටට පත්වී සිටින භික්ෂු, සාමණේර, උපාසක, උපාසිකාවන් ලාමක ආමිස දායාදය ලබන්නන් හෙවත් ලාමක දායාදය ලබන්නෝය. ලබාගත් දුර්ලභ වූ බුද්ධ ශාසනයෙහි උතුම් අවස්ථාව ලැබ එම ලාමක වූ ආමිස දායාදය පමණක් ලබන්නාහු සංසාර වට්ට දුකින් අත්නොමිදෙන්නාහුය. මහත්වූ සංසාර වට්ට දුක් සැමදාම ලබමින් ගතකරනු ඇත්තාහයි දකිමින් බුදුරජාණන් වහන්සේ අනුකම්පාවට පත්වූ සේක. තම දයාබර දූ-දරුවන් මහත් දුකට පත්වනු දැක අනුකම්පාවට පත්වන, දයාලු බවට පත්වන දෙමාපියන් මෙනි. එම නිසා ලාමක වූ ආමිස දායාදය පමණක් ලැබ සතුටු නොවන ලෙස බුදුරජාණන් වහන්සේ අනුශාසනා කළ සේක. මාර්ග-ඵල-නිර්වාණ යනු නියම ධර්ම දායාදය වන්නේය. එම මාර්ග-ඵල-නිර්වාන සඳහා හේතු කාරක වන ප්‍රතිපත්තියෙන් වෙන් නොවන නිසා මේ භවයේ දීම මාර්ග-ඵල-නිර්වාණයට පත්වීම සඳහා වන සීල-සමාධි-විපස්සනා යන මේවා අවිනාභාව ක්‍රමයෙන් නියම දායාදය නම් වේ. නිවන අරමුණු කොට සිදු කරන දාන-සීල ආදී සියලු කුසල් ද ධර්ම දායාද ස්වරූපයෝම වෙත්. මක් නිසාද යත්: එවැනි කුසල් මඟින් පසු භවයක මාර්ග-ඵල-නිර්වාණය කරා ළඟාවිය හැකි වන නිසාය. මෙම නියම ධර්ම දායාදයන් ද ලැබීම සඳහා උත්සාහවත් විය යුතු වේ. මේ දෙක තුළින්ද නියම ධර්ම දායාදය වන්නාවූ මාර්ග-ඵල-නිර්වාණ මේ භවයේදීම ලබාගැනීම සඳහා නියම හේතු ධර්ම දායාදය වන්නාවූ ශීල-සමාධි-විපස්සනා භාවනා වැඩීම මෙයින් අදහස් කෙරේ. මෙහිලා මේ භවයෙහි දී මාර්ග-ඵල-නිර්වාණ සාක්‍ෂාත් කරගැනීම සඳහා භාවනා කිරීම මෙහිලා වඩාත් අදහස් කළ බව පොඨිල මහාතෙරුන්

වහන්සේට කළ අනුශාසනාවෙන් ප්‍රකට වේ. එම කථා ප්‍රවෘතිය මතු සතරවන පරිච්ඡේදයෙහි දක්වන්නෙමු.

බුදුරජාණන් වහන්සේගේ උතුම් අපේක්ෂාව

මේ පමණක් නොව බුදුරජාණන් වහන්සේගේ අපේක්ෂාව ඉතා උතුම් වේ. මේ භවයෙහි එක මාර්ගයක් - ඵලයක් ලැබීමෙන් සතුටට පත් නොවූ සේක. අර්හත් ඵලය ලබනතෙක් උත්සාහ කිරීමෙන් පමණක් සතුටට පත් වූ සේක. එම නිසා ධම්මපදයෙහි ලා මෙසේ දේශනා කළ සේක.

**න සීලබ්බතමත්තෙන - බාහු සච්චේන වා පන**
**අථවා සමාධි ලාභෙන - විවිත්ත සයනෙන වා**

**ඵුසාමි නෙක්ඛම්ම සුඛං - අපුථුජ්ජන සෙවිතං**
**භික්ඛු විස්සාසමාපාදි - අප්පත්තො ආසවක්ඛයං** [ඛු. නි. 1/92]

| | | |
|---|---|---|
| **භික්ඛු** | = | මහණෙනි, |
| **ත්වං** | = | තොප |
| **ආසවක්ඛයං අප්පත්තො** | = | අර්හත් ඵලයට පත් නොවී |
| **සීලබ්බතමත්තෙන න** | = | සීලය පිරිසිදු කිරීම, ධූතාංග ආරක්ෂා කිරීම මාත්‍රයෙන් |
| **විස්සාසං න ආපාදි** | = | විශ්වාසී ලෙස, බලාසිටිය යුතු නොවේ. |
| **බාහුසච්චේන වා පන** | = | මුළු ත්‍රිපිටකය දරණ තරමට පළල් වූ බහුශ්‍රැත තාවයෙන් යුතුව නමුත් |
| **විස්සාසං න අපාදි** | = | විශ්වාසී ලෙස අනුත්සුකව නොවිසිය යුතු |
| **අථවා සමාධි ලාභෙන** | = | ධ්‍යාන සමාපත්ති අට ලැබීමෙන් ද |
| **විස්සාසං න ආපාදි** | = | විශ්වාසී ලෙස නොවිසිය මනාය |
| **විවිත්ත සයනෙනවා** | = | විවේකී වූ ආරණ්‍ය වාසයෙන් ද |
| **විස්සාසං න ආපාදි** | = | විශ්වාසී ලෙස නොවිසිය මනාය |
| **අපුථුජ්ජන සෙවිතං** | = | පෘථග්ජනයන් සේවනය නොකළ |
| **නෙක්ඛම්මං සුඛං** | = | අනාගාමී ඵල සුඛය |
| **පස්සාමි** | = | දකින්නෙමි, ළඟා වුණේ මියැයිද |
| **විස්සාසං න ආපාදි** | = | විශ්වාසී ලෙස නොවිසුව මනාය |

("මා භායි" යනාදි තන්හී ලෙස "මා" ශබ්දය යෙදෙන සම්ප්‍රදායක්

ඇති නිසා මෙවැනි ස්ථානවල මා සිලබබතමනෙතන යැයි යෙදේ නම් වඩාත් ගැළපේ.)

සීලය ආදිය අතින් සම්පූර්ණ භික්‍ෂූන් වහන්සේට අවවාද පිණිස කරන අනුශාසනාවකි. එම භික්‍ෂූන් වහන්සේලාගෙන් සමහරෙක් "අපි සීලය අතින් පිරිසිදු වම්හ. කුමන අවස්ථාවක හෝ රහත් විය හැක්කේ යැ"යි සලකා ගෙන භාවනා නොකොට සැහැල්ලුවෙන් කාලය ගත කරන්නාහ. සමහරෙක් "අපි ධූතාංගධාරි වම්හයි. අපි සමාපත්ති අට අතින් සම්පූර්ණ වූවමෝයි අපි නගරයෙන්, ගමෙන්, ඈත් වූ ආරණ්‍ය සේනාසන වල වසන්නෙමු"යි රහත් වීමට දුෂ්කර නැතැයි සලකාගෙන හෝ විපස්සනා නොවඩාම පහසුවෙන් වෙසෙත්. අනාගාමි ස්වාමීන් වහන්සේද" අප වනාහි අනාගාමී ඵලයට පත්වූවම්හ. ඕනෑම වේලාවක රහත් ඵලයට පත්වීමට කිසියම් දුෂ්කරතාවක් නැතැයි" සලකා ගත හොත් අර්හත් ඵලය සඳහා මත්තෙහි විපස්සනා නොවඩා අනුත්සුකව වසත්. එවැනි භික්‍ෂූන් වහන්සේලාට දේශනා කළ අනුශාසනා ගාථාවකි. නිසැකවම රහත් ඵලයට නොපැමිණ පහසුවෙන් විසීම නොකටයුතුය. රහත් බව දක්වාම නොනවත්වා අතරක් නොතබා උත්සාහ කළ යුතුයි කියැවේ. බුදුරජාණන් වහන්සේගේ උතුම් අජ්ඣාසය ගෙන හැර දැක්වීමකි.

දක්වන ලද බුද්ධ වචන වලට අනුව විපස්සනා කටයුත්ත වනාහි කටයුතු අතර උත්තම කටයුත්තයි. විපස්සනා වඩන්නා බුදුරජාණන් වහන්සේට උතුම්ම ක්‍රමයට පූජා කරන ගෞරව කරන පුද්ගලයාය. උතුම්ම වූ ධර්ම දායාද ලාභියා ද වේ. සීල ආදිය අනුව පමාවෙහි වැටී නොසිට බුදුරජාණන් වහන්සේගේ අභිමතය පරිදි උසස් ලෙස අනුගමනය කරන්නාවූ පුද්ගලයාද වේ. එම නිසා තත්පරයක්-විනාඩියක් පමණකුදු පමා නොවී භාවනා කරන කාලයෙහි විපස්සනා වැඩීමටම මුල්තැනදී භාවනා කළ යුතු වේ. එකල්හී අනෙකුත් කුසල් සිදු කිරීම අවශ්‍ය නොවන්නේය. නමුදු කාම විතක්ක ආදිය මෙනෙහි වීම ආදිය නිසා භාවනාව අසාර්ථක අවස්ථා වන්හිදි එම විතර්කයන් බැහැර කිරීම සඳහා අනෙකුත් කටයුත්තට සිත යොදා ගත කිරීම කළයුතු වේ. (ම.නි.1/300) විතක්ක සණ්ඨාන සූත්‍රය ආදීය මාර්ගයෙන් එම මනසිකාර ක්‍රමය කෙටියෙන් දක්වන්නේමු.

## විශේෂ මනසිකාර ක්‍රම (විතක්ක සණ්ඨාන සූත්‍රය)

### ප්‍රථම මනසිකාර ක්‍රමයඃ-

ස්ත්‍රී-පුරුෂයනට ලොභය පහළ වී නම් අසුභ භාවනාව වැඩිය යුතු. ද්වෙෂය නැගි නම් මෛත්‍රී වැඩිය යුතුය. සංස්කාර වස්තු මත ලෝභය පහළ වන්නේනම්. **අසසාමික**-ස්වාමීත්වය නැති බව, තාවකාලික- කෙටි කාලයකට පමණක්ම පවතින බවද යන ලෙසට මනසිකාරය පවත්වා අනිච්ච මනසිකාරය පහළ කර ගතයුතු වේ. ද්වේෂය පහළ වී නම් ධාතු මනසිකාරය පැවැත්විය යුතු වේ. මේ කටයුත්තේ සිත යොදන ආකාරය ඉන්ද්‍රිය සංවරය යටතේ දක්වන ලදී.

සිත පිට යෑම, සැක පහළ කිරීම ආදිය හා යෙදෙන මෝහය පහළ වන්නේ නම් ප්‍රශ්ණ සාකච්ඡා, ධර්ම ශ්‍රවණ ආදියෙන් ඒවා බැහැර කළ යුතු වේ. වෙනත් ආකාරයකට වනාහි කුමන කෙලේශයක් වුවද පහළ වී නම් සමථ කර්මස්ථානයකට සිත යොදා එය බැහැර කළ යුතුය. භාවනා මනසිකාරයේ යෙදී ගතකරන අවස්ථාවේ දිගට කය සිත වෙහෙස පහළ වූ කල ප්‍රගුණ කළ සමථ භාවනාවක් ඇත්නම් එයට සිත යෙදිය යුතු වේ. සමථ සමාධියක් නැති තැනැත්තා වනාහි පුරුදු කරන ලද මෙනෙහි කිරීමම පැවැත්විය යුතු. මේ අර්ථය ගිහි සීලය සම්බන්ධ කොටසේදී අට්ඨකථා ද සහිතව දක්වන ලදි. භික්ෂුවකට සීලය සම්බන්ධව කුකුස් පහළ වී නම් ආපත්ති දේශනා කිරීම ආදිය මාර්ගයෙන් ඒවා බැහැර කළයුතු වේ. මේ ප්‍රථම මනසිකාරය ක්‍රමය බහුශ්‍රැත වූ සමථ සමාධිය ඇති පුද්ගලයනට ගැළපේ.

### දෙවන මනසිකාර ක්‍රමයඃ-

පහළ වූ කාම විතක්ක ආදියේ ආදීනව සලකා බැලිය යුතු වේ. මේ විතක්කයන් ක්‍රම ක්‍රමයෙන් වැඩී ගියේ නම් සීලය විනාශ කොට අපාගත වීමට ඉඩ ඇත්තේය. සෞභාග්‍ය සම්පන්න දේව- මනුෂ්‍ය භවය වළකාලන තරම්ය. සංසාර දුකින් අත්මිදිය නොහෙන ලෙසට වසාලයි. තමාගේ අභිමතය අනුව පඤ්චස්කන්ධයේ සැප සොයා යන බැවින් සංසාර පුරාම ගමන් කරවමින් විවිධ දුක් වළඳවයි. මෙලෙසට ආදීනව සලකමින් පහළ වූ විතක්ක දුරු කළ යුතු වේ. බැහැර කළ යුතු වේ. පෙර ආචාර්යයන් වහන්සේලා විසින් මෙලෙස මනසිකාරය පවත්වන ආකාරය දැක්වීමට සංග්‍රහ කරන ලද ගාථාවක් පහත දැක්වේ.

**නාහං දාසො භටො තුයහං - නාහං පොසෙමි දානි තං**
**ත්වමෙව පොසෙනෙතා දුකඛං - පතෙතා වටෙටා අනපපකං**

| | | |
|---|---|---|
| **භො අතතභාව** | = | කාම විතක්ක ආදිය පහළ කළ හැකි පිංවත් ආත්මභාවය, |
| **අහං** | = | මම |
| **තුයහං** | = | තොපගේ |
| **න දාසො** | = | දාසයෙක් නොවේ, වහලෙක් නොවේ. |
| **න භටො** | = | දින පඩි, මාස්පඩි ලබන රාජ භටයෙකු නොවේ. |
| **ඉදානි** | = | බුද්ධානුශාසනය ලද මේ අවස්ථාවේ |
| **අහං** | = | මම |
| **තං** | = | එම්බා ශරීර ස්කන්ධය, තොප |
| **න පොසෙමි** | = | රුචි දේ දෙමින් පෝෂණය නොකරමි |
| **ත්වං එව** | = | එම්බා ශරීරස්කන්ධය තොපම |
| **පොසෙනෙතා** | = | රුචි රුචි දේ සොයමින් පෝෂණය කළ නිසා |
| **වටෙට** | = | සංසාර වට්ට දුකෙහි |
| **අනපපකං දුකඛං** | = | බොහෝ වූ දුකට |
| **පතෙතා** | = | පත්වීම |

තුන්වන මනසිකාර ක්‍රමය:-

එක්තරා අරමුණක් සම්බන්ධයෙන් කාම විතක්කයෝ නැවත නැවත පහළ වන්නේ නම් එම අරමුණ නොසලකා, සිහි නොකර සිටිය යුතුවේ. මනසිකාරය පවත්වන පවත්වන වාරයේ එම විතක්ක නැවත නැවතත් පහළ වී එයින්ම එමඟින් මනසිකාරය නොපවත්වා (අමනසිකාරය පවත්වා) සිටිය යුතු වේ. මෙලෙස නතර කිරීමද බලවත් අවශ්‍යතාවය ඇති විට වීරිය අධික වූ අවස්ථාවලදී සමහරක් පුද්ගලයනට බොහෝ ආනිශංසදායක ක්‍රමයකි. එවැනි අවස්ථාවල පැය 2-3 ක් වේවා, වරුවක් වේවා, දිනක්, රාත්‍රියක් වේවා, මනසිකාරය පැවැත්වීම සම්පූර්ණයෙන් නතර කොට ආශ්‍රය කරන සාමාන්‍ය පුද්ගලයන් සමඟ බාහිර සාමාන්‍ය කථාවෙන් යුක්තව සිටීමෙන් කාරණය අමතක කළහැකි වේ. චෛත්‍යට ගොස් පූජා පැවැත්විය

යුතුවේ. නෑම, රෙදි සේදීම ආදියෙහි ද යෙදිය යුතු වේ. නිදා ගන්නේ ද භාවනා මනසිකාරය නොපවත්වා සැහැල්ලු සිතින් නිදාගත යුතු වේ. දුෂ්කර කාලය ගෙවුනු කළ පසු නැවත මනසිකාරය පැවැත්විය යුතුය. මේ ක්‍රමය බලවත් සංඛාර උපෙක්ඛා ඤාණය දිගුකලක් පවතිද්දී භාවනා ඡන්දයද වීර්යයද අධික වීම නිසා මාර්ග ඤාණයට පත් නොවුන පුද්ගලයන් සඳහා බොහෝ ආනිශංස ගෙන දෙන ක්‍රමයකි. එම නිසා පාළියෙහි **"අසති අනමසිකාරො ආපජ්ජිතබ්බො"** = සිහි නොකිරීමට ද, මනසිකාරය නොපැවැත්වීම ද පත්විය යුතු යැයි දක්වේ. අට්ඨකථාහිද්‍ද මෙලෙස දක්වේ. එම විතක්කයනට මනසිකාරය නොයොදා, සිහි නොකර දුරුකිරීමට නොහැකි නම් පුරුදු කළ, පිරුවහන ලද බණ ද සජ්ඣායනා කළයුතු වේ. බණ පොත් බැලිය යුතු, උරමල්ලෙන් එළියට ගෙන මෙය ගිනිගලය, මෙය ගිනි ගානා දඬුය, මෙය අධරාරණිය ය, මෙය උත්තරාරණිය, මෙය ඉදිකටුවයි. මෙය කර කැත්තය, මෙය නියපොතු කපන පිහියය, යන ලෙසට නැවත නැවතත් සලකා බැලීම කළ යුතු යැයි දක්වේ. සෙනසුනක් හෝ භාවනා ශාලාවක් ගොඩනැගීම් ආදී ගොඩනැගිලි වැඩ සොයා බැලීම් ආදියෙන් එම විතක්ක බැහැර ලීමට පෙර ආචාර්යයන් වහන්සේලා යෙදූ උපායන්, නිදසුන් කථා ද සහිතව එම අටුවා ටීකාවල දක්වා ඇත්තාහ.

සතරවන මනසිකාර ක්‍රමයඃ-

සිත කල්පනා බහුල නම් කල්පනාවට හේතුව සෙවිය යුතුය. සිත බලවත් ලෙස කල්පනාවට වැටීමට කලින් යම් අරමුණක් ගෙන ඒ මත දුර්වල ලෙස මනසිකාරය පහළ විය හැක්කේය. එම දුර්වල අප්‍රකට මනසිකාරය පහළ වනවාත් සමඟම මෙනෙහි කළ හැකි නම්, හඳුනාගන්නේ නම් සිතුවිලි කල්පනා දිගට යෑම බාල වී යා හැක්කේය. මේ කල්පනා කිරීම් ආශ්වාද කරන්නන්ටම දිගට දිගට ඇදී යයි. අරමුණකට අකැමැති බව මත සිතිවිලි පහළ වන පහළ වන අවස්ථා අනුව මෙනෙහි කරන ඇත්තන්ට නම් සිතිවිල්ලේ ආරම්භය වහාම මෙනෙහි කිරීමෙන්ද සිතිවිලි වේගය බාල වී නතර වී යා හැක්කේය. මෙලෙස සිදු නොවී දිගට සිතිවිලි යන වේලාවට අවසාන සිතිවිල්ලට (දැනගත් වහාම) හේතුව සලකා බැලිය යුතුයි. එසේම එයට පෙර සිතිවිල්ලට හේතුවද මනසිකාරය යොදා සොයා බැලිය යුතුවේ. සලකා බැලිය යුතුයි. සාර්ථක ලෙස හේතුව දැනගත්තේ නම් එවැන්නක් මත්තට නොවන සේ සිතට ගෙන නැවත මෙනෙහි කළ යුතුවේ.

පස්වන මනසිකාර ක්‍රමයː-

මේ ක්‍රමය වනාහි වෙනමම ක්‍රමයක් නොවන්නේය. මෙනෙහි කරමින් සිටින අරමුණ මතම දැඩිව - වෙර යොදා මනසිකාරය පවත්වන ක්‍රමයයි. කුමන කෙලෙශයක් මත වුවද මතුවන මතුවන ලෙසට මෙනෙහි කරන්නේ නම් කල්පනා කිරීම්, පමා වීම් නැතිව "මට කෙලෙස් වලින් කම් නැත. ජය ගන්නා තෙක් මෙනෙහි කරන්නෙමි" යි දැඩි ලෙස සිතට ගෙන දැඩි ලෙස වෙර යොදා මෙනෙහි කිරීමෙන් අඛණ්ඩව මනසිකාරය පැවැත්විය යුතු. 1 බාධා කරයි. අඩාල කරයි. එවැනි ධර්මයන් පහළ වූ සැණින් මෙනෙහි කොට දුරු කළයුතු වේ.

# සමාධි අන්තරායයන් හා පිළියම් ක්‍රම

## අන්තරාය ධර්ම 1-2 හා පිළියම් 1-2

1. **අතීතානුධාවනං චිත්තං වික්ඛෙපානුපතිතං, තං විවජ්ජයිත්වා එකට්ඨානෙ සමාදහති. එවම්පි චිත්තං න වික්ඛෙපං ගච්ඡති.** [ප. ම. 316]

2. **අනාගතපටිකංඛනං චිත්තං විකම්පිතං, තං විවජ්ජයිත්වා තත්ථෙව අධිමොචෙති, එවම්පි චිත්තං න වික්ඛෙපං ගච්ඡති**

| | | |
|---|---|---|
| 1. **අතීතානුධාවනං** | = | අතීත අරමුණු අනුගමනය කරන, අනුව දුවන සිත |
| **වික්ඛෙපානු පතිතං** | = | වික්ෂිප්ත භාවයට පත් වේ. |
| **වා** | = | වික්ෂිප්ත භාවය අනුව යයි |
| **(සමාධිස්ස පරිපන්ථො** | = | සමාධියේ සමාහිත ස්වභාවයට අනතුරුදායක වේ. සතුරු පාක්ෂික වේ) මේ වරහන් තුළ දැක්වෙන කොටස උපක්ලෙශ ඥාන දැක්වීමට ලියා ඇති පෙර ඡේදයෙන් (ප. ම. 3/4) උපුටා ගෙන මෙහි යොදන ලද්දකි. |
| **තං** | = | එම අතීත අරමුණ |
| **විවජ්ජයිත්වා** | = | දුරුකොට |
| **එකට්ඨානෙ** | = | වර්තමාන වූ එක් අරමුණක |

| | | |
|---|---|---|
| **සමාදහති** | = | හොඳින් තැන්පත් කරයි. |
| **එවමපි** | = | මෙලෙස යෙදීමෙන් ද |
| **චිතතං** | = | සිත |
| **විකෙඛපං** | = | වික්ෂිප්ත භාවයට |
| **න ගචඡති** | = | නොයයි. |
| 2. **අනාගතපපටිකංඛණං** | = | අනාගත අරමුණු බලාපොරොත්තු වන සිත |
| **විකමපිතං** | = | කම්පනය වෙයි |
| **සමාධිසස පරිපනෙථා** | = | සන්සුන් භාවයට ප්‍රතිපක්ෂ වේ. |
| **තං** | = | එම අනාගත අරමුණ |
| **විවජජයිතවා** | = | දුරුකොට |
| **තථෙව** | = | එම එකම ප්‍රත්‍යුත්පන්නයෙහි ම |
| **අධිමොචෙති** | = | මනසිකාරය පවත්වයි. |
| **එවමපි** | = | මෙලෙස මනසිකාරය පැවැත්වීමෙන් ද |
| **චිතතං** | = | සිත |
| **විකෙඛපං** | = | වික්ෂේප බවට |
| **න ගචඡති** | = | නොයයි |

1. දුටු, ඇසූ, ආඝ්‍රාණය කළ, විඳින ලද, සිතූ, දත්දේ යනාදි සිදුවූ සියල්ල **අතීත අරමුණු** නම් වේ. මේ ගතවූ අරමුණු නැවත කල්පනා කරන සිත් උද්ධච්චයට වැටේ. වෙනත් ලෙසකින් දක්වතොත් විසිරී ගිය සිතයි.

*අතීතය බලන ආකාරය* - විපස්සනා භාවනා කරමින් සිටින විට ගත වූ දින, මාස, වසර ගණනක දුටු ඇසූ-හමුවූ, දත්, මෙනෙහි කළ අරමුණු -වස්තු මත කල්පනා අදහස් පහළ වීම සිදු වෙයි. මෙනෙහි කිරීම හොඳ. නරකයයි සිතට අදහස් එයි. මෙනෙහි නොකර, සිතින් ගිලිහී ගියදේද කල්පනා වෙයි. ගතවූ මෙනෙහි කළ දේ මතද කෙසේ වීද, ප්‍රකට වීද, අප්‍රකට වීද, රූපයක්ද, නාමයක්ද යනාදී ලෙසට කල්පනා විය හැක්කේය. මේ ආදී කල්පනා - අදහස් කිරීම් සියල්ල අතීතය අනුධාවනය කිරීමෙන් පිට ගිය සිත්ය. විපස්සනා සමාධියට සතුරු ධර්මයෝයි. එම නිසා මෙවැනි අනුධාවන සිත් පහළ වන පහළ වන වාරයේ මෙනෙහි කොට වර්තමාන වූ එකම අරමුණ මත සිත

තැන්පත් කළයුතු වේ. "පහළ වන පහළ වන අරමුණ මෙනෙහි කළ යුතු බව" මෙහි කෙටි අදහසයි. විපස්සනා සමාධියේ විස්තර දක්වන තැනක් වන බැවින් මෙයට "ප්‍රත්‍යුත්පන්න අරමුණ" යැයි කියනු ලැබේ. සමථ ක්ෂේත්‍රයේදී වනාහි සමථ අරමුණු මතම සිත තැන්පත් කළයුතු වේ. පසුවටත් විපස්සනා සමාධියම විශේෂයෙන් අදහස් කොට කරුණු දක්වන බැවින් එහිදීද මෙලෙසටම සලකා ගත යුතු වේ. මෙලෙස ඉදිරිපත් වන්නාවූ ප්‍රත්‍යුත්පන්නයටම අවධානය යොමු කොට මනසිකාරය පවත්වමින් සිටින්නේ නම් සිත මෙසේ අනුධාවනය නොකොට නොවිසිරී සාවධානව ශාන්තව තැන්පත්ව සිටිනු ඇත.

2. අනාගතයේ දකින්නා වූ, අසන්නා වූ, හමුවන්නා වූ, කල්පනා වන්නා වූ, පහළ වන්නා වූ සියල්ල "අනාගත අරමුණු" නම් වේ. දැන් නොපවත්නා වූ අනාගතයේ පහළ වන අරමුණ මත බලාපොරොත්තු වන, අපේක්ෂා කරන, කැමති වන සිත කම්පනයට සැලෙන ස්වභාවයට පත් වේ. අනිස්ථිරය.

*අනාගතය අපේක්ෂා කරන ආකාරය-* ඉදිරියට දකින අසන දේවල් ආදිය අනුව ඉදිරියේ දියුණුව - අභිවෘද්ධිය ද අපේක්ෂා කරයි. කල්පනා කරයි. දක්නට කැමැති පුද්ගලයන් දකින හමුවන ආකාරයට කෙසේ කටයුතු කරන්නද! කෙසේ දියුණු වන්නද! දෙව්ලෝකයට යන ආකාරයට ආදිය ඇත්තටම සිදුවන්නා සේ සිතෙහි පහළ විය හැක්කේය. මෙනෙහි කරන මුල් අරමුණද අපේක්ෂා කරමින් සිටිය හැක්කේය. හොඳින් මෙනෙහි කරන ආකාරයද කල්පනා විය හැක්කේය. විශේෂ ඥාණ, විශේෂ ධර්ම පහළ වීමද අපේක්ෂා කළ හැක්කේය. කෙසේ දියුණුවට පත් වන්නේ දැයි කල්පනා විය හැක්කේය. අනුන් මෙන් මමද සැපයට පත් වන්නේ නම් මැනවයි කල්පනා විය හැක්කේය. මේ දක්වූ ලෙසටම නොමැති වුවද, අරමුණම අපේක්ෂා කරමින් කල්පනා කරන සිත කම්පනයට පත්වන විවිධ ස්වරූප ඇත්තේය. නොසන්සුන් ස්වරූපයන්ද වන්නේය. මෙය විපස්සනා සමාධියට බාධකයකි. අනතුරකි. එම නිසා එවැනි සිත් ද මතුවන අවස්ථාවෙහි මෙනෙහි කොට වර්තමානයේම මනසිකාරය පැවැත් විය යුතු වේ. පහළ වන පහළ වන අවස්ථාවේම මෙනෙහි කළ යුතුයි. මෙලෙස මෙනෙහි කරන්නේ නම් එම සිත නොසන්සුන් නොවී, කම්පනයට පත් නොවී සමාධිමත්ව පැවතිය හැක්කේය.

ආදශී පාඨය

අතීතයට සිත නොයවන්නේ - අනාගතය ලුහු නොබඳින්නේ,

රූප - නාම පච්චුප්පන්නේ - අතරක් නොතබා මෙනෙහි කරන්නේ.

3-4 වන අන්තරාය ධර්ම හා පිළියම්

**3. ලීනං චිත්තං කොසජ්ජානුපතිතං, තං පග්ගණ්හිත්වා කොසජ්ජං පජහති, එවම්පි චිත්තං න වික්ඛෙපං ගච්ඡති.**

**4. අති පග්ගහිතං චිත්තං උද්ධච්චානු පතිතං, තං විනිග්ගණ්හිත්වා උද්ධච්චං පජහති. එවම්පි චිත්තං න වික්ඛෙපං ගච්ඡති.** [ප. ම. 316]

| | | |
|---|---|---|
| **3. ලීනං** | = | ලීන වූ, අප්‍රකට වූ |
| **චිත්තං** | = | සිත |
| **කොසජ්ජානුපතිතං** | = | කුසීත කමට වැටේ |
| **තං** | = | මෙසේ සැඟවුණු සිත |
| **පග්ගණ්හිත්වා** | = | උත්සාහවත් කොට |
| **කොසජ්ජං** | = | කුසීත බව |
| **පජහති** | = | දුරු කරයි. |
| **එවම්පි** | = | මෙලෙස (දුරුකිරීම මඟින්) ද |
| **චිත්තං** | = | සිත |
| **වික්ඛෙපං** | = | වික්ෂිප්ත භාවයට |
| **න ගච්ඡති** | = | නොයන්නේය. |
| **4. අති පග්ගහිතං** | = | ඉතාමත් උනන්දු වූ හෝ පමණට වඩා ලත් උත්සාහවත් වූ |
| **චිත්තං** | = | සිත |
| **උද්ධච්චානුපතිතං** | = | උද්ධච්ච බවට පත් වේ |
| **තං** | = | එසේ අධික උත්සුක සිත |
| **විනිග්ගණ්හිත්වා** | = | ඔබා තබා, තද කොට |

| | | |
|---|---|---|
| **උද්ධච්චං** | = | උද්ධච්ච භාවය |
| **පජහති** | = | දුරු කරයි. |
| **එවමපි** | = | මෙලෙස (දුරු කිරීමෙන්) ද |
| **චිත්තං** | = | සිත |
| **වික්ඛෙපං** | = | වික්ෂිප්ත භාවයට |
| **න ගච්ඡති** | = | නොයන්නේය. |

3. මෙනෙහි කිරීම අසාර්ථක වූ අවස්ථාවන්හීදී ද, අපේක්ෂිත විශේෂ ඥාණ පහළ නොවූ අවස්ථාවන්හීදී ද, පැතූ දියුණුව තවම නොලැබුණු කාලයන්හීදී ද ලීන සිත පහළ විය හැක්කේය. එනම් භාවනා නොකිරීම කැමති සිතයි. අප්‍රකට සිතයි. සැඟවී ගත් සිතයි. විපස්සනා සමාධියට මෙය අනතුරකි. සතුරෙකි. එම ලීන සිත මතුවන මතුවන ආකාරයෙන් මෙනෙහි කොට දුරුකළ යුතු වේ. මෙපමණකින් දුරු කළ නොහැකි නම් සිත උනන්දු කරවීම, උත්සුක කිරීම සඳහා විරිය සම්බොජ්ඣංගය භාවනා කරන අවස්ථාවේදී සලකා බැලිය යුතු, අට්ඨකථාහි දක්වන ලද, එකොළොස් කරුණු දතයුතු වේ. ඒවායින් සමහරක් දක්වතොත් ...

## අපාය බිය ප්‍රත්‍යවේක්ෂා කරන්න

නරකයේ සිටින සත්ත්වයන්ගේ ප්‍රමාණය ගව් තුනක් පමණ වේ. (සැතපුම් 9.5ක් පමණ වේ.) නිරි සතකුගේ මෙපමණ විශාල ශරීර යමපල්ලන් විසින් රත්ත තප්ත වූ යකඩ තහඩු මතට උඩුකුරුව විසි කරන්නාහ. අනුතුරුව තල් ගස් තරම් වූ රත්ත තප්ත යකඩ ඇණ වම් අත්ලට ගසන්නාහ. දකුණු අත්ලටද එසේ ඇණ ගසන්නාහ. මෙලෙස යටිකුරු කොට නිදිකරවාද ඇලයට නිදිකරවාද පස් ස්ථානයන්හිලා ඇණ ගසමින් වද දෙන්නාහ. අකුසල කර්ම නොනිමි තාක් නිරි සතුන් නොමැරෙන්නාහ. මෙලෙස දුක් වළඳන නිරිසතුන් රත්ත තප්ත, ශ්වේත තප්ත යකඩ සැර දෙස බලාද දරුණු දුක් විඳින්නාහ. ඉතා ගොරෝසු රළු පරළු යම පල්ලන්ගේ කට හඬද අසා දුක් ලබන්නාහ. රත් වූ යකඩ තහඩු මතට තල්ලුකර පෙරලා දැමීම, ගින්නේ දැමීම, යකඩ කටු ගැසීම දැකීමෙන්ද, කටු ගැසීම් ලැබීමෙන්ද අප්‍රමාණ කායික-මානසික දුක් ලබන්නාහ. මෙවැනි අවස්ථාවකට "මාව බේරාගනු මැනවි, අනුකම්පා කරනු

මැනවි, නිදහස් කරනු මැනැවැ"යි යනාදි ලෙසට කඳුළු වගුරමින්, අඬමින් ඉල්ලා සිටිය ද කිසිම කෙනෙක් බේරා නොගන්නාහ. මවක්, පියෙක්, ඥාතියෙක් නැති, මිතුරන් නැති අසරණ තමා පමණක් මහ දුකින් පෙළෙමින් ඉතා කටුක මේ දුක, අඬමින්, කෑ ගසමින්, තත්පරයක්-විනාඩියක් පමණ අතරකුදු නොලබා විඳිය යුත්තාහ. එවැනි විටෙක විපස්සනා වැඩීමට කිසිම අවකාශයක් නොලබන්නාහ. තව දුරටත් උල් පහක් ගැසූ නමුත් නොමල නිරි සතුන්ගේ ශරීරය වහල පලයක් තරම් විශාල වූ උදලු තලයකින් පෙති ගසන්නේය. එවිට ශරීර වලින් ගංගාවන් සේ රුධිරය ගලා යන්නේය. මෙම ලේ වලින් ගිනි දැල් පැන නැඟී ශරීරය හාත්පස දවන්නේය. ප්‍රමාණයක් නැති දුක් විඳින්නාහ. එම අවස්ථාවන්හීදී විපස්සනා භාවනා කිරීමට අවකාශ නොලබන්නාහ. මෙපමණකිනුදු මිය නොයන්නේය. හිස යටි කුරු -පාද උඩු කුරු කොට එල්ලා බන්දේසියක් තරම් විශාල තලයක් ඇති පොරවකින් මස් පෙති ගසන්නාහ. එපමණකුදු මිය නොයන්නේ නම්, ගිනි ගෙන දැවෙන යකඩ පාරවල් ගිනිගෙන දැවෙන කඳු දිගේ හරකුන්ගෙන් මෙන් බර අද්දවන්නාහ. නොනඟින්නේ නම් ගිනි ගෙන දැවෙන යකඩ කම්බිවලින් තලන්නාහ. කඳු මුදුනට ඇද්දේ නම් නැවත පහළ බස්සවන්නාහ. මෙලෙස-නැඟීම බැසීම කිරීමට අණ කරන්නාහ. මෙපමණකින් නොමිය යන්නේ නම් පැසෙමින් පවතින වතුර ඇති ලෝහ කටාරම් වලට හෙලන්නාහ. සමහරක් නිරි සතුන් පැහෙන තෙලට දැමූ කලෙක මෙන් චර - චර හඬින් පෙන දමමින් ගිලෙන්නාහ.

වසර තිස්දහසකින් මතු පිටට මතු වන්නාහ. පැත්තටද පාවී යන්නාහ. බත් ඉදෙන විට බත් ඇට තැම්බී තැම්බී උඩ-පහත-සරස යන්නාසේය. අප්‍රමාණ දුකකට පත්වනාහ. මෙවැනි විටෙක භාවනා කිරීමට අවකාශයක් කැලම නැත්තේය. කම් ශක්තිය නොනිමි නිසා මෙපමණකුදු නොමැරෙන්නේ නම් ලෝහ කටාරම්වලින් ගෙන හෝ හෝ ගාමින් දැවෙන මහා අපා ගින්නට හෙලන්නාහ. එම මහා නරකය පලල, දිග, උස, යොදුන් සියය බැගින් ඇත්තේය. හතරැස් යකඩ පෙට්ටියක් හා සම වන්නේය. පෙරදිග බිත්තියෙන් විහිදෙන ගිනි දැල් අපර දිග බිත්තිය විනි විද යොදුන් සියයක් තෙක් විහිදෙන්නාහ. අපර දිග, උතුරු, දකුණු බිත්තීන්ද මෙලෙසටම දැවෙන ගිනි දළු වලින් යුක්තය. එම මහා නරකයේ කොණ මෙකොණ කෑගසමින් විලාප දෙමින් දුවමින් දුක් විඳින්නාහ. බොහෝ වසර ගණනකට පසු වරෙක එම

නරකයේ දොරක් විවෘත වන්නාහ. එවිට නිරි සතුන් එයින් පිටතට පැන ගැනීමට දිව එන්නාහ. සමහරෙක් ඒ අතර මැද වෙහෙසට පත් වී ඇද වැටෙන්නාහ. සමහරෙක් විවෘත දොර තෙක්ද සමහරෙක් එළියටද පැමිණෙන්නාහ. වසර ලක්ෂ ගණනක් ගතවීමෙන් එම බිත්තිය වැසී යන්නාහ. බේරි ගන්නා නිරි සතුන් පිටතට යනවාත් සමඟම අසුචි නරකයට ඇද වැටෙන්නාහ. ගූථයෙහි ගිලෙමින් දඟලන නිරි සතුන් ඇත් ගෙලක් පමණ වූ ඔරු කඳක් පමණ වූ පණුවන් විසින් කා දමන්නාහ.

එම නරකයෙන් අත්මිදුණු විට උණු අළු සහිත නරකයට ඇද වැටෙන්නාහ. එහිදිද ගෙයක් තරම් විශාල ගිනි අඟුරු ද දැවෙන අලුද නිසා දුක් විඳිය යුත්තාහ. එම නරකයෙන් මිදුණු විට කටු ඉඹුල් නරකයට පත් වන්නාහ. එම ඉඹුල් කටු අඟල් 16ක් පමණ වූ උල්වලින් යුක්තය. ඒවා ගිනිගෙන දැවෙන්නාහ. එම නිරි සතුන් නගින විට ඒ කටු උල් පහළට නැමී ගන්නාහ. බියෙන් වෙවුලමින් ඉහළ පහළ යන නිරි සතුන්ගේ ඇඟ මෙම උල්වලින් ඇනී සම කැඩී මස් තුවාල වී ඇත්තාහ. එම නරකයෙන් බේරී ගත් පසු අසිපත් නරකයට වැටෙන්නාහ. පැමිණෙනවාත් සමඟම දෙපැත්තේම කැපෙන කඩු මෙන් වූ පත්‍ර වැටී නිරි සතුනගේ ශරීරවල ඇනී ගන්නාහ. අත් පා, කන්, නාස කැපී කැපී වැටෙන්නාහ. එය මත දුවන්නේ නම් පිහිතල පැන නඟින්නාහ. එම නරකය ඉදිරියේ දී යකඩ බිත්තියක් ඇත්තේය. එයින් බේරි ගත්තේ නම් වේතරනී නම් වූ කටු කොහොල් සහිත නරකයට වැටෙන්නාහ. එම නරකය ලෝදිය වලින් පිරි පවතින්නාහ. දැලි පිහිමෙන් වූ වැල් හා නෙලුම් පත්‍රයෝ ඇත්තාහ. පොළොව මතද දැලිපිහි අතුරා ඇත්තා සේ ඇත්තාහ. නරකයය. දැලිපිහි මෙන් තියුණු පත්‍ර ඇති තෘණ වර්ගයක් ඇත්තාහ. නිරි සතුන් එහි බසින්නේ පොළොවේ දැලිපිහි තලවලින් කැපීමෙන් ද ලෝදිය මත දැවීමෙන්ද ඇද වැටෙන්නාහ. ඇද වැටෙන්නේ ලෝදිය මත පාවෙන්නේය. එම දිගට හරහට ඇත්තා වූ තියුණු පත්‍රවලින් ද ශරීරය කැපී යන්නාහ. වැල් පත්‍රවලින්, නෙලුම් පත්‍ර වලින්ද කැපී යන්නාහ. නිරි සතුන් කැපී කැපී යන්නාහ. එම අවස්ථාවේ භාවනා කිරීමට අවස්ථාවක් ඉඩක් නොලබන්නාහ.

මෙලෙස ඉහළ පහළ පාවෙමින් අති දුකට පත් එම නිරි සතුන් බිලි කොකු වලින් බා ගෙන කුමක් අවශ්‍ය දැයි ප්‍රශ්න කරන්නාහ. බත් කෑමට අවශ්‍ය යැයි කිවහොත් ගිනිගෙන දැවෙන අඟුරු කැට මෙන් ඇති යකඩ ගුලි

ඇති භාජන ගෙන එන්නේය. නිරි සතුන් බිය වී කට අතින් වසා ගන්නාහ. එම අවස්ථාවේ යම පල්ලන් පොරෝවලින් මුඛය විවෘත කරන්නාහ. මුඛය විවෘත වූ පසු ගිනිගෙන දැවෙන අඟුරු මෙන් වූ යකඩ ගුලි එය තුළට එක එක දමන්නාහ. එම යකඩ ගුලි තොල්, දිව, උගුර, ගලනාලය, ආමාශය, බඩවැල් දවමින් බැස පහළට යන්නාහ. පිපාසය ඇතැයි ජලය අවශ්‍යයයි කියන්නේ නම් කටට ලෝදිය වක් කරන්නාහ. එම ලෝදියද එම ක්‍රමයටම ඇතුළත දවමින් ගොස් ශරීරයෙන් පහව යන්නාහ. නිරි සතුන් කයද සොලවා ගත නොහැකිව අප්‍රමාණ දුක් විඳින්නාහ. කර්ම ශක්තිය නොනිමි බැවින් නොමැරී සිටින්නේ නම් එම නිරි සතා නැවතත් මහා නරකයට ඇද දමන්නාහ. එම නරකාදී දුක බාල පණ්ඩිත සූත්‍රය. දේවදූත සූත්‍රාදීයේ විස්තර සහිතව ඇත්තේය. එයින් උපුටා ගනිමින් මෙහිලා දක්වන්නේ කෙටියෙන්ය. මෙලෙස නරකාදියට පත් වී දුක්වලින් පෙළෙන පුද්ගලයන් විපස්සනා භාවනාවට අවකාශයක් නොලබන්නාහ. එම නිසා මෙලස අනුශාසනා කරන්නාහ. උත්සාහ කරවන්නේය. "විපස්සනා භාවනාවෙහි යෙදී සිටින සත්පුරුෂයිනි. ඔබ පමා නොවන්න, කුසීත නොවන්න. අසතියෙන් ගත කරන්නේ නම්, කුසීත වන්නේ නම් සංසාර දුකින් අත්නොමිදෙන්නේය. එලෙස නොමිදී සිටින්නේ වරෙක නරකයටද ඇද වැටෙන්නාහ. අති දුකකට ඔබ පත්වන්නේය. පෙරදා මෙලෙස දුක් වින්දාහ. කුඩා හෝ වේවා මහත් හෝ වේවා නරකාදි දුකට පත් වූ විට කඳුළු සලමින් කුමන ආකාරයකට අඬා ඉල්ලුවද ඔබට විපස්සනා භාවනා කිරීමට අවස්ථාවක් නොලබන්නේමය. දැන් වනාහි භාවනාවට අවකාශ ලැබූ අවස්ථාවකි. එම නිසා ඔබ අසතිමත් නොවන්න. කුසීත නොවන්න. විපස්සනා භාවනාවට උනන්දුවෙන් භාවනා කරන්න" මෙවැනි අර්ථයන් ගෙන දෙන කළ පහත දැක්වෙන බුද්ධානුශාසනය ගෞරවයෙන් පිළිපදින්න.

**ඣාය (භිවං) භිකබු මා පමාදො -මා තෙ කාම ගුණෙ රමෙසසු චිතතං**
**මා ලොහගුලං ගිලී පමතත - මා කන්දි දුකඛ මිදනති ඩයහමානො**

[ඛු. නි. 1/116]

(පබඳුම ඔපච්ඡන්දසිකා ලක්ඛණය හා සමානය)

**භිකබු** = මහණෙනි!

**භිවං** = තොප

| | | |
|---|---|---|
| **ඩායය** | = | වෙහෙස නොබලා, පසු නොබැස, දිගට භාවනා කරව් |
| **මා පමාදො** | = | ප්‍රමාදයට නොවැටෙ වූ |
| **තෙ චිත්තං** | = | තොප සිත |
| **කාමගුණෙ** | = | කාම ගුණ අරමුණු පස විෂයෙහි |
| **මා රමස්සු** | = | රමණය නොකර වූ |
| **නිරයං පත්වා** | = | නරකාදීයට වරෙක පත් වී |
| **ලොහ ගුලං** | = | ගිනිගෙන දැවෙන "සූ" හඬ නඟන යකඩ ගුලි |
| **මා ගිලී** | = | අකමැත්තෙන් නොගිලි වූ. |
| **ඩය්හමානො** | = | නරකාදී ගින්නෙන් දැවෙමින් |
| **ඉදං දුක්ඛනති** | = | මේ දුකැයි |
| **මා කන්දි** | = | අඳෝනා නොනඟ වූ |

තිරිසන් භවයට පත් වී උගුල්, දැල් කූඩුවලට හසුවී ගත කරන විටද භාවනා කිරීමට අවකාශ නොලබන්නාහ. අගට යකඩ උලක් සවිකළ කස වලින්, කෝටුවලින්, සාමාන්‍ය කස, කෝටුවලින් පහර ලබන විට රථ කරත්තවල වියදණ්ඩ දරණ අවස්ථාවේදී ද භාවනා කිරීමට අවකාශ නොලබන්නාහ. ප්‍රේත භවයෙහිදී වර්ෂ ලක්ෂ ගණනක් කාලය පුරා-බුද්ධාන්තර කල්ප තුන හතර තරම් කාලයක් පුරා බඩගින්නේ පෙළෙන්නේ භාවනාව කිරීමට අවකාශ නොලබන්නාහ. කාලකඤ්චික අසුර භවයෙහි ඇට සහ සම් පමණක් සහිතව රියන් හැත්තෑව, අසූව තරම් ප්‍රමාණය ඇති ශරීර ඇතිව නොකා, නොබී, උණු වාතය හා සූර්යතාපය මඟින් වෙහෙසට පත්ව භාවනා කිරීමට අවකාශ නොලබන්නාහ. එම තිරිසන්- ප්‍රේත- අසුර භවයෙහිදී භාවනා කළේ වී නමුදු විපස්සනා ඤාණ මාර්ග ඤාණ නොලැබිය හැක්කාහ. පින්වත, ඔබ මනුෂ්‍යයකු වන මේ කාලය විපස්සනා භාවනා කරන කාලයයි.! එම නිසා අසතිමත් නොවී කුසීත නොවී භාවනා කරත්වා.! මෙය අපා බිය සලකා තමා වශයෙන් උත්සුක වන ක්‍රමයයි.

## ආනිශංස සලකා බලන්න.

මේ විපස්සනා කටයුත්තෙන් මාර්ග-ඵල නිවන් ලබන්නේය. අපා දුකින්, සංසාර දුකින් ද අත්මිදෙන්නේය. මෙපමණ ප්‍රණීත ආනිශංස සැහැල්ලු

ලෙස, ලාමක ලෙස භාවනා කිරීමෙන් කෙසේ ලබන්න ද? ලෝකයේ මිල සියයක්, දහසක්, දසදහසක්, ලබන්න නම්, දුකසේ උත්සාහ කළ යුතු නොවන්නේද? සතියක්, පක්ෂයක්. මාසයක් ආදී වශයෙන් සම්පූර්ණ ලෙස උත්සාහ කොට සියලු දුක කෙළවර කරන මෙම කටයුත්ත කුමක් නිසා සඵල ලෙස වැඩිය නොහැක්කේද? දිනක් වෙහෙස ගෙන කටයුතු කිරීම අනුව වසරක් සැප විඳිය හැක්කේ නම් වඩාත් උනන්දුවෙන් ඉදිරි පත්ව කටයුතු කළ හැක්කේය. දින 15 මාසයක් දෙකක් වශයෙන් උත්සාහ කොට සංසාරයක් පුරා එකතු වූ සියලු දුක් කඳින් අත්මුදවන විපස්සනා කටයුත්ත කුමක් නිසා ලෞකික කටයුතුවලට වඩා වෙහෙස ගෙන කළ නොහැක්කේද? පින්වත, මාර්ග-ඵල -නිර්වාන යන ප්‍රණීත ආනිශංස ලබාදෙන විපස්සනා කටයුත්ත දැඩි ලෙස සිතට ගෙන උත්සාහ කරන්න (ඵල ආනිශංසය සලකා බලා සිත ධෛර්යමත් කරගන්නා ආකාරයයි)

## ගමන් වීථිය සලකා බලන්න

මේ විපස්සනා කටයුත්ත වනාහි සමාන්‍ය ඇත්තන් සඳහා මාර්ගයක් නොවේ. සියලු බුදුරජාණන් වහන්සේලා, පසේ බුදුරජාණන් වහන්සේලා හා ආර්ය ශ්‍රාවකයන් වහන්සේලා අත්නැර ගමන් කරන මාර්ගයයි. කුසීත - මෝඝ-පුරුෂයනට වූ මාර්ගයක් නොවේ. මෙම මාර්ගයේ ගමන් කරන්නා බුද්ධ, පච්චේක බුද්ධ, අර්ය ශ්‍රාවක ස්වාමීන් වහන්සේලාට විශේෂ ගුණ ප්‍රතිපදාවන් ආංශික වශයෙන් සම්පූර්ණ කරන්නේය. එම්බා පින්වත, බුදුරජාණන් වහන්සේ ආදී උතුම් පුද්ගලයන්ගේ ගුණ හා ප්‍රතිපදාවන් සලකා ගත් කළ කුමක් නිසා සිත දුර්වල කර ගන්න ද ලාමක කරගන්නද. එම උත්තම පුරුෂයන් ගමන් කළ මාර්ගය ගමන් කෙළවර දක්වා උත්සාහ කරන්න (ආර්ය ගමන් මාර්ගය වශයෙන් සලකා බලන ක්‍රමය)

## සිව්පස දායකයන්ට ප්‍රති - උපකාර කිරීම

මේ ක්‍රමය පැවිදි වුවන් හා බැඳේ. දායක-දායිකාවන් දිවා රාත්‍රියේ, අතරක් නොතබා දැඩි ලෙස වස්තු වෙනුවෙන් උත්සුක වන්නාහ. ජීවිත පරිත්‍යාගයෙන්ද කටයුතු කළ යුත්තාහ. නමුදු ලද ප්‍රත්‍යයෙන් තමා ඉතා රළු කොටසක් පරිභෝග කොට භික්ෂූන් සඳහා ප්‍රණීත ප්‍රමාණය පූජා කරත්. එම භික්ෂූන් වහන්සේලා තමාගේ ඥාතීන්ද නොවෙත්. පෙරළා උපකාර

බලාපොරොත්තුවක්ද නැත. නිල-තල, වශයෙන් ව්‍යාපාර වශයෙන් තමාගේ ලාභය පිණිස බලාපොරොත්තුවෙන් දන් දෙනවාද නොවේ. ඇත්ත හේතුව නම්ඃ භික්ෂූන් ශීල - සමාධි - ප්‍රඥාවන්ගෙන් පූර්ණයය. එම භික්ෂූන්ට දන්දීම ප්‍රමාණ කළ නොහැකිතාක් කල් මනුෂ්‍ය සුඛ, දෙව සුඛ, නිවන් සුඛ ලබා දීමට සමත්ය. නුග ඇටයක් තරම් දෙයක් දන් දෙන්නේ නම් මහ නුග රුකක් තරම් ආනිශංස ලබාගත හැක්කේය. දන් හැන්දක්, ව්‍යඤ්ජන එක දීසියක්, පළතුරු ගෙඩියක් කෑම අතුරුපස වර්ග එකක්, සකුරු කැට එකක්, කුඩා කුටියක්, බේත් වඩියක් තරම් දෙයක් දානය දෙන්නේ නමුත් නොගිනිය හැකි තරම් වූ භවයන්හි දේව-මනුෂ්‍ය සම්පත් ලබාගත හැක්කේය. නිවනටද පත්විය හැක්කේය. මෙපමණ වූ ආනිශංසයන් අපේක්ෂා කොට තමාගේ මුඛයෙන් වුවද ගෙන දානය දීමට කැමැත්තේය. (පිරිසිදු වූ දානයන් අදහස් කොට විස්තර දක්වන ලදි) මෙලෙස පිරිසිදු සිතින් දන් දුන්නේ නමුදු ප්‍රතිග්‍රාහක භික්ෂුව ශීල, සමාධි, ප්‍රඥා අතින් සම්පූර්ණ නම් පමණක් එම දානය අපේක්ෂිත ලෙසට උතුම් ආනිශංස ගෙන දිය හැක්කේය. එම නිසා තමාගේ සීල, සමාධි ප්‍රඥා ඉහළින් පිළිගෙන අනුග්‍රහ වශයෙන් දානය දෙන දායක දායිකාවන්ගේ දාන මහත් ඵල කිරීමට කැමැති භික්ෂුව ශීල, සමාධි, විපස්සනාදී ප්‍රඥාවන් අතින් සම්පූර්ණ වනු පිණිස උත්සාහ වත් විය යුතුයි. කුසීතව සැහැල්ලු ආකාරයෙන් සිටීම නොගැළපේ, කුසීතව අනුත්සුකව සිටින්නේ නම් තමාට අනුග්‍රහ දක්වන, ඉහළින් පිළිගෙන කටයුතු කරන දායක දායිකාවන්ට අනුකම්පා නොමැති බවට පැමිණේ. එම නිසා ආකඞ්ඛෙය්‍ය සූත්‍රයෙහි (ම. නි. 1/76) හි මෙසේ දැක්වේ.

**ආකඞ්ඛෙය්‍ය චෙ භික්ඛවේ භික්ඛු "යෙසාහං චීවර පිණ්ඩපාත සෙනාසන ගිලාන පච්චය භෙසජ්ජ පරික්ඛාරං පරිභුඤ්ජාමි, තෙසං තෙ කාරා මහප්ඵලා අස්සු මහානිසංසා"ති. සීලෙස්වෙවස්ස පරිපූරකාරී, අජ්ඣත්තං චෙතො සමථමනුයුත්තො අනිරාකතජ්ඣානො, විපස්සනාය සමන්නාගතො, බ්‍රෑහෙතා සුඤ්ඤාගාරං**

තේරුම

මහණෙනි! "මම එම දායක ඇත්තන්ගේ සිවුරු, පිණ්ඩපාත, සේන සන ගිලන්පස පරිභෝග කරන්නෙමි. එම දායකයන්ගේ ප්‍රත්‍යය දානය මහත් ඵල මහානිශංස වේවායි", ඉදින් යම් භික්ෂුවක් කැමැති වන්නේ නම් එම භික්ෂුව ශීලය අතින් අංග සම්පූර්ණ විය යුතුවේ. තමාගේ සිත තැන්පත්

බව පිණිස සමථ භාවනා කළ යුතු වේ. ධ්‍යානයෙන් පිරිහීමකට පත් නොවී විසිය යුතුය. විපස්සනාව අතින්ද අංග සම්පූර්ණ විය යුතු වන්නේය. සිත ශාන්ත කරවන විවේක ස්ථානයක වසමින් සමථ විපස්සනාවන් වැඩිය යුත්තේය.

මෙසේ හෙයින් මෙලෙස ප්‍රත්‍යවේක්‍ෂා කොට උත්සුක විය යුතුවේ. පිංවත් මහණෙනි! සලකා බලනු මැනවි. ඔබ වහන්සේලා ඉහළින් පිළිගෙන කටයුතු කරන දායක දායිකාවන් සිවුරු, පිණ්ඩපාත, සේනාසන, ගිලන්පස දානය දෙත්. ඔවුනුත් නැවත යමක් බලාපොරොත්තුවෙන්, දෙනවාද නොවේ. මනුෂ්‍ය - දිව්‍ය සැප හා නිවන් සැප යන මේ තුන ලැබේවා'යි ප්‍රාර්ථනා කොට දානය දෙන්නෙමි'යි දන් දෙත්. එම ප්‍රත්‍ය පරිභෝග කර බඩගිනි දුක නිවාගනී. සිසිල - උණුසුම අනුව සීතල පීඩා නොවිඳියි. ප්‍රත්‍ය ඉපයීම හේතුකොටගෙන ක්ලාන්ත විය යුත්තක් නැත. ව්‍යාපාර කළයුත්තක් නැත. ශෝක විය යුත්තක් නැත. බුද්ධානුශාසනය නිදහසේ භාවනා කිරීමට ද ලැබෙන්නේය. එම නිසා දායක දායිකාවන්ගේ උපකාර බොහෝය. නමුදු ඔබ වහන්සේලා කුසීතව සැහැල්ලුව ශීල, සමාධි, ප්‍රඥා භාවනා නොවඩා විසීම, වඩා ඉහළින් පිළිගෙන අනුග්‍රහය දක්වන එම දායක දායිකාවන්ගේ දානයේ ආනිශංස වටිනාකම සම්පූර්ණ කිරීමට තරම් නොවන්නේය. එම නිසා ප්‍රති උපකාර පිණිස විපස්සනා භාවනාව අඛණ්ඩව, කුසීත නොවී වඩවූ (ප්‍රති උපකාර වශයෙන් උත්සුක කරන ආකාරය.)

ඉහත දැක්වූ ලෙස භාවනා කිරීමෙහි උනන්දු, චතුරංග වීර්‍යයෙන් සමන්නාගතව භාවනා කළ භික්‍ෂූන් අට්ඨකථා බොහෝමයක දක්නා මහා මිත්ත මහාථේර නම මෙන්ද අංගුත්තර අට්ඨ කථාවෙහි දක්වන ලද පිණ්ඩපාතික තිස්ස මහා තෙරුන් වහන්සේ මෙන්ද අර්හත් ඵලය සාක්‍ෂාත් කර ගතහැකි වන්නේය. ඒ සම්බන්ධයෙන් සංයුක්ත පාළියෙහි මෙසේ දේශනා කළ සේක.

**අලමෙව සද්ධාපබබජිතෙන කුලපුතෙතන විරියං ආරභිතුං "කාමං තචොච, නාරුච අට්ඨීච අවසිසසතු, සරීරෙ උපසුසසතු මංස ලොහිතං, යං තං පුරිස ථාමෙන පුරිස විරියෙන පුරිස පරකකමෙන පතතබබං නතං අපාපුණිතවා විරියසස සණඨානං භවිසසතී"ති -පෙ- න භිකඛවෙ හීනෙන අගගසස පතති හොති - අගෙගනච භිකඛවෙ අගගසස පතතිහොති- පෙ- තසමාතිහ භිකඛවෙ විරියං ආරභථ අපපතතසස පතතියා අනධිගතසස අධිගමාය, අසචඡිකතසස සචඡිකිරියාය, "එවං නො අයං පබබජජා**

**අවඤ්ඤදා භවිස්සති සඵලා සඋද්‍රයා, යෙසඤ්ච මයං පරිභුඤ්ජාම චීවර -පිණ්ඩපාත- සෙනාසන ගිලාන පච්චය භෙසජ්ජ පරික්ඛාරං, තෙසං තෙ කාරා අමෙහසු මහප්ඵලා භවිස්සනති මහානිසසංසා 'ති. එවඤ්ච වො භික්ඛවෙ සික්ඛිතබ්බං, අත්තත්ථං වාහි භික්ඛවෙ සමථසසමානෙන අලමෙව අප්පමාදෙන සම්පාදෙතුං., පරත්තං වාහි භික්ඛවෙ සමථසසමානෙන අලමෙව අප්පමාදෙන සම්පාදෙතුං උභයත්තං වාහි භික්ඛවෙ සමථසසමානෙන අලමෙව අප්පමාදෙන සම්පාදෙතුං** (සමපාදෙතුං)

ග්‍රන්ථය විශාල වන නිසා කොටසක් කපා හැරිය බව සලකන්න. සං. නි. 2/46 හා සං. අ. 2/38 බලා අදාළ විස්තර දැනගන්න.

තේරුම

මාර්‍ග-ඵල නිවන් ලබන්නෙමියි අපේක්‍ෂා කොට පැවිදි වූ, ශ්‍රද්ධා පබ්බජිත වූ උතුමකු අංග සතරකින් සමන්විත = චතුරාංග සමන්නාගත වියර්‍ය පහළ කර ගැනීම වටී. පහළ කරන ආකාරය; ශරීරයේ සම ද, නහර ද ඇටද ඉතිරි වන්නේ නම් ඉතිරි වේවා (මේ වනාහි අංග තුනකි) මස්-ලේ ආදිය වියළී යන්නේ නම් වියළී යේවා (මේ වනාහි සතරවන අංගයයි) පුරුෂයකුගේ පුරුෂ (ශක්තිය,) වීයර්‍ය ඇතිව ක්‍රමානුකූලව භාවනා කිරීමෙන් යම් මාර්‍ග-ඵල-නිර්වානයකට ළඟා විය හැක්කේ ද එම මාර්‍ග-ඵල -නිර්වාණය ලැබීමට පෙර උත්සාහය නතර කිරීමක් විවේක ගැනීමක් නොකළ යුතුවේ. අංග හතරකින් යුත් වියර්‍ය වැඩීම පුහුණු කිරීම වටී. -පෙ- මහණෙනි ලාමක පහත් මට්ටමේ ශ්‍රද්ධා, වීර්‍ය, සති, සමාධි, ප්‍රඥාවන් මඟින් උතුම් මාර්‍ග ඵලයන්ට පත්විය නොහැක්කේය. මහණෙනි! උතුම් බලවත් ශ්‍රද්ධා, වීර්‍ය, සති, සමාධි, ප්‍රඥාවන්ගෙන්ම උතුම් වූ මාර්‍ග-ඵලයන්ට ළඟා වීම සිදුවිය හැක්කේය. -පෙ- මහණෙනි! එම නිසා තවමත් නොලද දේ ලබාගැනීමට, අවබෝධ නොකළ දේ අවබෝධ කර ගැනීමට, ප්‍රත්‍යක්‍ෂ නොකළ දේ ප්‍රත්‍යක්‍ෂ ගැනීමට තොප වීරිය කරවූ. මෙලෙස විරිය, වීරියවන්ත වන්නේ නම්. අපගේ භික්‍ෂුභාවය නොසිස් වන්නාහ. ආනිශංසදායි ලාභදායී වනවා පමණක් නොව "එම දායක දායිකාවන්ගේ චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලානප්‍රත්‍ය අප පරිභෝග කෙළෙමු. අප තුළ එම දායක දායිකාවන්ගේ පූජාවන් සඳහාද විශේෂ ආනිශංසදායි ගුණ තිබිය යුත්තේයැ"යි මහණෙනි! තොප මෙලෙස වෙර වැඩිය යුත්තාහ. පිළිපැදිය යුත්තාහ. මහණෙනි! තම අර්ථය අපේක්‍ෂා කරන්නා අප්‍රමාදීව ශීල- සමාධි- ප්‍රඥාවන්-සම්පූර්ණ කළ

යුතුය. අනුන්ගේ සුභ සිද්ධිය සලකන්නා විසින්ද අප්‍රමාදීව ශීල- සමාධි - ප්‍රඥා සම්පූර්ණ කළ යුතුය. මහණෙනි! තම තමන්ට ද- අනුන්ට ද යන දෙපිරිසටම අර්ථය සැලසීම පිණිස අප්‍රමාදීව ශිල, සමාධි ප්‍රඥාවන් සම්පූර්ණ කිරීම වටී.

තවදුරටත් ලෝකුත්තර දායාද වශයෙන් එහි උතුම් බවම සලකා බැලීම, ශාස්තෘන් වහන්සේ වශයෙන් බුදුරජාණන් වහන්සේගේ උතුම් බව සලකා බැලීම, ආදියෙන්ද සිත උත්සාහ වත් කළ යුතුයි. උනන්දු කරවිය යුතුයි. සම්පහංසනය කළ යුතුය. තව දුරටත් පීති සම්බොජ්ඣංගය යටතේ එන බුද්ධ, ධම්ම, සංඝ ගුණයන් සලකා බැලීම, අධික වියර්යෙන් භාවනා කළ සෝණ මහා තෙරුන්වහන්සේ භාවනා ආදර්ශන ආදිය නුවණින් සලකා බැලීම, තමාගේ ශීල පාරිශුද්ධිය ගැන සලකා බැලීම, සිත පුබුදු කරවන සූළු සූත්‍ර දේශනා සලකා බැලීම ආදියෙන් ද සිත නැවුම් මෙන්ම ප්‍රාණවත් කළ හැක්කේය. මේ දක්වූ ක්‍රමයකින් වේවා ක්‍රම කිහිපයකින් හෝ වේවා, උනන්දුව උස්ව පැමිණි කළ සිත විසිර නොගොස් සාවධානව ශාන්තව තැන්පත් වනු ඇත. මනාකොට භාවනා කරගෙන යා හැකි වනු ඇත.

4. සමහර විටෙක සිත වේගය බලවත් වී, ව්‍යාපාද බහුල වී, දැඩි වියර්ය කරන සිත මතුවිය හැක්කේය. "කුමන ක්‍රමයට කුමන ආකාරයට මෙනෙහි කරම්ද ඉතා කුඩා දෙයක්වත් ගිලිහී යා නොදෙන ලෙසම මෙනෙහි කරන්නෙමි" යනාදී ලෙසට අධික ව්‍යාපාද විෂයෙහි හිත හිතා සිත විසිරී යා හැක්කේය. අරමුණ ඇත්තටම" මෙනෙහි කළාද? නැද්ද?" යැයිද, වරින් වර කල්පනා කොට බලන්නට පෙළඹේ. "කුමක් අතපසු වීද, අමතක වීද, මීට පසු කිසිවක් නොගිලිහී යනු පිණිස දිගට මෙනෙහි කරමි" යැයිද වරින් වර හිතන්න පටන් ගනී "භාවනා කිරීමේ ශක්තිය මුදුන්පත් විය. මින් මතුයෙහි කළ යුතු තවත් භාවනාවක් නැත්තේයැ"යි කියාද වරින් වර කල්පනා පහළ විය හැක්කේය. දත් මිටි කමින් අත මිට මොළවමින්, අත්මිටි දඩුකරමින් උත්සාහ කිරීම සිදු විය හැක්කේය. මෙයාකාර නැවත නැවත කල්පනා පහළ කරමින්, හිතමින් සිටින සිත බාහිරයට යන සිතකි. මෙලෙස සිත පිටයැම අනුව මෙනෙහි කරන සිත අරමුණේ මනාකොට නොපිහිටයි. අරමුණේ ළංව සිත පිහිටනවා වෙනුවට සිත පාවෙන ගතියකින් ලාමකව සැහැල්ලු වේ. එම නිසා කල්පනා කරන සිත විපස්සනා සමාධියට අනතුරුදායකය.

සමාධියට උවදුරුකාරක ධර්ම අතර මුලින්ම දැක්වූ **වික්ඛෙප හා උද්ධච්චය** යන මේ දෙක සිත පිටයෑම වශයෙන් සලකන විට, සමානය. මෙයින් අතීත අරමුණු අනුව භාවනා සිත පිටයෑම ඈතට යෑමක් නිසා වික්ඛෙප = වික්ෂේප නම් වේ. ක්ෂණ වශයෙන් කල්පනා කරමින් භාවනා අරමුණ ආසන්නයේ සිත විසිරී යෑම මඟින් අරමුණින් බැහැර වීම උද්ධච්චය = නොසන්සුන් වීම නම් වේ. මෙයාකාරයට මේ දෙකේ වෙනස්කම් වෙන් කොට වටහාගත යුතු. කල්පනාවට වැටී සිටින විට පහළවන සිතිවිලි මෙනෙහි නොකර ගිලිහී යෑමට ඉඩ තිබේ. මෙනෙහි කළත් අරමුණ අප්‍රකට වීමටද සිදු වේ. මේ නිසා මෙනෙහි කිරීම අසාර්ථක විය හැක්කේය.

ඒ අවස්ථාවලදී සිත සැහැල්లු බවට පත් කළ යුත්තේය. "තමාට කැමති පරිදි දේවල් පාලනය කළ හැකි ආත්ම ස්වභාවයන් නැත්තේය. කොයි තරම් භාවනාවේ වීර්‍ය කළත් විපස්සනා ඥාණ වෙලාවට ඉබේටම පහළ වේවි. පහළවන ප්‍රමාණයක් පහළ වේවා! මෙනෙහි කරගත නොහැකිව ගිලිහී යන ප්‍රමාණයක් වේ නම් ගිලිහී යේවා! මෙනෙහි කිරීම සම්පූර්ණයෙන් ම අඩාල නොකොට සාමාන්‍ය ප්‍රමාණයට මෙනෙහි කරන්නෙමි යි" සිත සැහැල්ලු කරගෙන මෙනෙහි කරගෙන යෑම කළ යුතු. එසේ කිරීමෙන් සිතිවිලි කල්පනා නිසා විසිරී යන සිත තැන්පත් වන්නේය. නොසන්සුන් බව දුරු වන්නේය. සිත ගොණු වන්නේය. සැහැල්ලු කිරීමක් සමඟම සිත තැන්පත් වීම, ශාන්ත වීමත් සමහරෙකුට අත්දැකිය හැකි වන්නේය. එමනිසා **"අච්චාරද්ධ චිත්තස්ස විනිග්ගණ්හනෙන, සිථිලීකරණෙන වා චිත්තං අවික්ඛිත්තං සමාධියතීති"** යැයි දේශනා කළ සේක. දැඩිකොට අරඹන ලද විරිය නිගැනීමෙන් හා සිත ලිහිල් කිරීමෙන් අවික්ෂේප වේ. සමාධිගත වේ" යන්න මෙහි තේරුමයි.

සංක්ෂේප අර්ථය

භාවනා වීර්‍යය පහත බසී නම් සිත උනන්දු කරවිය යුතුය. අධික වීර්‍යය ඇති විට සිත ලිහිල් කිරීම, බුරුල් කිරීම කළ යුතුය. වීර්‍යය දුර්වල ද නොවී භාවනා කරගෙන යනවිට සිත තැන්පත් වේ. සමාධි ගත වේ.

5-6 වෙනි අන්තරාය ධර්ම හා පිළියම්

**5. අභිනතං චිත්තං රාගානුපතිතං, තං සම්පජානො හුත්වා රාගං පජහති, එවම්පි චිත්තං න වික්ඛෙපං ගච්ඡති**

**6. අපනතං චිත්තං බ්‍යාපාදානුපතිතං තං සම්පජානො හුත්වා බ්‍යාපාදං පජහති, එවම්පි චිත්තං න වික්ඛෙපං ගච්ඡති.**

අර්ථ යෝජනා

| | | | |
|---|---|---|---|
| 5. | **අභිනතං** | = | ආශ්වාද අරමුණට විශේෂයෙන් නතුවූ |
| | **චිත්තං** | = | මනස / සිත |
| | **රාගානුපතිතං** | = | රාගය අනුව වැටේ |
| | **තං** | = | එසේ නතුවූ සිත |
| | **සම්පජානො හුත්ව** | = | දැනගෙන, වටහාගෙන |
| | **රාගං** | = | රාගය |
| | **පජහති** | = | දුරු කරයි |
| | **එවම්පි** | = | මෙලෙසින්ද |
| | **චිත්තං** | = | මනස |
| | **වික්ඛෙපං** | = | වික්ෂිප්ත බවට |
| | **න ගච්ඡති** | = | නොයන්නේය. |
| 6. | **අපනතං** | = | නිරශ්වාද වස්තුවෙන් ඉවතට නැවුනු |
| | **චිත්තං** | = | මනස |
| | **බ්‍යාපාදානුපතිතං** | = | ව්‍යාපාදයෙන්, ද්වේෂයෙන් ඉවතට නැමේ |
| | **තං** | = | එම ඉවතට නැවුනු මනස |
| | **සම්පජානො හුත්වා** | = | දැනගෙන |
| | **බ්‍යාපාදං** | = | නපුරු ක්‍රොධය |
| | **පජහති** | = | දුරු කරයි |
| | **එවම්පි** | = | මෙලෙසින 'ද |
| | **චිත්තං** | = | මනස |
| | **වික්ඛෙපං** | = | වික්ෂිප්ත බවට |
| | **න ගච්ඡති** | = | නොයයි |

5. මෙනෙහි කිරීම සාර්ථක වී සිත සතුටු වී සොම්නස් වීම අභිනත සිත නම් වේ. උපදින විපස්සනා ඥාන විශේෂයන් මෙන්ම මාර්ග - ඵල ධර්මයන් ද යළි යළිත් අපේක්ෂා කරන සිතද **අභිනත** සිත නම් වේ. මෙම අභිනත සිත ප්‍රීති - ප්‍රාර්ථනා සමඟ එකට යෙදේ. විපස්සනා සමාධියට උවදුරු කරයි බාධා කරයි. එසේ බාධා කරනාකාරය ප්‍රථම නියාානාවරණය

අවස්ථාවේ පැහැදිලි කරන ලදි. එම නිසා එලෙස අභිනත සිත මතුවන විට එය හඳුනාගෙන මෙනෙහි කළ යුතු. එසේ මෙනෙහි කොට මනාව වටහාගන්නේ නම් මෙම අභිනත සිත දුරු කළා නම් වන්නේය. නැවත පහළ නොවන ලෙසටද දුරුවිය හැක්කේය. මෙලෙස දැන හැඳින ගැනීමෙන් රාගාදි කෙලෙස් දුරු කළ හැකි බව හතරවන පරිච්ඡේදයෙහි ගෙනහැර දක්වන සං. නි. හා ම. නි. අට්ඨ කථා වලින් විශේෂයෙන් ප්‍රකට වනු ඇත.

6. දින ගණන් මාස ගණන් දිගින් දිගට භාවනා කළේ වී නමුත් සාර්ථකව මෙනෙහි කළ නොහැකි, මෙනෙහි කිරීමෙහි ශූර නැති යෝගිනට භාවනාව අසාර්ථකවී යැයි සිතේ පසුබෑම පහළ විය හැක්කේය. එම පසුබාන, මනෝත්සාහි හිතද විපස්සනා ඤාණයෙන් දුරු කළයුතු-හිතක් වන්නේය. කල්පනා බහුල වීම නිසා, සිත විසිරී යෑම නිසා භාවනා මධ්‍යස්ථාන හැර දමා පිටව යාමට ඉඩ තිබේ. එවන් සිතක් නරක් වූ සිතක් ව්‍යාපාදය හා බැඳී පවතී. එවන් අවස්ථාවල සිතේ ශාන්ත බවක් තැන්පත් බවක් කැලම නැත්තේය. කෙලෙස මෙනෙහි කළත් සාර්ථක වන්නේ නැත. මේ තත්වය යටතේ භාවනා මධ්‍යස්ථානයෙන්, භාවනා කටයුත්තෙන් බැහැරව යෑම විපස්සනා සමාධියට ඇති ප්‍රධානම අන්තරාව වේ. උවදුර වේ. මේ බව දැන ගෙන මෙනෙහි කිරීමට අකමැති, බැහැර යෑමට කැමති සිත, නරක් වූ සිත නිවැරදිව මෙනෙහි කිරීමෙන්ම දුරු කළ යුත්තේය. වරක් දෙවරක් මෙනෙහි කිරීමෙන් බලාපොරොත්තු ප්‍රතිඵල නොලැබීනැයි බලාපොරොත්තු සුන්කර ගත යුතු නැත. පහළ වනතාක් එම සිත්, නරක සිත් මෙනෙහි කරන අතර මේතාක් මෙනෙහි කළ ප්‍රදේශය නැවතත් මෙනෙහි කරන්න.

අවසානයේ සිත පිට යෑමක් කිසිත් නැතිව ශාන්තව, සිසිල්ව ඉස්පාසුවේ මෙනෙහි කිරීමේදී උනන්දුවෙන් කළ හැකි තත්වයට පත්වනවා ඇත. එම නිසා **"තං සම්පජානො හුත්වා බ්‍යාපාදං පජහති එවම්පි චිත්තං න වික්ඛෙපං ගච්ඡති"** යි දේශනාවේ සඳහන් වේ.

## සාරාර්ථය

ආශාවෙන් බැඳීගෙන නොසිටින්න. සිත නරක් කරගෙන බැහැර නොයන්න. ආශා කරන - අපේක්ෂා කරන සිතද මෙනෙහි කරන්න. සිත නරක් වීමද පහළ වන පහළ වන වාරයේ මෙනෙහි කරන්න.

# විපස්සනා සිතේ ඒකත්වය

**ඉමෙහි ඡහි ඨානෙහි පරිසුද්ධං චිත්තං පරියොදාතං එකත්තගතං හොති**

**කතමෙ තෙ එකත්තා දානවොසසගගුපට්ඨානෙ එකත්තං සමථ නිමිත්තුපට්ඨානෙකත්තං වය ලක්ඛනුපට්ඨානෙකත්තං නිරොධුපට්ඨානෙකත්තං**

**දානවොසසගගු පට්ඨානෙකත්තං චාගාධිමුත්තානං, සමථ නිමිත්තුපට්ඨානෙකත්තඤ්ච අධිචිත්තමනුයුත්තානං වයලක්ඛනුපට්ඨානෙකත්තඤ්ච විපස්සකානං, නිරොධුපට්ඨානෙකත්තඤ්ච අරියපුග්ගලානං** [ප. ම. 316]

| | | |
|---|---|---|
| **ඉමෙහිඡහි ඨානෙහි** | = | මෙලෙසට ආකාර හයකින් පිරිසිදු වූ තැන |
| **පරිසුද්ධං** | = | හාත්පසින් පිරිසිදු වූ |
| **පරියොදාතං** | = | ධවල වර්ණයෙන් ප්‍රභාෂ්වර වූ |
| **චිත්තං** | = | සිත |
| **එකත්ත ගතං** | = | කෙලෙස් දුරුවීමෙන් එකලා බවට පත්වූ සිතේ පිහිටීම |
| **හොති** | = | වේ |
| **තෙ එකත්තා** | = | එම හුදෙකලා වූ සිතේ පිහිටීම |
| **කතමෙ** | = | කුමක්ද යත් |
| **දාන වොසසගගුපට්ඨානෙකත්තං** | = | දානවස්තු පරිත්‍යාගයාගේ එළඹ සිටීමෙන් වූ ඒකත්වයය |
| **සමථ නිමිත්තුපට්ඨානෙකත්තං** | = | සමථ නිමිත්ත එළඹ සිටීමෙන් වූ ඒකත්වයය |
| **වය ලක්ඛනුපට්ඨානෙ කත්තං** | = | භංග ලක්‍ෂණය එළඹ සිටීමෙන් වූ ඒකත්වය |
| **නිරොධානුපට්ඨානෙ කත්තං** | = | නිරෝධය එළඹ සිටීමෙන් වූ එකත්වයය |
| **ඉති** | = | මේ සතර |
| **දාන වොසසගගානුපට්ඨානෙකත්තං** | = | දානවස්තු පරිත්‍යාගයාගේ එළඹ සිටීමෙන් වූ එකත්වය |
| **චාගාධිමුත්තානං** | = | දානයෙහි අධිමුත්තිය (=අදහස) ඇතියනට |
| **එකත්තං** | = | එකත්වයයි |

| | | |
|---|---|---|
| **සමථනිමිත්තුපට්ඨානෙකත්තතඤ්ච** | = | ශමථ භාවනාව අනුව යෙදුණවුනට වන එකත්වය |
| **අධිචිත්ත මනුයුත්තානං** | = | ශමථ නිමිත්ත එළඹ සිටීමෙන් |
| **එකත්තං** | = | එකත්ව සිත වේ |
| **නිරොධුපට්ඨානෙකත්තතඤ්ච** | = | සංස්කාරයන්ගේ නිරෝධය එළඹ සිටීමෙන් වූ එකත්වය |
| **අරිය පුග්ගලානං** | = | ආර්ය පුද්ගලයන්ට |
| **එකත්තං** | = | එකත්ව සිතය |

එකත්ව බව = එකඟ බව දක්වන ආකාර හතර තුළින් චාගානුස්සතිය වඩන්නේ සමාධිය බලවත්වූ විට දාන- විස්සජ්ජන ආකාරයන්ම ප්‍රකට වේ. එළඹ සිටී වෙනත් බාහිර අරමුණු ප්‍රකට නොවේ. එවිට භාවනා සිත කෙලෙස් සමඟ මිශ්‍ර නොවී එකලාව පිහිටන බැවින් දාන වොසසග්ගා-නුපට්ඨා නෙකත්ත ස්වභාවයේ පිහිටන්නේ යැයි කියනු ලැබේ. දානය දීම - පරිත්‍යාග ආකාරයන්ම එළඹ සිටිමෙන් භාවනා සිත එකඟ වී පවතින බැවින් සමාධියේ තහවුරු බව මෙයින් කියැවේ. අනෙකුත් සමථ භාවනා වඩන්නට සමාධිය මුහුකුරා ගියවිට තමා මෙනෙහිකරන සමථ අරමුණ නිමිත්තම ප්‍රකට වේ. එළඹ සිටී බාහිර අරමුණු ප්‍රකට නොවේ. එවිට භාවනා සිත කෙලෙස් වලින් හුදෙකලාවී පවතින බැවින් සමථ නිමිත්තුපපට්ඨානෙකත්ත නම් වේ. මනසිකාරය පවත්වන සමථ නිමිත්ත අරමුණ පමණක්ම ප්‍රකට වී භාවනා සිත එකඟ වී පිහිටන බව, උපචාර සමාධියේ-අප්පණා සමාධියේ, පිහිටීම යැයි කියනු ලැබේ. පටිසම්භිදා මාර්ගයට අනුව තමා මනසිකාරය පැවැත්විය යුතු සමථ අරමුණු නිමිත්ත පමණක්ම ප්‍රකට වී භාවනා සිත හුදෙක් එකත්ව ලෙස පවත්නා අවස්ථාවේ පටන් සමථ යාතිකයාගේ චිත්ත විශුද්ධිය සම්පූර්ණ වේ. සිත පිරිසිදු වී යැයි සැලකිය යුතු. සමහරෙක් "බුද්ධානුස්සතිය වඩන්නාට බුදුරජාණන් වහන්සේ අරමුණු වී නම් එය උසස්ම භාවනාව යැයිද " ප්‍රකාශ කරත්. මේ කථාව පටිසම්භිදා මාර්ග දක්වීම සමඟ ගළපා නුවණින් සලකා බලන්න.

දක්වන ලද ප්‍රතිකර්ම ක්‍රම හය මඟින් සමාධියට අන්තරායයන් දුරු කළ පුද්ගලයාගේ සිත අතීතයට නොදුවයි. අනාගතයද අපේක්ෂා නොකරයි.

ලීන - කුසීතකමද නැත, සිත උද්ධච්චයෙන් විසිරි යෑමක්ද නැත, සිත අභිනත භාවයද අපපන භාවයද නැතිව අඛණ්ඩවම මෙනෙහි කරමින් පවතී. එවන් විපස්සනා සිතක් නීවරණයන්ගෙන් සාකල්‍යයෙන්ම පිරිසිදු ධවල බවට පත් වූ (යේ) යැයි කියනු ලැබේ. මෙසේ සිත හුදකලා වීම එකත්ත බැව්හි පිහිටීම නම් වේ. සමාධිය ශක්තිමත් නම් මෙනෙහි කිරීම් අතර වාරයේ කෙලෙස් රිංගා නොගනී. මෙනෙහි කරන භාවනා සිත කෙලෙස් සමඟ මිශ්‍ර නොවේ. භාවනා චිත්තුප්පාදයෙහි හුදකලා බව. එකඟ බව නම් වන ධර්මය යැයි කියනු ලැබේ. මෙම සමාධිය හා යෙදෙන භාවනා සිත එකත්ත ගත නම් වේ. කෙලෙස් සමඟ මිශ්‍ර නොවූ, කෙලෙස් නොසොයන්නා වූ එකම වූ බැවින් සමාධියෙහි තැන්පත් වීම නම් වේ.

විපස්සනා යෝගීන්ට නාම - රූප පරිච්ඡේද ඥාණයේ පටන්, සමාධිය බලවත් අවස්ථාවන්හී මෙනෙහි කළ යුතු රූප -නාම ධර්ම ආදිය පමණක් ප්‍රකට වේ. අනෙකුත් අරමුණු ප්‍රකට නොවේ. එවැනි අවස්ථාවල වෙන වෙන අරමුණු කල්පනා කරන, තීරණය කරන නීවරණයන් හා මිශ්‍ර නොවී මෙනෙහි කරන සිත පමණක්ම අඛණ්ඩව පවතී. එම අවස්ථාවේ පටන් මෙනෙහි කරන සිත එකත්ත භාවයේ පිහිටයි. නීවරණයන්ගෙන් දුරුවී යැයි සලකා ගත යුතු වේ. විශේෂයෙන් භංග ඥාණයේ පටන් අනුලෝම ඥාණය තෙක් මෙනෙහි කරන වාරයක් වාරයක් පාසා රූප නාමයන්ගේ භංගය = බිඳී -බිඳී යෑමම ප්‍රකටය. එම අවස්ථාවේ මෙනෙහි කරන විපස්සනා සිත කෙලෙස් සමඟ මිශ්‍ර නොවන නිසා"වයලකඛණානු පටඨානෙකතත" නම් වේ. රූප නාමයන්ගේ භංග ලක්ෂණය පමණක් ප්‍රකට වී විපස්සනා සිත එකඟව පිහිටන බැවින් ඛණික සමාධියේ පිහිටියේ යැයි, මේ පාළිය පිහිට කොට ගෙන "විපස්සනායානිකයාට භංග ඥාණයේ පටන් ප්‍රණීත වූ ඛණික සමාධිය ඇතැයි" යට දක්වන ලදි. වය ලක්ෂණය පමණක් ප්‍රකට වී මෙනෙහි කරන සිත එකත්ත සමාධියේ පිහිටියේ වෙයි. මෙලෙස පිහිටනාකාරය භංග ඥාණාදියට වරක් පත්වූ යෝගීහට ප්‍රකටය. විපස්සනා ඥාණ කෙළවර යෝගී තෙම මාර්ග ඵලයන්ට පත් වේ. එසේ මාර්ග ඵලයන්ට පත් වූ ආර්යයන් වහන්සේලාට මෙනෙහි කළ යුතු රූප- නාම සංඛාරයන් සියල්ල නිරෝධ වීම නම් වූ නිබබානාරමමණය ප්‍රකට වේ. අනෙකුත් බාහිර අරමුණු ප්‍රකට නැත. එම නිසා මාර්ග -ඵල සිත් "නිරොධුපටඨානෙකතත" යෙහි පිහිටන්නේ

යැයි කියනු ලැබේ. රූප- නාම සංස්කාරයන් සියල්ල නිරෝධ වන නිවනම ප්‍රකට වී මාර්ග සිත, ඵල සිත යන එකක් පහළ වීමට අවශ්‍ය කරන සමාධියෙහි පිහිටීම යැයි කියනු ලැබේ. මේ එකත්තයට පත් වූ පුද්ගලයනට එය ප්‍රකටය. මෙපමණක් විස්තර විපස්සනායානික පුද්ගලයනට චිත්ත විශුද්ධිය සඳහා භාවනාව වැඩීමට හා එම විශුද්ධිය පහළ වන ආකාරයට හොඳින් වටහා ගැනීමට ප්‍රමාණවත්ය.

## දෙවන පරිච්ඡේදය නිමියේ යැ.



